

# මලියදේව

## ජයන්ති සංග්‍රහය

1888 – 1963

# ඔබට උවමනා කරන

- රෙදි පිළි
- පූජා භාණ්ඩ
- සාරි, ගැට්ටරෙදි
- සරොම්, චීත්ත
- භූමිතෙල් උදුන්
- ඔර්ලෝසු

සහ

තවත් නොයෙකුත් භාණ්ඩ

**ඉතා පහසු මිලට ලබාගැනීමට පැමිණෙන්න.**

## ජෙනරල් ස්ටෝර්ස්

ටැලිෆෝන්: 353. 23, මහ වීදිය, කුරුණෑගල.

---

*Visit:-*

# THE GENERAL STORES,

23, MAIN STREET — **KURUNEGALA.**

PHONE: **353.**

## FOR ALL YOUR REQUIREMENTS IN:-

- QUALITY TEXTILES
- SUITINGS, SHIRTS
- SAREES, CHILDRENS WEAR
- KEROSENE COOKERS

**OUR PRICES THE LOWEST IN THE MARKET**

and

**MANY OTHER UTILITY ARTICLES.**

# පිරිනැමීම.

මලියදේවය ඇතුළු තවත් පාසැල් රැසක් ජනිත කිරීමේ අභිලාසයෙන් මෙහි පැමිණි ඕල්කොට් පියා ඇතුළු, බෞද්ධ අධ්‍යාපනයේ සවර්ණමය මන්දිරයට මුල්ගල තැබූ හැමටත්, මලියදේවය කුඩාකල පටන්ම ඇති දැඩි කළ – පරම විඥානාර්ථ බෞද්ධ සමිතිය සහ කුරුණෑගල තරුණ බෞද්ධ සමිතියටත්, මලියදේවයේ පැවැත්මට ශ්‍රමය හා ධනය කැපකළ හැමදෙන ඇතුළු සකල බෞද්ධ ජනතාවටත් මෙම මංගල ජයන්ති සංග්‍රහය පිරිනැමේ.

**සඟරා කමිටුව:-**

ඩී. බී. දිසානායක (සභාපති)
පූජ්‍ය දික්වෙල පියනන්ද හිමි
සී. පී. ඒකනායක
පිකිරි ජයසේකර
ඇස්. ඒ. ජෝශප්
පී. බී. බස්නායක
ජී. බණ්ඩාර
ජයන්ත බණ්ඩාර සහ
සංස්කාරක වරු

# මලියදේව

## ජයන්ති සංග්‍රහය.



### 75 වෙනි සාංවත්සරය.




**2432 — 2507**

**1888 — 1963**



සංස්කාරක වරු:-

කේ. පී. නිහාල් නන්ද

ආර්. බී. කරුණාසේන



**නමච් මුනිඳු තුමා – තුමා සිරින් පබසර**
**සර සිසිකල් දසනා – සනා රෙසෙන’දගු දිමයේ**

---

(මලියදෙව විද්‍යාලයීය විහාර මන්දිරයෙහි දිනපතා වන්දන මානන පූජෝපහාර ලබන, ගන්ධාර කලාව අනුව නිමැවුණ, මේ දර්ශනීය සම්බුද්ධ ප්‍රතිමා වහන්සේ ශාස්ත්‍රපති පණ්ඩිත දික්වෙල පියනන්ද හිමියන්ගේ පරිත්‍යාගයකි.)

# පටුන.

විද්‍යාලංකාර විශ්වවිද්‍යාලයේ උපකුලපති
ආගම චක්‍රවර්ති (විද්‍යෝදය විශ්ව විද්‍යාලය)
සාහිත්‍යසූරි (ලංකා විශ්වවිද්‍යාලය)
ත්‍රිපිටක වාගීශ්වරාචාර්ය, උපාධ්‍යාය, පණ්ඩිත
**කිරිවත්තුඩුවේ ධර්මකීර්ති ශ්‍රී ප්‍රඥාසාර**
කොළඹ හලාවත දෙදිසාවේ –
ප්‍රධාන සංඝනායක ස්ථවිර

**විද්‍යාලංකාර විශ්ව විද්‍යාලය,**
**කැලණිය.**
1963. ජූනි 25.

ශ්‍රී ලංකාවිතුමා ලංකාවේ පැමිණීමත් සමගම ඇතිවූ බෞද්ධ පුනර්ජීවයේ ප්‍රතිඵලයක් වශයෙන් අභාවයට යමින් පැවති බෞද්ධ අධ්‍යාපනයට නැවතත් හිස එසවීමේ අවස්ථාව සැලසුණි. දිවයිනේ ප්‍රධාන නගර කීපයකම පිහිටුවන ලද උසස් අධ්‍යාපන ආයතන වලින් මේ සඳහා ලැබුණු පිටුවහල අතිවිශාලය.

මෙයට හැත්තෑපස් වසරකට ප්‍රථම පිහිටුවන ලද මලියදේව මහා විද්‍යාලය ඒ නැඟී ආ බෞද්ධ ප්‍රබෝධයේ එක් ප්‍රතිඵලයකි. කුරුණෑගල පළාත්වාසීන්ට පමණක් නොව මුළු මහත් වයඹ දිශාවේ බෞද්ධ දරුවනට හොඳ බෞද්ධ පරිසරයක නිවහල් අධ්‍යාපනයක් ලැබීමේ වරප්‍රසාදය ලැබුණේ මෙම විද්‍යාලය ආරම්භ කිරීමෙන් පසුවය. මෙම විද්‍යාලයෙන් හැදී වැඩී රජයේ මෙන්ම වෙනත් සංස්ථාවන්හි ද සේවය කරන නිලධාරීන්ගෙන් හා උගතුන්ගෙන් ද ඒ බව ප්‍රකට වෙයි.

බෞද්ධ අධ්‍යාපනයට හා සිරිත් විරිත් වලටත් ගුණධර්ම දියුණුවටත් එදත් අදත් මේ විද්‍යාලය මගින් සිදුකෙරෙන සේවාව අගය කළ යුතුය. මේ රටේ උසස් විද්‍යාලයන් අතර කීර්තිමත් නාමයක් ලබා සිටින මලියදේව විද්‍යාලයට මේ සේවය සැලසීමට මඟපෙන්වූයේ මෙහි සේවය කළ අතීත විද්‍යාලයාධිපතිවරුන්ගෙන් හා වර්තමාන විද්‍යාලයාධිපති තුමන්ගෙන් ද ලැබුණු අනුබලය හා සහයෝගය නිසා බවට සැකයක් නැත.

විද්‍යාලයක ගෞරවය හා කීර්තිය ඇතිවන්නේ විනය, පාලනය හා අධ්‍යාපනයෙනි. මලියදේව විද්‍යාලය මේ හැම අංගයකින්ම සම්පූර්ණය. ඒ නිසාම එහි දියුණුවත් අභිවෘද්ධියත් සැලසිණි. අනාගතය මෙයටත් වඩා දීප්තිමත් වනු නොඅනුමානය.

ජාතික අධ්‍යාපනයක් ගොඩනැඟීම සඳහා රජය මගින් ක්‍රියාරම්භ කොට ඇති මෙසමයේ මලියදේව මහා විද්‍යාලය වැනි උසස් විද්‍යාලයවලට පැවරෙන වගකීමත් කාර්යයත් අතිවිශාලය. මේ නිසා මෙම විද්‍යාලයේ දියුණුවත් චිරජීවනයත් මම ඉතා සිතින් ප්‍රාර්ථනා කරමි.

මෙයට,

**කිරිවත්තුඩුවේ ශ්‍රී ප්‍රඥාසාර**
විද්‍යාලංකාර විශ්ව විද්‍යාලයේ උප කුලපති
නායකස්ථවිර.

අග්‍රාණ්ඩුකාර කාර්යාලය,

# පණිවුඩය

1963 සැප්තැම්බර්, 3.

කුරුණෑගල මලියදේව මහා විද්‍යාලයට 75 වර්ෂයක් සම්පූර්ණ වීමේ සිහිවටනයක් වශයෙන් සමරු කලඹක් පළ කරන්නට පිළිවෙල කර තිබෙන බැව් දැනගන්නට ලැබීම ප්‍රීතියකි. මනුෂ්‍ය ජීවිතයක් සම්බන්ධයෙන් වයස අවුරුදු 75 ක් ගතවීම දීර්ඝ කාල පරිච්ඡේදයක් ලෙස සැලකිය හැකිය. විද්‍යා පීඨයක් පිළිබඳව ද සඳහන් කළ යුත්තේත් එයමයි. එහෙයින් යථෝක්ත විද්‍යාලය යේ අතීතය අනුස්මරණය කොට එහි අවිච්ඡින්නව පැවතෙන ඉතිහාසයෙන් ආභාසය ලබා ගැනීම විද්‍යාලය යේ දියුණුව්‍යාපෙක්ෂිත සියල්ලන්ගේම යුතුකමක් වන්නේය.

මලියදේව විද්‍යාලය ආරම්භ කරන ලද්දේ බොහෝ කාලයක සිට නගරයට අත්‍යවශ්‍යව පැවති බෞද්ධ විද්‍යාලයක අවශ්‍යතාවය සම්පූර්ණ කිරීමේ බලාපොරොත්තුවෙන් බව දැන ගන්නට ලැබිණ. ආරම්භකයන්ගේ මන දෙළ පුරමින් සීඝ්‍රයෙන් දියුණුවූ මෙම විද්‍යාලය පළාතේ ප්‍රධාන විද්‍යාස්ථානයන්ගෙන් එකක් බවට අද පත්වී තිබේ.

ලංකාවේ ක්‍රියාත්මක කරන්නට බලාපොරොත්තු වන අලුත් අධ්‍යාපන ක්‍රම අනුව තරුණ ජීවිත හැඩගැස්වීමේ කාර්යය සඳහා මෙයට වැඩියුරු වගකීමෙකින් යුක්තව සේවය කිරීමට මලියදේව විද්‍යාලයට සිදු වන්නේය. එවැනි අවස්ථාවක දී අපේ රටේ ඇති අනෙක් අධ්‍යාපන ආයතනයන් සමඟ ප්‍රමුඛස්ථානයක් මෙම විද්‍යාලය ලබා ගනිතැයි මගේ විශ්වාසයයි.

ඩබ්ලිව්. ගොපල්ලව,
අග්‍රාණ්ඩුකාර

"රාජිනී ගෘහය"
**කොළඹ.**
**ශ්‍රී ලංකාව.**



SIR NICHOLAS ATTYGALLE
F.R.C.S (ENG), F.R.C O.G. (GT. BRIT) HON D SC. (CEYLON).
VICE - CHANCELLOR.

UNIVERSITY OF CEYLON.
PERADENIYA,
18th June, 1963.

I am very happy that Maliyadeva College is celebrating its Seventyfifth Anniversary.

Maliyadeva College has rendered very valuable service to the people of the Kurunegala District and to the country. We have in our University several students from your College, and I hope your College will continue to send students to the Arts and Science Faculties, and maintain the high teaching standards for a long time.

I wish your College all success.

Sir Nicholas Attygalle,
Vice-Chancellor.

I am indeed glad to accede to the request for a message for The 75th Anniversary Souvenir.

Being in the unique position of having been for many years the Principal of the College and later its Manager, I cannot but recall the many efforts and sacrifices on the part of so many individuals far too numerous to mention by name - in the building up of this institution. All credit to those who have laboured to make Maliyadeva what She is today!

Like most big undertakings Maliyadeva had small beginnings. Many are the trials and tribulations and the vicissitudes she has gone through. That she survived them all is no small tribute to the successive generations of teachers, pupils, past pupils, parents and other well - wishers who worked in her cause.

I must add a special word of appreciation. The present Principal and Staff, I am glad to find, are doing all they can for the College. They have already achieved much. Their efforts deserve even greater encouragement and support. The needs of an educational institution can never be fully supplied for they increase with the growth of the institution. If only each generation will do its bit there need be little fear for the future.

Maliyadeva has had many generous benefactors and devoted workers. May she have even more in the years to come so that she may grow in strength and usefulness and turn out citizens who will bring greater and greater credit to them -selves and the Country!

**U. B. WANNINAYAKE,**
M. P. FOR YAPAHUWA.

31 - 5 - 63.

# A MESSAGE :-

Seventy five years ago our country was under the binding shackles of an Imperialist Power which patronised a religion and culture alien to our people. To be a Buddhist at this time was a disqualification in many matters and acts of discrimination against Buddhists were the order of the day. It, therefore, required rare courage on the part of those who founded Maliyadeva College, Kurunegala, to conceive the idea of providing an institution at Kurunegala in order to provide facilities for Buddhist Education. On the occasion of the 75th anniversary of this school we must pay our humble respects and our gratitude to those bold pioneers of Buddhist Education.

But times have changed and I am glad that those who are responsible for the management of this school have also moved with the times. To-day following the educational policy of the state Maliyadeva College has opted to be a State School providing educational facilities, as one of the leading schools in the Island, to all races and all denominations.

I have witnessed rapid and vast changes in this school during the last two decades and tribute for this must go to Mr. U. B. Wanninayake and Major, Perusinghe two outstanding Principals of this school who have raised this institution to its present high stature.

To the Students of Maliyadeva College I have this short message while wishing the school many more glorious years.

Education is without purpose if on those occasions we are called upon to exercise our judgements on our fellow men in this world we are intolerant of the rights and point of view of others and refuse to see any other point of view except that of our own. It is as a revolt against this spirit of intolerance and discrimation that Maliyadeva was founded by its great pioneers during the harsh days of British rule. The best way we can honour the ideals that moved the founders of this school and those who helped this school to come up to its present stature is to realise when we go out into the world we must be conscious not only of our rights but equally conscious of our duties of maintaining and defending the rights of others.

**Jaya Pathirana,** M. P.

**Kurunegala.**
14 - 6 - 63.

ධර්මරාජ විද්‍යාලය,
මහනුවර.
27. 5. 63.

මලියදේව විද්‍යාලයේ 75 වන වාර්ෂික සංග්‍රහය සඳහා මෙය ලියා එවීමට අවසථාව ලබා දීම ගැන සංස්කාරකයනට කෘතඥ වෙමි.

සිඟිති දරුවකු සෙයින් මෙලොව එළිය දුටු මලියදේවය අද දිවයිනේ ප්‍රධාන විද්‍යාලය යන් අතර වැජඹෙනු දක්නට ලැබීම ප්‍රීතියෙකි.

අවංකව, පරාර්ථකාමීව ප්‍රදේශීය බෞද්ධ ජනතාව කළ පරිත්‍යාගයන් සදහටම සිහිපත් කරවන සිහිවටනයක් බවට මලියදේවය පත්වී ඇත. මෙහිදී ශ්‍රීමත් ජෝන් කොතලාවල හිටපු අගමැතිතුමා ගැන විශේෂයෙන් සඳහන් කළ යුතුය. එසේම, ඇබේගුණරත්න, එච්. කේ. ටී. ද, සිල්වා. යූ. බී. වන්නිනායක, සහ ඇසිවර් පලිපාන වැනි හිතවතුන් හා ගුරුවරුන්ද ඇතුළු බොහෝ දෙනෙකු මේ විදුහලේ වර්ධනය සඳහා වටිනා සේවයක් කළ බැවින් ඒ හැමද සිහිපත් කළ යුතුමය.

75 වසක් තුළ මලියදේවය ජාතියට කළ සේවය නිසා ප්‍රදේශය පමණක් නොව සකල ලාංකික බෞඩ ජනතාවටම ප්‍රීති විය හැකිය.

මෙහිදී මේ විදුහලේ අධිපතිවරයෙකු වූත් පසුව කළමනාකාර තැන වූත් යූ. බී. වන්නිනායක මහතාගෙන් විදුහලට වූ සේවය ගැන මට සඳහන් නොකරම බැරිය. මලියදේවයට පදනම දමනු ලැබුවේ ඔහු විසිනි. අද මලියදේව ශිෂ්‍යයන් විසින්ද සාදරයෙන් ඔහුගේ ශ්‍රී නාමය සිහිපත් කරනුයේ ඔහු කළ වටිනා සේවය නිසාය.

මටද හැකි අත්දමින් මේ ජාතික ආයතනයේ කලක් අධිපති වශයෙන් සේවය කරන්නට ලැබිණ. මම අද ප්‍රීති ප්‍රමෝදිතවී සිටිමි. එසේ වන්නේ මටත් මලියදේවයේ ඉදිරි ගමනට අත දීමට හැකිවීම ගැනය.

ජාතික හා ආගමික සේවයක් කරමින් දියුණුවෙන් දියුණුවටම යාමට මලියදේවයට හැකි වේවායි ඉතා සිතින් පතමි.

ඊ. ඒ. පේරුසිංහ,
විද්‍යාලයාධිපති.

# Message :-

It gives me great pleasure to send a message on the occasion of the 75th Anniversary of Maliyadeva. I am very proud to have been a student and also, for a brief period, a teacher of Maliyadeva, and it is no exaggeration to state that I owe a great deal to the solid foundation laid in the primary classes of this great institution under the guidance of Messrs U. B. Wanninayake, J. Jayasekera, E. S. Balasooriya, P. B. Weerakoon, T. B. Herath and the Rev. Nekatte Ananda. Twenty years ago it was easy for a Ceylonese to become a foreigner in his own country as a result of the education he received at that time. But the education at Maliyadeva, I have no hesitation in saying, was one that was in keeping with the social and cultural traditions of our country and the national aspirations of our people. It also inculcated the basis of patriotic sentiments at a time when patriotism was at a discount. Maliyadeva has every reason to be proud of the services it has rendered to the sons of the Seven Korales, and it is perhaps one of the most important instruments of social progress in this region. I should also like to take this opportunity of paying a tribute to that great person - U. B. Wanninayake - without whom Maliyadeva would probably not be what it is today. Let me wish Maliyadeva all success and may it continue to serve the country as it has done in the past.

**DR. J. B. KELEGAMA,** B. A. (Cey.)
D. PHIL., (OXON),

Assistant Secretary, Ministry of
Commerce, Trade, Food and Shipping

Professor of Economics,
Vidyalankara University of Ceylon.

Director,
Insurance Corporation of Ceylon.

Director,
People's Bank.

1st Feb - 1963.

No. A B A.
EDUCATION OFFICE
KURUNEGALA.
13 - 6 - 63.

"As the Premier Buddhist Boys' Institution in this Province you have served the cause of education well for 75 years and in keeping with this selfless intentions of its founders your institution was one of the first to join the ranks of Govt. Institutions under the new Education Scheme.

2. Educational Institutions grow with age - but do not grow old. They gather as they go on those peculiar traits that differentiate these from the others of their kind, however so minutely. Doubtless, in the course of the last 75 years, Maliyadeva has under successive Managers and Principals built up its own traditions and certainly have learnt jealously to guard them. These constitute the life blood of should these institutions and the vital force for their future progress.

3. I have had the pleasure of being associated with your institution during various stages of its life and am happy to be able to state that it has had a smooth run of progress all along Its Principals, ably assisted by loyal and co-operative staffs have been at most times rendering selfless service in its progress. This tendency continues and it augurs well for the future.

4 In the National System of Education, now in the offing, I have no doubt that Maliyadeva will willingly lead in the Educational Field for the benefit of the Country's future leaders

5. I wish the school a bright future of still greater service."

**M. A. PERERA.**
Assistant Director of Education.
N W. R.



බෞද්ධ අධ්‍යාපනය දියුණුකළ

**පී. ද ඇස්. කුලරත්න මැතිතුමා.**

# මලියදේව මහා විද්‍යාලය

## වයඹ පළාතට සිතුම්ණකි.

මලියදේව මහා විද්‍යාලයට 75 වසක් සම්පූර්ණවන මේ අවස්ථාවේ එම විද්‍යාලයට හිතවත්ව දියුණුව පතා ආධාර කල වැඩකල පිරිස අතර එහි කලක් සාමාන්‍යාධිකාරීව සිටි මම්ද අභිමානයෙන් ප්‍රීතිවෙමි.

ඉතා සුළු වශයෙන් ආරම්භකල මෙම විද්‍යාලය පළාත්වාසී පරිත්‍යාගශීලි ජාත්‍යාන්මානය තුබූ පිරිසකගේ දැඩි උත්සාහයත්, සේවයට කැපවී සිටි ගුරුපිරිසකගේ වටිනා සේවයත් නිසා උසස් විද්‍යාලයක් කර ගැනීමට හැකිවූ බව මෙහිදී ගෞරවයෙන් සිහිකල යුතුය.

එම පිරිස නම් වශයෙන් සඳහන් කිරීමට අපහසු වූවත් ඔවුන් කල ඒ අමරණීය සේවයට වයඹ පළාත පමණක් නොව මුළු රටම ආශිර්වාද කල යුතුය.

අද මලියදේව ශිෂ්‍යයන් ලංකාවේ සෑම පළාත්වලම විසිරී රටට ප්‍රයෝජනවත් සේවයන්හි යෙදී සිටිනු දක්ම මට මෙන්ම මෙම විද්‍යාලයේ දියුණුව පතන සෑම කෙනෙකුටම ප්‍රීතියට කරුණකි. එම ආදි ශිෂ්‍ය පිරිස තම මාතෘ විද්‍යාලයේ ගෞරවය ආරක්‍ෂා කර ගනිමින් මෙහි දියුණුවට හැකි සෑම සහායක්ම දී කටයුතු කරනවා ඇත කියා බලාපොරොත්තු වෙමි.

දැන් මලියදේව මහා විද්‍යාලය රජයේ විද්‍යාලයක් වී තිබේ. එහි දියුණුවට රජයෙන් කරවාගත යුතු යමක් වේ නම් රජයට දන්වා කටයුතු කිරීමට මම නිතර සූදානම් බව සඳහන් කරන්නේ ඉතා ප්‍රීතියෙනි.

මලියදේව මහා විද්‍යාලය වයඹ පළාතේ සිටින සියලුම දරුවන්ට උසස් අධ්‍යාපනයක් උසස් ලෙස ලබා දෙන විද්‍යා සිතුම්ණක් වේවා' යි අවංක සිතින් ප්‍රාර්ථනා කරමි.

මෙයට – හිතවත්,

පී. ද ඇස්. කුලරත්න,
අඹලන්ගොඩ – පාර්ලිමේන්තු මන්ත්‍රී.

# හැත්තෑ පස් වසක මලියදේවය.

**"ඓතිහාසික හස්තිශෛල පුරය මීවනයේ පරිසමාප්තාර්ථයෙන්ම බෞද්ධ නගරයකි. සම්මා සම්බුදු රජාණන් වහන්සේගේ ශ්‍රී දන්ත ධාතූන් වහන්සේ වැඩ සිටීමෙන් මේ නගරය පවිත්‍රතාවයට පත්ව තිබේ. අවිවාදයෙන්ම මෙය බෞද්ධයන් සතුය. හුළුගල්ලෙ, අ.විගලලා වැනි බෞද්ධ නායකයෝද මෙහි සිටිති. එහෙත් බෞද්ධයන්ට රැස්වීමක් පවත්වන්නටවත් එකට එකතුවී සාකච්ඡාවක් කරන්නටවත් මේ නගරයේ තැනක් නැත. මේ මොන නින්දාවක් ද?"**

මෙයින් අවුරුදු 75 කට පෙර කුරුණෑගල ඇත්කඳ විහාරස්ථානයේදී පැවැත්වූ බෞද්ධයන්ගේ රැස්වීමක් අමතා උච්චස්සරයෙන් මෙසේ කීවේ අද මේ රටේ අක්නට ලැබෙන ආගමික හා ජාතික හා ප්‍රබෝධයේ පීතෘවරයා වශයෙන් අවිවාදයෙන්ම පිළිගත හැකි අනගාරික ධර්මපාලතුමාය.

මේ වූකලී නිද්‍රෝපගතව සිටි සිංහල බෞද්ධයන් අවදි කරමින් අනාගාරික ධර්මපාලතුමාද සමග ශ්‍රීමත් කර්නල් ඕල්කට් තුමා මේ රටේ ගම් දනව් සැරි සැරූ යුගය විය. එවකට පාළු පිටිසක්ව තිබුණු දනට කුරුණෑගල ප්‍රසිද්ධ බස් නැවතුම්පොල පිහිටි ස්ථානයෙ බෞද්ධයන්ගේ රැස්වීමක් තැබීම සඳහා ක්‍රි: ව: 1888 එක් දිනක ඕල්කට් තුමා ධර්මපාලතුමාද සමග මෙහි සැපත් විය. එහෙත් මේ ස්ථානය දසල ක්‍රෙස්තියානුව යන්ගේ සිද්ධිස්ථාන ඇතැයි කී එවකට පැවති දිසාපතිවරයා අණ දුන් ඇන් ගෙවි නිලධාරින් විසින් මෙම රැස්වීම පැවැත්වීමට අවසර නොදෙන ලදී. ඉන්පසු පැමිණ සිටි සැම දෙනාම පෙරහැරකින් ඇත්කඳ විහාරස්ථානය කරා ගියහ. රැස්වීමද එහිදී පැවැත්වූහ. ධර්මපාලතුමා මෙහි මුලින් සඳහන් ප්‍රකාශය කෙළේ මේ රැස්වීමේදීය.

හුළුගල්ලේ අධිකාරම්තුමා සහ ඇවිගල මුදලිතුමා මේ කාලයේ කුරුණෑගල ප්‍රදේශයේ සිටි බෞද්ධ ජන නායකයෝ වූහ. ධර්මපාලතුමාගේ යථෝක්ත ප්‍රකාශයෙන් අවදි වුණු මේ දෙපොළ දින ගණනකින් ප්‍රාදේශීය සෙසු බෞද්ධයන්ගේද ආධාර ඇතිව සමිතියක් ආරම්භ කළහ. එය කුරුණෑගල "පරම විඥානාර්ථ බෞද්ධ සමිතිය" නම් විය. සමිතියේ කාර්යාලය සඳහා තව මත් කුරුණෑගල තරුණ බෞද්ධ සමිතිය සතුව ඇති බෝධිරාජ මාවතේ තිබෙන අංක 45 සහ 47 දරණ ගොඩනැගිල්ලද මිලයට ගත්හ.

නගරයේ සහ අවට ගම්වල සිටි බෞද්ධ ප්‍රභූහු දිනපතාම වාගේ මේ ගොඩනැගිල්ලට රැස්ව ආගමික හා ජාතික හා ප්‍රශ්න ගැන සාකච්ඡා කළහ. ඉද හිට මෙහිදී ප්‍රසිද්ධ ධර්මදේශනාද පැවැත්විණි. ටික කලකින්ම මේ කුඩා ගොඩනැගිල්ල ප්‍රාදේශීය බෞද්ධ මධ්‍යස්ථානය බවට පත්විය. අනතුරුව ඕල්කට්තුමාගේ මෙහෙයීමෙන් 1888 දීම ශිෂ්‍යයන් 10 දෙනෙකුගෙන් මේ ගොඩනැගිල්ලේ ඉංග්‍රීසි පාසැලක්ද ආරම්භ කරන ලදී. එය කුරුණෑගල "බෞද්ධ ඉංග්‍රීසි පාසැල" නම් විය. අද "මලියදේව විද්‍යාලය" නමින් හැඳින්වෙන වයඹ පළාතේ ඇති ශ්‍රේෂ්ඨතම බෞද්ධ විද්‍යාපීඨයේ ආරම්භය ඇතිවූයේ මෙසේය.

අභිනව පාසැලේ ප්‍රථම ප්‍රධානාචාර්යවරයා වීමේ ගෞරවය දිගු කලක් වැලිවිල්ලි හන්පත්පූවේ රටේ මහතා වශයෙන් සේවය කොට අභාවප්‍රාප්ත වූ ටී. බී. මඩවල මහතාට හිමිවේ. මඩවල මහතාගෙන් පසු ඩබ්ලිව්. ජේ. ද. සිල්වා මහතා ටික කලක්

ප්‍රධානාචාර්ය ධුරයේ වැඩ බැලීය. ඉන් අනතුරුව පිළිවෙලින් ආර්. සී. ජී. කැම්බල්, අධිනීතිඥ ජෙරී ඕර්, ආර්. සභාපති; බී. ඒ. උපාධිධාරී ඒ. වේදමාණික්කම්, ජෝන් පෙරේරා, ජෝන් සිල්වා, ඩබ්ලිව්. චාර්ල්ස් සිල්වා; . බී. ඒ. උපාධිධාරී ඒ. බී. ඇරැර්, වී. විජයරත්නම්, සී. අමරතුංග, යූ. බී. වන්නිනායක, ඩී. බී. තෙවරප්පෙරුම යන මහත්වරු ප්‍රධානාචාර්යවරයින් හා විද්‍යාලයාධිපතිවරයින් හා වශයෙන් කටයුතු කළහ. එයින් අනතුරුව දැනට විද්‍යාලයාධිපති ධුරය දරණ ඩී. බී. දිසානායක මහතා විද්‍යාලයාධිපති ධුරයේ අවුරුද්දක් වැඩ බැලීමෙන් පසුව මේජර් ජී. ඒ. පේරුසිංහ මහතා විද්‍යාලයාධිපති ධුරයට පත්ව ආවේය. ඒ මහතා මහනුවර ධර්මරාජ විද්‍යාලයාධිපති ධුරයට මාරුවී යැමෙන් පසු වත්මන් විද්‍යාලයාධිපතිවරයා එම තනතුරට පත්විය. වන්නිනායක මහතාගේ කාලයේ මේජර් ඩබ්: එච්. ඇම්. සමරසිංහ මහතා ටික කලක් විද්‍යාලයාධිපති ධුරයේ වැඩ බැලූ බවද මෙහිලා සඳහන් කළ යුතුව තිබේ.

පාසැල ආරම්භ කොට අවුරුදු 8 ක් ගතවනතුරු එය පාලනය කරන ලද්දේ පොදුවේ කුරුණෑගල පරම විඥානාර්ථ බෞඩ සමිතිය මගිනි. එහෙත් 1896 යේදී ප්‍රථම වරට එහි පාලනය සඳහා කළමනාකාර ධුරයට ඒ.ඇම්. අබේගුණරත්න නොතාරිස් මහතා පත්කර ගන්නා ලදී. ඒ මහතාගෙන් පසු පිළිවෙලින් දොස්තර එච්. කේ. ටී. ද සිල්වා, ශාස්ත්‍රාචාර්ය පී. ද. ඇස්. කුලරත්න, සර් ජෝන් කොතලාවල; නීතිඥ බී. අයි. පලිපාන, යූ.බී. වන්නිනායක යන මහත්වරුන් කළමනාකරුවන් වශයෙන් සේවය කොට ඇත.

මලියදේව විද්‍යාලය ගැන සලකා බැලීමේදී පසුගිය 75 වසර තුළ විශේෂයෙන් කැපී පෙණෙන්නේ වන්නිනායක යුගයයි. මේ දක්වා සිටි සැම විද්‍යාලයාධිපතිවරයකුටම වඩා වැඩි කාලයක් විද්‍යාලයාධිපතිවරයා වශයෙන් සේවය කර ඇත්තේ වන්නිනායක මහතාය. ඒ මහතාගේ සේවා කාලය අවුරුදු 19 කි. විද්‍යාලයේ දියුණුව පිළිබඳ ස්ථිර සාර පදනම වැටුණේද ඒ මහතාගේ කාලයේදීය. එහෙත් ගතවූ 75 වසර පූර්ව වන්නිනායක යුගය, වන්නිනායක යුගය, අපර වන්නිනායක යුගය යනුවෙන් යුග තුනකට බෙදා දැක්වීම යෝග්‍ය බව පෙනේ.

## පූර්ව වන්නිනායක යුගය.

කුරුණෑගල පරම විඥානාර්ථ බෞද්ධ සමිතිය මගින් ආරම්භ කරන ලද ඉංග්‍රීසි බෞද්ධ පාසැලේ ප්‍රථම ප්‍රධානාචාර්යවරයා වීමේ ගෞරවය පී. බී. මඩවල මහතාටත් ප්‍රථම කළමනාකරු වීමේ ගෞරවය ඒ. ඇම්. අබේගුණරත්න මහතාටත් හිමිවන බව යට සඳහන් කෙළෙමු. පාසැල ඇරඹී අවුරුදු අටකට පසු කළමනාකාර ධුරයට පත්වූ අබේගුණරත්න මහතා අවුරුදු 37 ක්ම එම ධුරයෙහි කටයුතු කොට ඇතත් ප්‍රථම ප්‍රධානාචාර්යවරයා අවුරුදු කීපයක සේවයෙන් පසු එම ධුරයෙන් ඉල්ලා අස්වූ බව පෙනේ. එසේ ඉල්ලා අස්වූයේ වැළඩ විල්ලි හත් පත්තුවේ රටේ මහතා වශයෙන් පත්වීමක් ලැබුණු නිසාය. ඉන් පසු දැනට බොරැල්ලේ පාර්ලිමේන්තු මන්ත්‍රී දොස්තර ඩබ්ලිව්. සී. ද සිල්වා මහතාගේ පියාණන් වන ඩබ්ලිව්. ජී. ද සිල්වා මහතා ප්‍රධානාචාර්ය ධුරයේ ටික කලක් වැඩ බැලුවේය. 10 දෙනෙකුගෙන් අරඹන ලද පාසැලේ ශිෂ්‍ය සංඛ්‍යාව 100 දක්වා වැඩි වූයේත් බස් නැවතුම්පළ අසළ පවත්වාගෙන ගිය පාසැල නුවර පාරේ ඇත්කඳ විහාරය ඉදිරිපිට ඇති ගොඩනැගිලි කරා ගෙන ගියේත් මේ කාලයේදීය. ක්‍රි: ව: 1909 දී මෙය සිදුවූ අතර ඉන් පසු "කුරුණෑගල ඉංග්‍රීසි බෞද්ධායතනය" යන නමින් පාසැලේ නමද වෙනස් විය.

එයිනික්බිති රාජකීය විද්‍යාලයේ ආචාර්යවරයෙකු වශයෙන් සේවය කරමින් සිටි කැම්බල් මහතා මලියදේව විද්‍යාලයේ ප්‍රධානාචාර්යවරයා වශයෙන් වැඩ භාර ගත්තේය. කැම්බල් මහතාට පසු ඕර් මහතාත් ඕර් මහතාට පසු රත්න සභාපති මහතාත්

ප්‍රධානාචාර්යවරුන් වශයෙන් සේවය කිරීමෙන් අනතුරුව බී. ඒ. උපාධිධාරී ප්‍රථම ප්‍රධානාචාර්යවරයා මෙම පාසැලේ වැඩ භාර ගත්තේය. ඔහු ජී. වේදමාණික්කම් නම් ද්‍රවිඩ මහතෙක් විය.

මේ අතරතුර කොළඹ පරම විඥානාර්ථ බෞද්ධ සමිතිය හා කුරුණෑගල පරම විඥානාර්ථ බෞද්ධ සමිතිය හා අතර පැවති සම්බන්ධය බොහෝ දුරට ඇඳුනී තිබිණි. එහෙයින් කුරුණෑගල බෞද්ධයෝ කුරුණෑගල පරම විඥානාර්ථ බෞද්ධ සමිතිය වෙනුවට කුරුණෑගල තරුණ බෞද්ධ සමිතිය ඇරඹූහ. එසේ කෙළේ ක්‍රි: ව: 1919 යේ දීය. මෙම සමිතියට ප්‍රදේශයේ සිටි බෞද්ධයන්ගෙන් වැඩි දෙනෙක් බැඳුනෝය. සමිතිය දිනෙන් දින දියුණු විය. එහෙයින් "කුරුණෑගල ඉංග්‍රීසි බෞද්ධායතනයේ" පාලනයද තරුණ බෞද්ධ සමිතියට පවරා ගැනීමට තීරණය කර ගන්නා ලදී. මෙම තීරණය ගැනීමේදී කොළඹ පරම විඥානාර්ථ බෞද්ධ සමිතියේ බල කණුවක්වූ සර්. ඩී. බී. ජයතිලක මහතාද එයට සම්පූර්ණයෙන්ම එකඟත්වය පළකොට තිබේ.

එද පැවති තත්වය අනුව යම් යම් හේතුන් නිසා එසේ කිරීමට අවශ්‍යව තිබුණා විය හැකිය. එසේ නොවේනම් සර් ඩී. බී. ජයතිලක මහතා වැනි කෙනෙකුගේ එකඟත්වය මේ සඳහා නොලැබෙනු ඇත. ඒ කෙසේ හෝ වේවා මේ රටේ බෞද්ධ අධ්‍යාපනය ඔප් නැංවීමට පුරෝගාමීවූ සර් ඩී. බී. ජයතිලක, පී. ද ඇස්. කුලරත්න, ඇල්. එච්. මෙත්තානන්ද, වැනි අධ්‍යාපන විශාරදයන්ගේ සේවය ටික කලකටවත් මලියදේව යට නොලැබුණේ මේ නිසායයි සිතිය හැකිය.

මෙතෙක් "බෞද්ධ ඉංග්‍රීසි ආයතනය" නමින් හැඳින්වුණු පාසැලට දැනට ව්‍යවහාර කරනු ලබන මලියදේව විද්‍යාලය යන නම තබන ලද්දේ ක්‍රි: ව: 1927 දීය. ඒ කාලයේ විද්‍යාලයාධිපති ධුරය දරණ ලද්දේ චාර්ල්ස් සිල්වා මහතා විසිනි. ලක්දිව අන්තිමට සිටි මලියදේව මහ රහතන් වහන්සේගේ නම මේ විද්‍යාලයට තබන්නට ඇත්තේ උන් වහන්සේ රහත්වූයේ කුරුණෑගලට නුදුරුව ඇති මරළුවාවේ විහාරයේදීය යන මතය නිසා විය හැකිය.

චාර්ල්ස් සිල්වා මහතාගේ අභාවයෙන් පසු මලියදේව විද්‍යාලයාධිපති ධුරයට දෙවැනි වරටද බී. ඒ. උපාධිධාරියෙක් පත්ව ආවේය. ඔහු ඒ. ඩී. අරූර් නම් විය. පළමුවෙන්ම මලියදේව ශිෂ්‍ය නිවාසය ආරම්භ කරන ලද්දේ අරූර් මහතාගේ කාලයේ ශිෂ්‍යයන් 15 දෙනෙකුගෙනි. අරූර් මහතාගෙන් පසු මාස කීපය බැගින් ජී. විජයරත්නම් සහ ඩී. අමරතුංග යන මහතුන්ද විද්‍යාලයාධිපතිවරුන් වශයෙන් සේවය කොට ඇති අතර විද්‍යාලයාධිපතිවරයකු නොසිටි යුගයක්ද තිබුණු බව පෙනේ. මේ කාලය වන විට 200 කටත් අධිකව සිටි ශිෂ්‍ය සංඛ්‍යාව 90 දක්වා පහළ බැස තිබුණේය. විද්‍යාලය පාලනය කළ තරුණ බෞද්ධ සමිතිය සම්පූර්ණයෙන්ම ක්‍රියා විරහිත විය. වර්ෂ 1930 දී වන්නිනායක මහතා මලියදේව විද්‍යාලයාධිපතිවරයා වශයෙන් වැඩ භාර ගත්තේ මෙවැනි තත්වයක් පවතිද්දීය.

## <u>වන්නිනායක යුගය.</u>

වන්නිනායක මහතා පැමිණ දෙවසක් ගතවීමෙන් පසු පැවැත්වුණු වාර්ෂික ත්‍යාග ප්‍රදානෝත්සවයේ ප්‍රධාන අමුත්තා වූයේ සර් ඩී. බී. ජයතිලක මහතාය. කුරුණෑගල තරුණ බෞද්ධ සමිතිය ක්‍රියා විරහිතව ඇති බවත් එහෙත් එම සමිතිය සතු මුදල් බැංකුවේ තැන්පත් කර ඇති බවත් ජයතිලක මහතාට දැන ගන්ට ලැබිණි. මේ රටේ ඇති සමහර සමිති සමාගම්වල මුදල් නැතැසිද එහෙත් කුරුණෑගල සිදුවී ඇත්තේ මුදල් තිබියදී සමිතිය නැතිව යෑමයයිද කී ජයතිලක මහතා බෞද්ධ නායකයින් සමග සාකච්ඡා කොට තරුණ බෞද්ධ සමිතියට නව ජීවනයක් දීමට කටයුතු කෙළේය. ජයතිලක මහතාගේ ප්‍රයත්නය සම්පූර්ණයෙන්ම සාර්ථක වූයෙන් කුරුණෑගල තරුණ බෞද්ධ සමිතිය තවමත් ඉතා දියුණු තත්වයකින් පවතින බව ප්‍රීතියෙන් සඳහන් කළ හැකිය.

නම් සෞඛ්‍ය තත්වය සතුටුදායක නොවූයෙන් 37 වසක් කළමනාකාර ධුරය දැරූ අබේගුණරත්න මහතා සිය කැමැත්තෙන්ම එම ධුරය දොස්තර එච්. කෝ. ටී. ද. සිල්වා මහතාට පැවැරුවේය. මේ වනවිට මලියදේවය යළිත් දියුණුව කරා වේගයෙන් ගමන් කරන බව කාටත් පෙණෙන්නට විය. ශිෂ්‍ය සංඛ්‍යාව ශීඝ්‍රයෙන් වැඩි වන්නට විය. නුවර පාරේ තිබුණු පාසැල් ගොඩනැගිල්ල ප්‍රමාණවත් නොවූයෙන් අලුත් ගොඩනැගිල්ලක අවශ්‍යතාවය පැහැදිලිව පෙණිනි. එහෙත් පාසැල පිහිටි භූමියේ තවත් ගොඩනැගිලි ඉදි කිරීමට ඉඩ කඩ නැත. ඒ සඳහා වෙනත් ස්ථානයකින් සුදුසු ඉඩමක් සොයා ගත යුතුය. මෙය තරුණ බෞද්ධ සමිතියට විසඳගත නොහැකි බලවත් පැනයක් විය.

මේ කාලයේ දැනට මලියදේව විද්‍යාලය පිහිටි මීගමු පාරේ ඉඩම අයිතිව තිබුණේ ව්‍යවස්ථාදායක මන්ත්‍රණ සභාවේ මන්ත්‍රීවරයෙකුව සිටි මඩවල දිසාපතිතුමාට සහ එම මැතිණියටත්ය. උසස් විද්‍යාලයක් සඳහා යථෝක්ත ඉඩමෙන් තමා සතු කොටස සහ විශාල නිවසද අන්තිම කැමති පත්‍රයෙන් වෙන් කොට තබා මඩවල දිසාපතිතුමා පරලෝ සැපත් විය. ඉඩමේ සහ නිවසේ භාරකාරත්වය පවරා තිබුණේ කුරුණෑගල රජයේ දිසාපතිවරයා, දිසත්‍රික් විනිශ්චයකාර මහතා, එවකට තිබුණු කුරුණෑගල පළාත් ආණ්ඩු සභාවේ සභාපතිවරයා යන තිදෙනාගෙන් යුත් මණ්ඩලයකටය. විද්‍යාලයක් ආරම්භ කරන කෙනෙකුට හෝ ආයතනයකට හෝ ඉඩම පවරා දීමේ බලයද මේ මණ්ඩලය සතු විය.

මලියදේව විද්‍යාලය සඳහා මෙම ඉඩම ලබා ගැනීමට තරුණ බෞද්ධ සමිතිය උත්සාහ කළ අතර වෙනත් විද්‍යාලයක් සඳහා එයම ලබා ගැනීමට අන්‍යාගමික පිරිසක්ද වෙර දැරූහ. ඉඩම භාර දිය යුත්තේ මේ දෙපක්ෂයෙන් කවර පක්ෂයකටදැයි තීරණය කිරීමට අපොහොසත් වූ භාරකාර මණ්ඩලය එහි භාරකාරත්වය මහා භාරකාර තුමාට පවරණ ලදී.

මේ අතරතුර අසනීපයකට ප්‍රතිකාර ලබා ගැනීමට දොස්තර එච්. කෝ. ටී. ද සිල්වා මහතා වෙත ගිය මඩවල මැතිණිය යථෝක්ත ඉඩමේ තමා සතු කොටස විකිණීමට අදහස් කරන බව ප්‍රකාශ කළාය. එය ගැනීමටද විධි විධාන යොදාගෙන තිබුණේ ඉහතින් සඳහන් කළ අන්‍යාගමික පිරිසමය. දොස්තර සිල්වා මහතාගේ පවුලේ අය සමග මඩවල මැතිණිය ඇසුරු කෙළේ ලොකු හිතවත් භාවයකිනි. තමාට නොදන්වා කිසිවකුට ඉඩම නොවිකුණන ලෙස සිල්වා මහතා මඩවල මැතිණියගෙන් ඉල්ලා සිටියේය. අනතුරුව එදිනම නගරයේ සිටි බෞද්ධ ප්‍රභූන් කැඳවා සාකච්ඡාවක් පැවැත්වීමට විධි විධාන යෙදූ දොස්තර සිල්වා මහතා විද්‍යාලය සඳහා මඩවල මැතිණියට අයත් ඉඩම ගැණීමේ අවශ්‍යතාවය ගැන කියා සිටියේය. ඉඩම ගතයුතු බව කාගේත් පිළිගැනීම විය. එහෙත් ඒ සඳහා මුදල් නැත. එහෙයින් සෙසු අයගේද එකගත්වය ඇතිව තම නමට තම පුද්ගලික මුදලින් ඉඩම මිළයට ගැනීමටත් පසුව මුදල් එකතු කොට දුන් පසු එය තරුණ බෞද්ධ සමිතියට පැවරීමටත් සිල්වා මහතා කැමතිවී එසේ කෙළේය. ඉඩම මිළයට ගැනීම සිදුවී ඇත්තේ ඉතා රහසිගතවය. එසේ නොවූයේ නම් මෙය තරුණ බෞද්ධ සමිතියට නොලැබෙන්නටද හොඳටම ඉඩ තිබුණු බවට සාධක රාශියක්ම තිබේ.

අනතුරුව බෞද්ධයෝ තරුණ බෞද්ධ සමිතිය වෙනුවෙන් මුදල් එකතු කිරීම ආරම්භ කළහ. අවශ්‍ය මුදල ඉක්මණටත් පහසුවෙනුත් එකතු කර ගැනීමට හැකිවීම නිසා ඉඩම තරුණ බෞද්ධ සමිතියට පවරා ගන්නා ලදී. ඉන් අනතුරුව සමිතිය කෙළේ අක්කර අටක් පමණ වන නොබෙදූ ඉඩමේ වහ වහා ගොඩනැගිලි දෙකක් ඉදි කිරීමය. මහා භාරකාරතුමා යටතේ ඇති ඉඩම් කොටසද ලබා ගැනීම මේ ප්‍රයත්නයේ අරමුණ විය. අද විද්‍යාලයීය ගොඩනැගිලි අතර දක්නට ලැබෙන ඇෆ්. ආර්. සේනානායක ශාලාව සහ මඩවල ශාලාව තරුණ බෞද්ධ සමිතිය වහ වහා සෑදූ ඒ ගොඩනැගිලි දෙකය. දැන් මේ ශාලා දෙක පන්ති

කාමරවලට බෙදා ප්‍රයෝජනයට ගනු ලැබේ. නුවර පාරේ පවත්වාගෙන ගිය විද්‍යාලය අලුත් ගොඩනැගිලි කරා ගෙන එනු ලද්දේ වර්ෂ 1936 යේ දීය. ටික කලකට පසු සර් ඩී. බී. ජයතිලක මහතාගේද සහයෝගය ඇතිව මහා භාරකාරතුමා යටතේ තිබුණු ඉඩම් කොටසද ලබා ගැනීමට තරුණ බෞද්ධ සමිතිය සමත්ව ඇත.

මේ කාලයේ කුරුණෑගල මන්ත්‍රීවරයා වශයෙන් රාජ්‍ය මන්ත්‍රණ සභාවේ පෙනී සිටියේ සර් ජෝන් කොතලාවල මහතාය. මලියදේව විද්‍යාලයේ ඉදිරිපසින්ම ඇති දෙමහල් ගොඩනැගිල්ල සාදා දෙන ලද්දේ ඒ මහතා විසිනි. මේ සඳහා වැයවී ඇති මුදල රු. 50,000 කි.

දෙස්තර සිල්වා මහතා වෙනුවට වර්ෂ 1941 දී ශාස්ත්‍රාචාර්ය පී. ද. ඇස්. කුලරත්න මහතා විද්‍යාලයේ කළමනාකාර ධූරයට පත් විය. කුලරත්න මහතාගේ කාලයේ මෙතෙක් අමිශ්‍ර විද්‍යාලයක්ව තිබුණු මලියදේවය මිශ්‍ර විද්‍යාලයක් බවට පත් කරන ලදී. එසේ කරන ලද්දේ මේ ප්‍රදේශයේ බෞද්ධ බාලිකාවන්ට උසස් අධ්‍යාපනයක් ලබා ගැනීමටත් වෙනත් බෞද්ධ පාසැලක් නොතිබුණු හෙයිනි.

මේ කාලයේ එනම් 1942 කේදී මලිය දේවයට ඉතා අවාසනාවන්ත තත්වයකට මුහුණ පාන්නට සිදු විය. පැය 48 ක් ගත වීමට පෙර විද්‍යාලයීය ගොඩනැගිලි යුද කඳවුරක් සඳහා භාර දී ඉවත්ව යන ලෙස නියෝගයක් ලැබීම ඒ අවාසනාවන්ත සිද්ධි යයි. පැය 48 ක් නොව 24 තුළදී විද්‍යාලයේ සියළුම බඩු බාහිරාදිය ඉවත් කර ගන්නා ලදී. මේ අවස්ථාවේදී විද්‍යාලය සතු වටිනා ලිය කියවිලි රාශියක් නැතිවිය. එය මලිය දේවයට සිදුවී ඇති බලවත් පාඩුවක් බව කිව යුතුය. විද්‍යාලය හා සම්බන්ධ සමහර සිද්ධීන් දින වකවානු සහිතව ඉදිරිපත් කිරීමට අපහසුවී ඇත්තේ ඒ නිසාය.

වර්ෂ 1944 දී කුලරත්න මහතා වෙනුවට සර් ජෝන් කොතලාවල මහතා විද්‍යාලයේ කළමනාකාර ධූරයට පත්විය. නුවර පාරේ පැරණි ගොඩනැගිලි කරා ගෙනයනු ලැබූ මලියදේවය නැවතත් මීගමු පාරේ දැනට ඇති නව ගොඩනැගිලි කරා ගෙන ඒමට හැකිවූයේ යුද්ධය පහව යෑමෙන් පසු වර්ෂ 1946 යේදීය. ඊට පෙර 1945 දී තෙවසක් මිශ්‍රව තිබුණු මලියදේවය යළිත් අමිශ්‍ර විය. එය සිදුවූයේ මෙසේය.

දැනට කොළඹ පාරේ මලියදේව බාලිකා විද්‍යාලය පිහිටි ඉඩම විකිණීමට එහි අයිතිකරු තීරණය කෙළේය. එය මිළයට ගෙන කොටස් කර විකිණීමට සාකච්ඡා කරගත් ඒ. ඇම්. ලයිරිස් අප්පු, ඒ. ඇම්. අර්නෝලිස් අප්පු හා මුහන්දිරම් ආර්. ඩබ්ලිව්. පතිරණ යන මහතුන් තිදෙන රු. 50,000 කට ඉඩම ගැනීමට තීරණය කරගෙන එම මුදල් ප්‍රමාණයෙන් දහයෙන් කොටසක්ද ගෙවන ලදී. දිනක් මේ තිදෙන විනෝදය සඳහා වැව රවුමේ ඇවිදීමට ගියහ. කුරුණෑගල බෞද්ධ බාලිකා විද්‍යාලයක් නොමැති නිසා ඔවුන් මිළයට ගෙන කොටස්කර විකිණීමට බලාපොරොත්තු වන ඉඩම එවැනි විද්‍යාලයක් සඳහා තරුණ බෞද්ධ සමිතියට ගත හැකි නම් මැනවයි ඔවුහු දීර්ඝ සාකච්ඡාවකින් පසුව තීරණය කළහ. එහෙත් තරුණ බෞද්ධ සමිතිය සතුව එපමණ මුදලක් නැති බව මේ තිදෙන දැන සිටියෝය.

ජාතික හෝ ආගමික හෝ කටයුත්තක් සඳහා මුදල් අවශ්‍ය වනවිට සර් ජෝන් කොතලාවල මහතා වෙත යෑම මේ කාලයේ තරුණ බෞද්ධ සමිතියේ සිරිත විය. ඒ අනුව පසුවදාම ඉහත නම් සඳහන් කළ මහත්වරු සර් ජෝන් හමුවීමට ගියහ. ගොස් ඔවුන්ගේ අදහස දැනුම් දී පසුව මුදල් එකතු කොට දී තරුණ බෞද්ධ සමිතියට පවරා ගන්නා තුරු පූර්වෝක්ත ඉඩම සර් ජෝන්ගේ නමට මිළයට ගන්නා ලෙස ඉල්ලා සිටියහ. දීර්ඝ සාකච්ඡාවකින් පසුව එයට කැමති වූ කොතලාවල මහතා ඉඩම මිළයට ගත්තේය. ටික කලකින්ම තරුණ බෞද්ධ සමිතිය රු. 45,000 ක් එකතු කළාය.



විද්‍යාලයීය ප්‍රධාන දෙම්හල් ගොඩනැගිල්ල සිය වියදමින් සාදා දුන්නාවූද කුරුණෑගල තරුණ බෞද්ධ සමිතියේ සභාපති වරයා වශයෙන් හා විද්‍යාලයේ කළමණාකරු වශයෙන්ද කලක් සේවය කළ

**සර් ජෝන් කොතලාවල මැතිතුමා.**

එම මුදල ගෙනගොස් සර් ජෝන්ට භාර දෙන ලදී. ඉතිරි රු. 5,000 අනවශ්‍යයයි කී ඒ මහතා ඉඩම තරුණ බෞද්ධ සමිතියට පවරා දුන්නේය. තරුණ බෞද්ධ සමිතිය මගින් එහි තාවකාලික ගොඩනැගිලි ඉදි කොට මලියදේව පිරිමි විද්‍යාලයේ ඉගෙනීම ලබමින් සිටි ශිෂ්‍යාවෝ එහි යවනු ලැබූහ. අභිනව පාසැලට 'මලියදේව බාලිකා විද්‍යාලය' යන නමද තබන ලදී.

ආචාර්ය සී. ඩබ්ලිව්. ඩබ්ලිව්. කන්නන්ගර මහතාගේ නිදහස් අධ්‍යාපන ක්‍රමය ක්‍රියාවේ යෙදීම ආරම්භ වූයේ මේ කාලයේය. එහෙයින් මලියදේව යන නාමය වෙනස් නොකිරීම ඇතුළු තවත් කොන්දේසි කීපයක් ඇතුව ඉඩම හා තාවකාලික ගොඩනැගිලිද රජයට භාරදෙන ලදී.

වර්ෂ 1948 දී සර් ජෝන් කොතලාවල මහතා වෙනුවට බී. අයි. පලිපාන මහතා මලියදේව විද්‍යාලයේ කළමනාකාර ධුරයට පත්විය. වර්ෂ 1949 යේදී අවුරුදු 19 යක සේවයෙන් පසු තවත් කලක් වැඩකළ හැකිව තිබියදීම දේශපාලන කටයුතුවල නිරත වීම සඳහා වන්නිනායක මහතා විද්‍යාලයාධිපති ධුරයෙන් ඉල්ලා අස්විය. වන්නිනායක මහතා එනවිට 90 ක්වූ ශිෂ්‍ය සංඛ්‍යාව ඒ මහතා යනවිට 900 කටද වැඩි විය. විශාල ඉඩමක් විද්‍යාලය සතුව තිබුණු අතර ස්ථිර ගොඩනැගිලිද වීය. කොටින් කියතොත් මලියදේවයේ දියුණුව සඳහා අවශ්‍ය සෑම පදනමක්ම වන්නිනායක මහතා විසින් දමා තිබුණේය.

## අපර වන්නිනායක යුගය.

වන්නිනායක මහතාගෙන් පුරප්පාඩුවූ විද්‍යාලයාධිපති ධුරයට තෙවැනි උපාධිධාරියා වශයෙන් සී. බී. තෙවරප්පෙරුම මහතා පත්ව ආවේය. තෙවරප්පෙරුම මහතාගේ මුල්ම අපේක්ෂාව වූයේ දෙවැනි ශ්‍රේණියේ විද්‍යාලයක්වූ මලියදේවය පළමු වැනි ශ්‍රේණියේ විද්‍යාලයක් වශයෙන් ලියා පදිංචි කරවා ගැනීමය. ඒ සඳහා ගුරු මණ්ඩලයේ තුනෙන් එකකට නොඅඩු උපාධිධාරීන් සිටිය යුතුවිය. අවශ්‍ය තරම් උපාධිධාරීන් සොයාගෙන තම අපේක්ෂාව ඉතා ඉක්මණින්ම තෙවරප්පෙරුම මහතා විසින් ඉටුකර ගන්නා ලදී. ඒ නිසා උපාධිධාරියෙකුට හැර වෙන කෙනෙකුට මලියදේවයේ අධිපති වීමට තිබුණු ඉඩකඩ නැතිවූ බවද මෙහිලා සඳහන් කළයුතුව තිබේ.

තෙවරප්පෙරුම මහතා පැමිණෙන විටත් විද්‍යාලයේ පන්ති කාමර කීපයක්ව පවත්වාගෙන ගියේ යුද හමුදාව සඳහා ඉදි කර තිබුණු තාවකාලික ගොඩනැගිලිවලය. මේ වෙනුවට අලුත් පන්ති කාමර ඉදි කිරීම අත්‍යාවශ්‍යව තිබිණි. එයට මුල පිරීමක් වශයෙන් දැනට ඇති බාලාංශ පන්ති කාමර වලින් මුල් හතරට අත්තිවාරම දමන ලද්දේ මේ කාලයේදීය. ශිෂ්‍ය නිවාසය සඳහා තිබුණු ගොඩනැගිලිවලට අතිරේකව තවත් ගොඩනැගිල්ලක් ඉදි කිරීමද තෙවරප්පෙරුම මහතාගේ කාලයේ සිදුවිය.

ඩිප්ලෝමා පන්තියට බැඳීම සඳහා 1953 මැද භාගයේදී තෙවරප්පෙරුම මහතා විශ්ව විද්‍යාලයට ඇතුල් වූයෙන් උප විද්‍යාලයාධිපති සී. බී. දිසානායක මහතා විද්‍යාලයාධිපති ධුරයේ වැඩ බැලීමට පත්විය. ඒ මහතා වැඩ බැලූ කාලය මාස 14 ක් පමණ වේ. එහෙත් ඒ කාලයේදී ප්‍රයෝජනවත් වැඩ කීපයක් සිදුවිය.

මලියදේවයට ලොකු අඩු පාඩුවක්ව තිබුණු ක්‍රීඩාංගණය සාදන ලද්දේ මේ කාලයේදීය. කණිෂ්ඨ හා ජ්‍යෙෂ්ඨ හා රණකෙළි හමුදා පිහිටුවීමත් අභාවයට ගොස් තිබුණු බාලදක්ෂ කණ්ඩායම නැවත පිහිටුවීමත් දිසානායක මහතා වැඩ බැලූ කාලයේ සිදුවිය. ක්‍රිකට් හා පා පන්දු කණ්ඩායම් නැවත ආරම්භ කිරීමද මේ කාලයට අයත්ය.

තෙවරප්පෙරුම මහතාගේ කාලයේ අත්තිවාරම් දමන ලද බාලාංශ පන්ති කාමර හතරේ වැඩ නිමවූයේත් පුස්තකාලයක්, සංගීත, උඩරට නැටුම්, හා භාරත නැටුම් පංති ආරම්භකරන ලද්දේත් මේ කාලයේදීය.

පළීපාන මහතා වෙනුවට 1954 දී යූ. බී. වන්නිනායක මහතා කළමනාකාර ධූරයට පත්විය. මලියදේවය රජයට පවරා ගන්නාතුරුම් කළමනාකාර ධූරය දැරූ වන්නිනායක මහතාගෙන් එයට අවශ්‍ය ගොඩනැගිලි සෑදීමෙහිලා ලොකු සේවයක් වූ බවද මෙහිලා සඳහන් කළ යුතුමය. විශ්ව-විද්‍යාලයට ගිය තෙවරප්පෙරුම මහතා නැවත මලියදේවයට නොපැමිණියෙන් 1954 වර්ෂයේදීම මේජර් ඊ. ඒ. පේරුසිංහ මහතා විද්‍යාලයාධිපති ධූරයට පත්කර ගන්නා ලදී. අයදුම්කරුවන් රාශියක් අතරින් පේරුසිංහ මහතාම තෝරා ගැනීමට කළමනාකාර ධූරය දැරූ වන්නිනායක මහතා විශේෂයෙන්ම පෙළඹුණේ ක්‍රීඩා හා රණ කෙළි පිළිබඳව කීර්තිමත් අතීතයක් ඒ මහතා සතුව තිබූ බැවිනි.

පේරුසිංහ මහතාගේ කාලයේදී අධ්‍යාපන කටයුතු අතින් මෙන්ම ක්‍රීඩා අතින්ද විද්‍යාලය බොහෝ සෙයින් දියුණු විය. ක්‍රිකට්, පා පන්දු හා වොලිබෝල් ක්‍රීඩාවලට නව ජීවනයක් ලැබුණෙන් කොළඹ, ගාල්ල යාපනය වැනි ඈත නගරවල උසස් විද්‍යාල සමග මලියදේව ක්‍රීඩකයෝ සුහද ක්‍රිකට් තරඟ හා පා පන්දු තරග හා පැවැත්වීම ආරම්භ කළහ. කුරුණෑගල දිස්ත්‍රික් පා-පන්දු සමාජයේ මෙහෙයීමෙන් අභියෝග කුසලාන් සඳහා පැවැත්වුණු කණිෂ්ඨ හා ජ්‍යෙෂ්ඨ හා පා පන්දු තරගවලටද ඔවුහු සහභාගිවූහ. මේ නොයෙකුත් තරඟවලදී ඔවුන් විශේෂ දක්ෂකම් දැක්වූ අවස්ථාද බොහෝය. කණිෂ්ඨ හා ජ්‍යෙෂ්ඨ හා කැඩෙට් භට හමුදාවෝ කඳවුරු තරඟවලදී විශිෂ්ඨ ලෙස දක්ෂකම් ප්‍රදර්ශණය කරන්නට වූහ. මේ නිසා මලියදේවයට පෙර නොලැබුණු අන්දමේ ප්‍රසිද්ධියක් ලැබෙන්නට විය.

වරින් වර මැරෙමින් ඉපදෙමින් යළි මැරෙමින් තිබුණු ගුරු දෙගුරු සමිතිය හා ආදි ශිෂ්‍ය සමිතිය හා වැනි සමිතිවලට නව පණක් ලැබුණේද පේරුසිංහ මහතාගේ කාලයේදීය. ආදි ශිෂ්‍ය සමිතියේ මෙහෙයීමෙන් නිවාසාන්තර මලල ක්‍රීඩා තරඟය හා ආදි ශිෂ්‍යයන්ගේ රාත්‍රී භෝජන සංග්‍රහය නොකඩවා පැවැත්වීම ඇරඹුණේත් මේ වකවානුවේදීමය. අවුරුදු කීපයකට වරක් බැගින් පැවැත්වුණු ත්‍යාග ප්‍රදානෝත්සවය නොකඩවා වර්ෂයක් පාසා පැවැත්වීමත් "මලියදේව සංග්‍රහය" නොකඩවා පළ කිරී-මත් ඇරඹුණේද මෙයින් පසුවය.

විද්‍යාලයට අවශ්‍ය ගොඩනැගිලි ඉදි කිරී-මෙහිලා කළමනාකරු වශයෙන් වන්නිනා-යක මහතාගෙන් ලොකු සේවයක් සිදුවූ බව, මෙහි මුලින් සඳහන් කෙළෙමු. තෙවරප්-පෙරුම මහතාගේ කාලයේ අත්තිවාරම් දමනලදුව පසුව සාද, නිම කරන ලද පන්ති කාමර හතර හැර දැනට ප්‍රාථමික හා පශ්-චාත් ප්‍රාථමික හා පන්ති පවත්වාගෙන යන සියලුම ගොඩනැගිලි ඉදි කරන ලද්දේද මේ කාලයේදීය. ශිෂ්‍ය නිවාසය සඳහා අවශ්‍යව තිබුණු ගොඩනැගිලි හතරක්ද වන්නිනායක මහතාගේ කාලයේ ඉදිවිය.

ඒ හැර විද්‍යාල භූමියට යාබදව තිබුණු ඉඩම් කැබෙලි දෙකක්ද මේ කාලයේ විද්‍යාලයට ලැබිණි. එක් ඉඩම් කැබෙල්ලක් ජී. කේ. ජුවානිස් පෙරේරා මහතා රු: 35,000 කට මිළයට ගෙන පරිත්‍යාග කරන ලදී. පසුව එයින් රු: 17,500 ක් තරුණ බෞද්ධ සමිතිය මගින් ඒ මහතාට ගෙවන ලදී. අනෙක් ඉඩම් කැබෙල්ල තරුණ බෞද්ධ සමිතියම රු: 40,000 කට මිළයට ගනු ලැබීය.

උපකෘත පාසැල් රජයට පවරා ගැනීමේ පණත පාර්ලිමේන්තුවේ සම්මත වූයේ වන්නිනායක මහතා සහ පේරුසිංහ මහතා සහයෝගයෙන් වැඩ කරමින් මලියදේවය දිනෙන් දින දියුණුව කරා ගෙන යමින් සිටියදීය. මලියදේවය රජයට ගැනීම ගැන විරුද්ධ නොවීමට තරුණ බෞද්ධ සමිතිය තීරණය කළාය. එහෙයින් හැකි තරම් ඉක්මණින් විද්‍යාලය රජයට භාර දීමට පේරුසිංහ මහතා විසින් විධි විධාන යොදන ලදී. ප්‍රථම ශ්‍රේණියේ විද්‍යාල අතරින්

මලියදේවය ප්‍රථමයෙන්ම රජයට පවරා ගැනීමට හැකි වූයේ එහි ප්‍රතිඵලයක් වශයෙනි.

විශිෂ්ඨ සේවයකින් පසු 1962 ජනවාරි මස පේරුසිංහ මහතා මහනුවර ධර්මරාජ විද්‍යාලයාධිපති ධුරයට මාරුවී යෑමෙන් පසු මලියදේවයේම ආදි ශිෂ්‍යයකු වන කලින්ද විද්‍යාලයාධිපති ධුරයේ වැඩ බලා ඇති ඩී. බී. දිසානායක මහතා එම ධුරයට පත්විය. මලියදේවයට ඇතුල්වී උසස් අධ්‍යාපනයක් ලබාගැනීමට බලාපොරොත්තු වන දරුවන් ගෙන් තවත් කීපදෙනෙකුගේවත් අපේක්ෂාවන් සපුරාලීමට හැකි වන පිණිස තවතවත් ගොඩනැගිලි ඉදිකිරීම ඒ මහතාගේ උත්සාහය විය. එහි ප්‍රතිඵලයක් වශයෙන් නව ගොඩනැගිලි ඉදිකිරීමේ සැලැස්මක් ඒ මහතා විසින් ගුරු දෙගුරුසමිතියට ඉදිරිපත් කොට සම්මත කරගන්නා ලදී. එම සැලැස්ම අනුව අභිනවයෙන් සෑදීමට බලාපොරොත්තු වන පන්ති කාමර වලින් 11 ක වැඩ දැනට අවසන් කර ඒවායේ පන්තිද පවත්වාගෙන යනු ලැබේ. රසායනාගාරය පුළුල් කිරීමේ වැඩ පිළිවෙල යටතේ තවත් කාමර තුනක් සාදා ඇති අතර සාමාන්‍ය විද්‍යාව ඉගැන්වීමද අභිනවයෙන්ම අරඹා ඇත. ගොඩනැගිලි සෑදීම පිළිබඳ සැලැස්මේ තෙවැනි පියවර සම්පූර්ණ වූ විට කාර්මික අංශයක්ද ඇරඹීමට තීරණය කරගෙන ඇති අභිනව විද්‍යාලයාධිපතිවරයා පුස්තකාලය වැඩි දියුණු කිරීම හා ශිෂ්‍ය නිවාසයට සපිර ජල සම්පාදන ක්‍රමයක් යෙදීම හා දැනටම අවසන් කර තිබේ.

ක්‍රීඩාංගනය ලොකු කිරීමට හා එහි මණ්ඩපයක් ඉදිකිරීමටද තීරණය කර ඇත. නව විද්‍යාලයාධිපතිවරයා විසින් මෙතෙක් කර ඇති වැඩ පිළිබඳව රජයෙන් දීමට පොරොන්දු වී ඇති රු: 40,900 යෙන් රු: 30,000 ක් 1963 – 1964 අය වැය ලේඛනයෙන් වෙන්කොට තිබේ. දැන් මලියදේවයේ ඉගෙනීම ලබන ශිෂ්‍යයන්ගේ සංඛ්‍යාව 1500 කි.

ටී. බී. ජයසේකර,
පී. බී. බස්නායක.



බෞද්ධ අධ්‍යාපනයට පණදුන්

# "ඕල්කට් තුමා"

මලියදේව මහා විද්‍යාලයයේ උප විද්‍යාලයාධිපති
**පණ්ඩිත දික්වෙල පියනන්ද**
(ඇම්. ඒ. ලංඩන්; අධ්‍යාපන ඩිප්ලෝමා ලංකා)
**මහා ස්ථවිරයන් වහන්සේ විසිනි.**

**හැත්තෑපස්වසකට පෙර**

හැත්තෑපස් වසකට පෙර මේ ලක්දිව අදට වඩා බොහෝ වෙනස් වූවක් විය. එදා ආණ්ඩුව ඉංග්‍රීසිය. රාජ්‍ය භාෂාව ඉංග්‍රීසිය. අධ්‍යාපනය කතෝලිකය. පාදිලි උන්නාන්සේ දිව්‍ය පුත්‍රය. බුදුරජාණන්වහන්සේ ඛූඩාය. භික්ෂුව බුඩ්ඩ පුත්‍රය. විශ්ව විද්‍යාල එංගලන්තයේය. ඒවාට ශිෂ්‍යයන් යවන විදුහල් කතෝලිකය. එම විදුහලක සිංහල වචනයක් කථාකිරීම මුදලින් දඬුවම් ලැබෙන වරදකි. වැදගත් සබාවක සිංහලයාට සිංහල දන්නා බව හෙළිවීම නින්දාවකි. කලිසම ඇඳගත් සිංහලයන් සිංහලයන් පමණක් සිටින රැස්වීමක වුවත් කතාකළේ ඉංග්‍රීසියෙනි. කළිසම හැඳ සිංහල කතාකිරීම මඩිකමක් විය. උසාවියේ සිංහල නඩුකාරයෙකු හා සිංහල නීතිඥයන් ඉදිරිපිට පැමිණිලි, විත්ති, සාක්ෂි තුන් පක්ෂයම සිංහල වුවත්ගේ ඉංග්‍රීසියෙන් ඇසෙන නඩුව එම සිංහලයන්ට සිංහල කර දුන්නේ ජා ජාතික වූ හෝ මුස්ලිම් ජාතික වූ හෝ තෝල්කයකු විසිනි. සිංහලයන්ගේ රැස්වීම්වල කලිසම ඇඳගත් සිංහලයන් ඉංග්‍රීසියෙන් කතාවආරම්භයේ තම මව්බස තමා නොදන්නාබව ආඩම්බරයෙන් ප්‍රසිද්ධියේ කියමිනි. එදා තැපැල් කන්තෝරුවල හෝ ආණ්ඩුවේ කාර්‍යාලයක හෝ උසාවියක හෝ සිංහලෙන් කළ හැකි කිසිවක් නොවීය.

**නම සහ ඇඳුම**

සිංහල දෙමව්පියෝ තම දරුවන්ට අනාගතයෙහි තැනක් නොලැබෙතැයි තම දරුවන්ට සිංහල නම් තැබීමට බිය වූහ. ප්‍රනාන්දු, දබ්රේරා, කබ්රාල්, දල්පතාදු වැනි පෘතුගීසි නම්ද, සිල්වා, පෙරේරා, සිල්වා වැනි ලන්දේසි නම්ද, ජෝර්ජ්, එඩ්වර්ඩ්, හෙන්ද්‍රික්, පාවුලු, පීතර වැනි ඉංග්‍රීසි නම්ද සිංහලයාගේ නම් විය. සිංහලයාට සිංහල කියා ඇඳුමක් නොවීය. ගැහැණු පිරිමි දෙගොල්ලම නමින් මෙන්ම ඇඳුමෙන් ද නුවණැතියන් හිනස්සන තරම් විසම වූහ. උසස් යයි සම්මත සිංහලයා කලිසම ඇඳගත් ඉංග්‍රීසිය පමණක් කතාකරන ක්‍රිස්තු-භක්තිකයෙක් විය. සිංහල කාගේත් ජීවිත පරමාර්ථය වූයේ මෙබඳු කෙනෙකු වීමය. ඒ ඉංග්‍රීසි සිංහලයෝ ඔවුන් අතර මහත්වරු වූහ. රටවැසියා හා දිළිඳු නෑදෑයින් ඉදිරියෙහි ඔවුහු හාමුදුරුවරු වූහ. ඉංග්‍රීසියෙන් කතා කළ නොහැකි එහෙත් ටිකක් ධනය හෝ තනතුරු තිබූ සිංහලයා කලිසම ඇඳ එයද යටින් පෙනෙන සේ කොට රෙද්දක් ඇන්දේය. අනගාරික ධර්මපාල තුමා මොවුන් හැඳින්වූයේ "රෙද්ද අස්සේ මහත්තුරුන්" හැටියටය. ඉතිරි සිංහලයෝ ජා ඇඳුමෙන් හෝ මුස්ලිම් ඇඳුමෙන් හෝ දෙමළ ඇඳුමෙන් හෝ මේ හැම එකක්ම මිශ්‍ර කරගත් ඇඳුමකින් හෝ පෙනී සිටියෝය.

**රට සිංහලයෝ**

මෙ රට කම, තමන්ගේකම නිගාවට හේතු වූ ඒ කාලයෙහි හොඳ කෑම රට කෑම විය. හොඳ හාල් රට හාල් විය. හොඳ සිරිත් රට සිරිත් විය. හොඳ සත්තු රට සත්තු වූහ. හොඳ ගස් රට ගස් විය. හොඳ පලතුරු රට පලතුරු විය. මේ සම්මතය අනුව හොඳ සිංහලයෝ ද රට නමින්, රට ඇඳුමින්, රට සිරිතින්, පෙණුන, රට කෑම



වර්තමාන බෞද්ධ අධ්‍යාපනයේ පීතෘවරයාණෝ.

**ඕල්කොට් තුමා.**

කෑ, රට භාෂාවක් කතාකළ, රට ආගමක් ඇදහූ රට සිංහලයන් වීමට මහන්සි ගත්හ. ඔවුහු අනිත් සිංහලයන් පිළිකුල් කළහ. රට සිංහලයන් තැනූ දිව්‍ය පුත්‍රයෝ මැවුම්කාර දෙවියන් වහන්සේගේ සර්වසාධාරණ නීතිය ම්ලේච්ඡ ජාතියක් නගාසිටුවීමට තම ශක්ති ප්‍රමාණයෙන් ඉටු කරන ලදැයි ආඩම්බර වූහ. රට සිංහලයන් ඇතිකිරීමට නොමසුරුව විය-දම් කළ ඉංග්‍රීසි ආණ්ඩුව ම්ලේච්ඡ ජාතියක් වෙනුවෙන් තමන්ගෙන් ඉටුවූ සාධාරණත්වය ගැන ආඩම්බර විය. එදා අධ්‍යාපනය රට සිංහලයන් මැවීමටත් මෙරට සිංහලයන් නැසීමටත් විධිමත් ලෙස පිළිවෙළ වූවක්විය.

## වෙළඳ මහත්වරු

ඒ කාලයේ සිංහල බෞද්ධයාට තම ආගම වෙනස් කරගත්තේ නැතිව උසස් අධ්‍යාපනයක් ලැබීමට හෝ පඩි වැඩි රක්ෂාව-කට සුදුසු වීමට හෝ මොනම මගක්වත් නොවීය. එදා ඉංග්‍රීසි උගත් එකම සිංහල-යෙක්වත් බෞද්ධයන් අතරේ නොවීය. සාමාන්‍ය ජනයා අතරට ඉංග්‍රීසිය පැතිරී සුලභවේය සි බියෙන් ගිහියන් දියුණුකිරීම සඳහා ඉගැන්වීමට සුදුසු කිසිම විෂයයක් ගැන දැනීමක් භික්ෂුවට නොලැබෙන සේ භික්ෂූන් ඈත් කළහ. විදෙශිකත්වයෙන් සියයට සියයක් පිරී තිබුණු කොළඹ මේ කාලයේ දෙන් කරෝලිස් හේවාවිතාරණ, ආබ්‍රෙව්, ඇන්. සී. ප්‍රනාන්දු, පේද්‍රිස් සහෝ-දරයෝ, ජේ. ඩී. ප්‍රනාන්දු වැනි අමාරුවෙන් ටිකක් දියුණු වූ බෞද්ධ වෙළෙන්දෝ කිප දෙනෙක් සිටියහ. බෞද්ධ හඬක් නොතිබූ කොළඹ පළමුවරට බෞද්ධ හඬක් ඇතිකළේ ඒ වෙළඳ මහතුන්ය.

## පිරිවෙන් හා සංඝ පීතෘවරයෝ

කොළඹ බෞද්ධ වෙළඳ මහතුන්ගේ නිස උසවීමෙන් පිබිදුනේ බෞද්ධ භික්ෂූන් ය. තමන් දන්නා තරමින් උගත්වන්ටත් ප්‍රසිද්ධ කථා පැවැත්වීමටත් භික්ෂුහු ඉදිරිපත් වූහ. බෞද්ධ ධනවත් වෙළෙන්දෝද ධනවත් ගැමියෝද භික්ෂූන්ට සම්පූර්ණ සහයෝගය දුන්හ. රත්මලානේ පරමධම්මචේතිය පිරිවෙන, කොළඹ මාලිගාකන්දේ විද්‍යෝදය පිරිවෙන, පෑලියගොඩ විද්‍යාලංකාර පිරිවෙන යන සුප්‍රසිද්ධ පිරිවෙන් එම ගිහි පැවිදි සහයෝග-යේ ප්‍රතිඵලය විය. වලානේ ශ්‍රී ධර්මානන්ද නාහිමි, හික්කඩුවේ ශ්‍රී සුමංගල නාහිමි, රත්මලානේ ශ්‍රී ධර්මාලෝක නාහිමි, රත්මලානේ ශ්‍රී ධර්මාරාම නාහිමි වැනි මහා පරිවෙණාධිපති වරයන්ද, වස්කඩුවේ ශ්‍රී සුභූති නාහිමි, වැලිගම ශ්‍රී සුමංගල නාහිමි වැනි මහා උගතුන්ද, වාදීභසිංහ මොහොට්ටිවත්තේ ශ්‍රී ගුණානන්ද හිමි, බත්තරමුල්ලේ ශ්‍රී සුභූති හිමි වැනි මහා වාදීන්ද බිහිවීමට ඉහතකී බෞද්ධ ප්‍රබෝධය හේතු විය.

## ආගම්වාද

පිරිවෙන් තුන නිසා නැගගිය බෞද්ධ ප්‍රබෝධය බෞද්ධ ගිහිපැවිදි දෙපක්ෂය වඩ වඩා ලංකෙළේය. බෞද්ධ බලය මෙසේ හෙමින් හෙමින් වැඩෙත්ම කතිකා භික්ෂූන් තුළ ක්‍රිස්තියානියට විරුද්ධව කථා කිරීමේ ධෛර්‍යයද වැඩි ගියේය. මේ බෞද්ධ ප්‍රබෝධයේ විදෙශයන්හි පවා පැතිරගිය ප්‍රතිඵලය වූයේ බෞද්ධ පූජ්‍ය පක්ෂයත් ක්‍රිස්තියානි පූජක පක්ෂයත් අතර ප්‍රසිද්ධ ආගම්වාද කිපයක් ඇතිවීමය. පානදුරයෙහි මෙසේ කෙරුණ විසාලම වාදය පානදුරා වාදය නමින් ප්‍රසිද්ධය. මේ වාදය පිළිබඳ තොරතුරු යුරෝපයේ හා ඇමෙරිකාවේ පත්‍රවලද පළවිය.

## ඕල්කට් වීරයා

පානදුරා වාදයෙන් ඇති වූ වැදගත්ම ප්‍රතිඵලය නම් කර්නල් හෙන්රි ස්ටීල් ඕල්කට් නම් ඇමෙරිකානු යුද්ධ නායකයා පෙරදිග ගැලවුම් කරු වශයෙන් පෙරදිගට ලැබීමයි. උපතින්ම මහා පුරුෂයකු වූ ඕල්කට් මහතා තම ජීවිතයේ සඞ්ඛ්‍යා සමය යුද්ධ නායකයකු වශයෙන් නොව සාම සමය නායකයකු වශයෙන් ගත කරන අදහසින් පරම විඥානාර්ථ-වාදය නමින් හැම ආගමකම ඇති සාරවත් චින්තාව පරීක්ෂා කිරීමේ ව්‍යාපාරයක් ඇතිකෙළේය. ලක්දිව පානදුරා වාදය ගැන එතුමාට කියවන්ට ලැබුණේ මෙසේ ලෝක-යේ එදා පැවති ආගම් වල උතුම් ඉගැන්වීම් සොයමින් සිටියදීය.

## ධර්මාශෝක පුනරවතාරය

ධර්මාශෝක රාජාධිරාජයාගේ පුනරවතාරයකැයි කිවයුතු ඕල්කට් තුමා මහත් යුද්ධකොට විජයශ්‍රීය ලබා අවසානයෙහි යුද්ධය ගැන කලකිරී බුද්ධධර්මය ගැන පානදුරා වාද විස්තරයෙන් ඇසූ විගසම බෞද්ධයකු වීමේ මහත් ආසාව ඇතිකරගත්තේය. ඒ අනුව හෙතෙම ස්වකීය ප්‍රධාන ධර්ම සහකාරිය වූ රුෂියන් ජාතික බ්ලැවට්ස්කි මැතිණියද සමග බෞද්ධවීමේ අදහසින් ලක්දිව බලා පිටත්විය. පළමුව ඉන්දියාවට ගොඩබට මේ දෙපොළ එහි තොරතුරු ද එක්තරා ප්‍රමාණයකට තේරුම් ගෙන පිරිසුදු බුදු දහම ආරක්ෂාවන ලෝකයේ එකම දිවයින වන ලක්දිවට 1880 මැයි මස 17 වෙනිදා ගාලු වරායෙන් ගොඩබැස්සාහ. එම මැයි මස 25 වෙනි දින ගාල්ලේ වැලිවත්තේ විජයානන්දාරාම යේදී රාමඤ්ඤනිකායේ ගරු කටයුතු අක්මීමන ධර්මාරාම මහාස්ථවිර ස්වාමිපාදයන් වහන්සේ වෙත ගොස් පංචසීලය සමාදන්ව දෙපළම බෞද්ධ වූහ. එදින එහිදී එසේ බෞද්ධ වූ බව කියවෙන එතුමාගේ අත් අකුරින් ඉංග්‍රීසියෙන් ලියා දෙපළම අත්සන් තැබූ ලියවිල්ල අදත් ඒ විහාරයෙහි සුරක්ෂිතව තිබේ.

## මහා අධිෂ්ඨානය

ඇමෙරිකානු ජාතික විමුක්තියේ වීරයකු වූ ඕල්කට්තුමාට ක්‍රිස්තියානීන්ගෙන් හා ඉංග්‍රීසි අධිරාජ්‍යයෙන් පෙරදිගට සිදුවී ඇති ඛෙදවාචකය පෙරදිගට පැමිණි වහාම තේරුම් ගත හැකි විය. පෙරදිග ගැන ඔහුගේ ළය කම්පා විය. ආසාකළ ආගමික බෞද්ධ විවේක ජීවිතය ගැන බලාපොරොත්තු හෙතෙම පැත්තකට දැමීය. ජාතික වූද, ආගමික වූද, නිදහස පෙර දිගට ලබා දෙවීමට තම ඉතිරි ජීවිත කාලය සම්පූර්ණයෙන්ම කැපකිරීමට තදින් අධිෂ්ඨාන කරගත්තේය. බුද්ධාගම උපන් රටවූ ඉන්දියාවත්, බුද්ධාගම මෙතෙක් දිගු කලක් රැකි ලංකාවත් එතුමාගේ ප්‍රධාන ඉලක්ක දෙක විය. තම අධිෂ්ඨානය ක්‍රියාවේ යෙදවීමේ ප්‍රධාන මධ්‍යස්ථානය වශයෙන් මද්‍රාසියේ අඩ්‍යාරය තෝරා ගන්නා ලදී. එහි විශාල ඉඩමක් මිලට ගෙන ප්‍රධාන කාර්යාලය පිහිටුවන ලදී.

ඉන්දියාවේ කටයුතු බ්ලැවට්ස්කි මැතිණියට පවරා ලංකාවේ වැඩ තම අතටගත් ඕල්කට් තුමා 1880 මැයි මාසයේදීම කොළඹ බෞද්ධ පරම විඥානාර්ථ සමාගම පිහිටුවීය. එය අරඹන ලද්දේ දැන් පිටකොටුවේ ඇති බෞද්ධ මන්දිරය පිටුපසින් මිලට ගත් කුඩා ගොඩනැගිල්ලකය. එහි ළඟිලඟියේ මුද්‍රණ යන්ත්‍රයක් සවිකොට සිංහල බෞද්ධයාට කරුණු කීම සඳහා ලක්දිව ඇතිවූ ප්‍රථම සිංහල ප්‍රවෘත්ති පත්‍රය වූ **සරසවි සඳරැස** මුද්‍රණය කරවන ලදී. දූරදර්ශී නිර්භීත ප්‍රබල නායකයකු නැති දුකින් ළතවෙමින් සිටි ප්‍රධාන භික්ෂූන් වහන්සේලාද සිංහල වෙළෙන්දෝද පියා වෙත දුවන දරුවන් මෙන් ඕල්කට් තුමා ස්නෙහයෙන් පිළිගත්හ.

හික්කඩුවේ සිරි සුමංගල නාහිමි, දොන් කරෝලිස් හේවාවිතාරණ වෙළෙඳ මහතා වැනි තම සිංහල හිතවතුන් පිරිවරා ගෙන නගරයෙන් නගරයට ගමින් ගමට යමින් බෞද්ධයාට සිදු වී ඇති විපතත් බෞද්ධයා විසින් කළයුතු දෙයත් ගැන ඕල්කට් තුමා රටට කතාකරන්ටද ස ඳ රැ ස පත්‍රයෙන් අදහස් දෙන්ටද පටන් ගත්තේය. පසුව අනගාරික ධර්මපාල නමින් ප්‍රසිද්ධ වූ දොන් ඩේවිඩ් හේවාවිතාරණ තරුණයාත්, පසුව මියුසියස් විද්‍යාලය ඇතිකොට එහි ආරක්ෂාව හා දියුණුව සඳහා මුළු ජීවිතය කැපකළ ආබ්‍රෙම් තරුණයාත් දෙදෙනා ඒදෙපොළගේ පියවරුන් විසින් ඕල්කට් තුමාගේ ජාතික විමුක්ති සේවය සඳහා එකම දින කැඳවා ගෙන වුත් එතුමාට පූජා කරන ලද්දෝ වූහ. ඉන්දියාවේ බ්ලැවට්ස්කි මැතිණිය නිසා ඇනී බැසන්ට්, ජිනරාජදාස, කෘෂ්ණමූර්ති වැනි ශ්‍රේෂ්ඨ ජීවිත ඇති විය. ලංකාවේ ඕල්කට් තුමා නිසා අනගාරික ධර්මපාල, වලිසිංහ හරිශ්චන්ද්‍ර, දෙවප්‍රිය වලිසිංහ වැනි ශ්‍රේෂ්ඨ ජීවිත ඇති විය.

## බෞද්ධ පාසැල්

බෞද්ධ තත්වය ලක්දිව නගා සිටුවා ජාතික හැඟීම දියුණු කරවන්ට නම් බෞද්ධ දරුවන් සඳහා උසස් පාඨශාලා ඇතිනොකර බැරි බව තේරුම් ගත් ඕල්කට් තුමා බෞද්ධ

බාලකයන් සඳහා කොළඹ ආනන්ද විද්‍යාලයද, ගාල්ලේ මහින්ද විද්‍යාලයද, මහනුවර ධර්මරාජ විද්‍යාලයද, ගම්පොල ජිනරාජ විද්‍යාලයද, කුරුණෑගල මලියදෙව විද්‍යාලයද, බෞද්ධ බාලිකාවන් සඳහා මුලදී සංඝමිත්තා පාසැල නමින් ඇරඹුණ මියුසියස් විද්‍යාලයද ඇතිකෙළේය. මහින්ද විද්‍යාලයාධිපතිව සිටි වුඩ්වඩ් නම් ඉංග්‍රීසි මහතාද, මියුසියස් විද්‍යාලයාධිපතිව සිටි ජර්මන් ජාතික මරී මියුසියස් හිගින්ස් මැතිණියද ලක්දිවට ගෙන්වා ගන්නා ලද්දේ ඕල්කට් මහතා විසිනි. ගල්කිස්සේ ශාන්ත තෝමස් විද්‍යාලයේ බුල්ජන්ස් මහතා ඕල්කට් තුමා කෙරෙහි පැහැදී ආනන්ද විද්‍යාලයේ ප්‍රධානත්වය භාර ගත්තේ ක්‍රිස්තියානික විරුද්ධත්වය ගැන ද නොසලකමිනි.

## කුරුණෑගල පාසැල

බෞද්ධ පාසැලක් කුරුණෑගල පිහිටුවීමේ අදහසින් පැමිණි ඕල්කට් තුමාට රැස්වීමක් පවත්වන්ට තැනක් එදා කුරුණෑගල නගරය දුන්නේ නැත. එහෙත් එදා සිටි බෞද්ධ කීපදෙනා නගරයේ විරුද්ධත්වය නොසලකා සටන් කොට බෝධිරාජ මාවතේ බස් නැවතුම් පල ඉදිරියෙහි අද සිල්ලර කඩයක් වූ කුඩා ගොඩනැගිල්ල ඉදිරිපිට එළිමහනේ ඕල්කට් තුමා පිළිගත්හ. අද කුරුණෑගල මලියදෙව මහා විද්‍යාලය එදා කුරුණෑගල උසස් ඉංග්‍රීසි පාසැල නමින් අරඹන ලද්දේ ඕල්කට් තුමා පිළිගත් භූමිය වූ ඒ කුඩා ගොඩනැගිල්ලෙහිය.

ඉන්දියාවේ ගෝඛලේ, චිත්‍රරංජන්දාස්, මහත්මා ගාන්ධි, අලි සහෝදරයන්, රාජගොපාලාචාරි වැනි දේශපාලන ජනනායකයන් ඇතිවූයේ ඕල්කට් බ්ලැවට්ස්කි දෙපලගේ ඉන්දියාව පිබිදවීමේ ප්‍රතිඵලයක් වශයෙනි. ලංකාවේ බෞද්ධ පරමවිඥානාර්ථ සමාගම, ලංකා ජාතික සංගමය, මහාබෝධි සමාගම කොළඹ තරුණ බෞද්ධ සංගමය වැනි සංස්ථාවන් ඇතිවූයේ ඕල්කට් තුමා විසින් ලංකාව පුබුදුවනු ලැබීමේ ප්‍රතිඵලයක් වශයෙනි. එපමණක් නොව ෂට් වර්ණ බෞද්ධ කොඩිය, බෞද්ධ රෙජිස්ට්‍රාර් වරුන් ඇතිවීම, බෞද්ධ පාසැල් ඇතිවීම, වෙසක් පොහෝ දින ලංකාණ්ඩුවේ නිවාඩු දිනයක් වීම යන මේවාද ඕල්කට් තුමා නිසා ඇතිවූ ඒවාය.

## ලෝක සේවය

ඕල්කට් තුමා සවකීය ජීවිතයේ අග අවුරුදු 26 ම පෙරදිග රටවල් පිබිදවීම සඳහාම කැප කෙළේය. ඒ අතරම ජපන්, කොරියා, සියම්, බුරුම, ජාවා වැනි රටවලටද එංගලන්තය, ප්‍රංශය, ස්කොට්ලන්තය, අයර්ලන්තය, ඇමෙරිකාව වැනි රටවලටද වරින්වර ගොස් බුද්ධාගම ඒ රටවලද ජනප්‍රිය කෙළේය. පෙරදිග ජාතික ආගමික ප්‍රබෝධයේ පියාවූද, අපරදිගට බුද්ධාගම හැඳින්වූ ප්‍රථම යුරෝපීය ජාතිකයා වූද, මේ නර ශ්‍රේෂ්ඨයා 1906 දෙසැම්බර් මස 17 වෙනි දින අද්‍යාර්හි පරම විඥානාර්ථසභා ගොඩනැගිල්ලේ උඩුමහලේදී දිවංගත විය. එදා පැවති බොහෝ දේ අද වෙනස්වී ඇත්තේ ඕල්කට් තුමා නිසාය. එතුමා පැමිණ අවුරුදු 75 ක් ගතවන්ට පෙර ලක්දිව ආණ්ඩුව පවා මහජනයාට ලැබිණ.

එතුමා කළ ශ්‍රේෂ්ඨ සේවයන්ගේ ප්‍රතිඵල අද ප්‍රීතියෙන් භුක්ති විඳින අපිද අපේ අනාගත පරම්පරාවන්ද විශේෂයෙන් එතුමා පිහිටුවූ විදුහල් වල හැමදෙනද එතුමාට ණයගැති වෙමු. ශ්‍රීමත් කර්නල් එච්. ඇස්. ඕල්කට් තුමා කුරුණෑගලට කළ සේවයෙන් හැත්තෑපස් වසරකට පසු අදද අපි පසුගිය අවුරුදු 75 තුළදී මෙන්ම එතුමා භක්තියෙන් සිහිකරමින්, පින්දෙමින්, ගුණ ගයමින් එතුමාට නිවන් සැප ලැබේවායි පතමු.

# අපේ කාලේ

කුරුණෑගල නියෝජ්‍ය නගරාධිපති හා හදිසි මරණ පරීක්ෂක සමාදාන විනිශ්චයකාර
නිල තොලත් මහේසත්‍රාත්වර

ඩබ්ලිව්. ඇල්. ජෝර්ජ් ජයසිංහ මහතා විසිනි.

---

අපේ කාලේ යනුවෙන් අදහස් කරන්නේ මා මලියදේව විද්‍යාලයේ ශිෂ්‍යයකු වශයෙන් අද්ධ්‍යාපනය ලැබූ සමයයි. ක්‍රිස්තු වර්ෂ 1905 සිට ක්‍රිස්තු වර්ෂ 1915 පමණ දක්වා වූ අවුරුදු කීපය මේ සමයට අයත්ය. ඒ කාලයේ මෙම විදුහල හැඳින්වූණේ කුරුණෑගල බෞද්ධ ඉංග්‍රීසි පාසැල යනුවෙනි. පාසැල පාලනය වුණේ කුරුණෑගල පරම විඥානාර්ථ බෞද්ධ සමාගම මගිනි.

සමිතියේ සභාපති ධූරය දැරුවේ ඇස්. ඇන්. ඩබ්ලිව්. හුලුගල්ලේ අධිකාරම්තුමාය. නොතාරිස් තැන්පත් ඒ. ඇම්. අබේගුණරත්න මැතිතුමා පාසැලේ කළමනාකරු විය. කොණ්ඩය බැඳි කෙනෙකුද සහිතව ගුරු මණ්ඩලය පස් දෙනෙකුගෙන් සමන්විතවූ අතර කැම්බල් නමැති මහතා ප්‍රධානාචාර්යවරයා විය. උප ප්‍රධානියා වශයෙන් කටයුතු කෙළේ දැනට බොරැල්ලේ පාර්ලිමේන්තු මන්ත්‍රී දෙස්තර සිල්වා මහතාගේ පියාණන් වන ඩබ්ලිව්. ජී. ද සිල්වා මහතාය. අවුරුදු 6 ක් පමණ මෙම පාසැලේ සේවය කළ ඩබ්ලිව්. ජී. ද සිල්වා මහතා ගුරු මණ්ඩලය අතර කැපී පෙණුනු කාගේත් සිත් දිනාගත් පුද්ගලයා විය. පාසැල කෙරෙහිත් එහි ඉගෙනීම ලැබූ ශිෂ්‍යයන් කෙරෙහිත් ලොකු සැලකිල්ලක් දක්වා කටයුතු කළ ඒ මහතා කෙරෙහිද සෑම ශිෂ්‍යයෙකුම දැක්වූයේ ඉමහත් බියකි. ලොකු ගෞරවයකි.

අලුත් ශිෂ්‍යයන් පාසැලට ඇතුල්කර ගැනීම පිණිසත් දිනපතා පාසැලට නොපැමිණෙන ශිෂ්‍යයන් ගැන සොයා බැලීම සඳහාත් නිතරම වාගේ ගෙන් ගෙට යෑම සිල්වා මහතාගේ සිරිත විය. ඇත්ත වශයෙන්ම සියතොත් පාසැල කෙරේ බලවත් ආදරයකින් යුක්තව ප්‍රධානාචාර්යවරයා හැටියටම වාගේ කටයුතු කෙළේ ඒ මහතාය. ශිෂ්‍යයින් අතර ඇතිවුණු නොයෙකුත් නඩු හබ අසා ඒවා විසඳුවේද සිල්වා මහතා විසිනි.

මේ කාලයේ දෙවැන්නේ හෝ තෙවැන්නේ හෝ අද්ධ්‍යාපනය ලැබූ එක් ශිෂ්‍යයෙකු රා බී රතුඑණු කා පාසැලට පැමිණ ඇති බව දිනක් අනාවරණය විය. සිල්වා මහතා විසින් ඔහු පාසැලෙන් නෙරපා හරින ලදී. මේ ලිපිය ලියන මා සුරා පානයෙන් සම්පූර්ණයෙන්ම වැලකී සිටින්නේ මේ දඬුවම දැකීම නිසා විය හැකියයි මම සිතමි.

තවත් එක් ශිෂ්‍යයකු සිගරැට් බොන බව කවුරුත් දැන සිටියහ. එහෙත් කිසිවකුට එය අල්ලා ගැනීමට නොහැකි විය. මේ ගැන සොයා බලා ඔත්තුවක් දෙන ලෙස සිල්වා මහතා මට කියා තිබිණි. දිනක් මේ ශිෂ්‍යයා වැසිකිළියට ගියේය. මම තාප්පයට උඩින් එබී බැලීමි. ඔහු සිගරැට්ටුවක් දල්වා දුම් බී එය නිවා ඉතිරි කෑල්ල සඟවා ගත් හැටි මම දුටිමි. වහාම දුව ගොස් ඒ ගැන සිල්වා මහතාට දැනුම් දුනිමි. සිල්වා මහතා බඩුත් සමග හොරු

උසටම අල්වා ගත්තේය. බිම වැලි දමා ඒ මත දණ ගස්වා තැබීමෙන් ඔහුට දඬුවම් පමුණුවන ලදී. කිසිම වැඩක් ගැන කිසිම සැලකිල්ලක් නොදක්වූමේ ශිෂ්‍යයා කවුරුත් පුදුමයට පත් කරවමින් වර්ෂය අවසානයේ පැවැත්වූ පරීක්ෂණයේදී සෑම විෂයයකින්ම දක්ෂ ලෙස සමත් විය. ඒ නිසාම සිල්වා මහතාගේ විශේෂ ආදරයටද ලක් විය.

අද මෙන් නොව පරීක්ෂකවරයෙකු පාසැලට පැමිණ වාර්ෂික පරීක්ෂණය පැවැත්වීම එදා සිරිත විය. එක් වර්ෂයකදී පහළ පන්තියක ශිෂ්‍යයෙකුගෙන් 9 යෙන් 5 ක් ? යන ප්‍රශ්නය පරීක්ෂකවරයා ඉංග්‍රීසියෙන් ඇසීය. ශිෂ්‍යයා වට පිට බලන්නට විය. පරීක්ෂකවරයාගේ පිටු පසින් සිටි ගුරු මහතෙක් දකුණත ඔසවා එක් ඇඟිල්ලක් පෙන්වීය. ශිෂ්‍යයා ගත් කටටම "වන් ෆින්ගර්" හෙවත් එක් ඇඟිල්ලයි, යනුවෙන් පිළිතුරු දුන්නේය. පරීක්ෂකවරයා වටපිට බැලූ නමුත් ඔහුට "හොරේ" අසුවූයේ නැත.

මේ කාලයේද කුරුණෑගල නගරයේ දක්ෂතම ක්‍රිකට් කණ්ඩායම සිටියේ අප පාසැලේය. වරක් අප කණ්ඩායම හා අනිකුත් පාසැල් සිසුන්ගේ ඒකාබද්ධ කණ්ඩායමකුත් අතර ක්‍රිකට් තරඟයක් විය. ඒකාබද්ධ කණ්ඩායමට අයත් වූයේ කොළඹ මහනුවර ආදී නගරවල උසස් විදුහල්වල අධ්‍යාපනය ලබන ප්‍රාදේශීය ශිෂ්‍යයෝය. ශාන්ත තෝමසුන්ගේ විද්‍යාලයේ ශිෂ්‍යයෙක් ඒකාබද්ධ කණ්ඩායමේ නායකයා විය. තමාගේ පිල පරාජය වුවහොත් තමා නැවත ශාන්ත තෝමසුන්ගේ විද්‍යාලයට යන්නේ නැතැයි හෙතෙම තරඟයට පෙර කීයේය. තම පිල පරාජය වුවහොත් තම ගෙල සිඳගන්නා බව අප කණ්ඩායමේ නායකයා එයට පිළිතුරු වශයෙන් කීවේය. තරඟයෙන් අපට විශිෂ්ඨ ජයක් අත් විය. එහෙත් ඒකාබද්ධ කණ්ඩායමේ නායකයා පොරොන්දුව නම් ඉටු කොළේ නැත.

එදා අප පාසැල පවත්වාගෙන ගියේ දැනට බස් නැවතුම්පල ඇති ස්ථානය අසල තිබෙන තවමත් තරුණ බෞද්ධ සමිතිය සතු කුඩා ගොඩනැගිල්ලෙහිය. ඉගෙනීම ලැබුවේ සුළු ශිෂ්‍ය පිරිසකි. ශිෂ්‍යයින් 100 ක් සම්පූර්ණවූ දිනයේ අපට නිවාඩුවක්ද ලැබිණි. ක්‍රිස්තු වර්ෂ 1909 යේදී පාසැල නුවර පාරේ ඇත්කඳ විහාරය අබියස ඇති ගොඩනැගිලි කරා ගෙන යන ලදී. එතැන් පටන් ශිෂ්‍ය සංඛ්‍යාවද ටිකෙන් ටික වැඩි වන්නට විය. මා පාසැලෙන් අස් වන විට ශිෂ්‍ය සංඛ්‍යාව 200 කට වැඩි විය.



# මලියදේවය බැබලවූ පැරණි විදුහල්පතිවරු.

කේ. පි. නිහාල්නන්ද විසිනි.

දෙවෙනි ලෝක සංග්‍රාමය ලෝක ඉතිහාසයට තවත් කරුණු එක් කරන ගමන්ම, මලියදේවයේ ඉතිහාසය නැති කළේය. "මිලේච්ඡයන්" සියගණනකගේ සුබ විහරණය, ශිෂ්‍යයින් දහස් ගණනකගේ ඉගෙනීමට වඩා උසස්වූ හෙයින්, පැය 48 ක් තුළදී එකල විදුහල්පතිතුමා ඇතුළු ශිෂ්‍ය පිරිසට බඩුත් අකුලාගෙන වෙනත් තැනකට යා යුතු විය. හිස ගිනි ගත්තෙකු එගිනි නිවන ලෙස කරන ලද මෙම ගමනේ දී, ඉතා අවශ්‍ය බඩු පමණක් ගෙන ගිය අතර, ගෙන ගිය බඩු තබන්නටද තැනක් නොවූයෙන් පැරණි තොරතුරු අඩංගු ලිය කියවිලි බොහොමයක් නැතිවිය.

එසේ හෙයින් සංස්කාරකයිනට සිදුවූයේ, සහරාව සම්පාදනය කරනවාට වඩා, ඉතිහාසය සෙවීම සඳහා "පරණ විතානාලා" වීමටය. ඒ සඳහා ඊ. එස්. බාලසූරිය, ජෝර්ජ් ජයසිංහ සහ ජිනතිස්ස මඩවල වැනි "කෞතුකාගාර" කාරා යාමට සිදුවිය. එසේ සොයා ගත් කරුණු වලින්, පැරණි විදුහල්පතිවරුන් ගැන තොරතුරු සවල්පයක්, මෙසේ (දුහුනන් දැනුම් සඳහා) පළ කිරීමට අදහස් කරමු.

වන්නිනායක මහතා ගැනත්, ඊට පසු විදුහල්පති තනතුරු දැරූ අය ගැනත් ගැමිදෙනාම පාහේ දන සිටියත් වන්නිනායක මහතාට පෙර සිටි විදුහල්පතිවරුන් ගැන දන්නා පිරිස ගැණීමට මාගේ දෑතේ ඇඟිලි ගණන ප්‍රමාණවත්ය. එනිසා වන්නිනායක මහතාට පෙර සිටි විදුහල්පතිවරුන් ගැන පමණක් මෙහි ඇතුළත් කිරීමට මම අදහස් කරමි.

මලියදේවයේ ප්‍රථම ප්‍රධානාචාර්යවරයා ඩී. බී. මඩවල මහතාය. උත්තුංග දේහ දාරී පුරුෂයෙකුවූ මෙතුමා, ප්‍රධානාචාර්ය ධුරයකට ගැලපෙන පෙනුමකින්ද යුක්ත විය. එකල මලියදේවයේ ප්‍රධානචාර්ය ධුරයට වඩා උසස් තනතුරකට යා හැකි වුවද, එසේ නොගොස්, මෙහිම රැඳී සිටියේ බෞද්ධ අධ්‍යාපනය නැංවීමේ පරම අධිෂ්ඨානයෙනි. නුවර ත්‍රිත්ව විද්‍යාලයේ ආදි ශිෂ්‍යයෙකු වූවද, බෞද්ධ හැඟීමෙන් අඩු නොවූ එතුමා මලියදේවයට පැමිණීමට පෙර උගන්වමින් සිටියේ මහනුවර ධර්මරාජ විද්‍යාලයේය.

මඩවල මහතාගෙන් පසු, දැනට බොරැල්ලේ මන්ත්‍රීතුමාගේ පියා වන ඩබ්ලිව්.. ජී. ද සිල්වා මහතා කලක් ප්‍රධානාචාර්ය ධුරයෙහි වැඩ බැලුවේය. පාසැලේ ක්‍රිකට් ක්‍රීඩාව ඇරඹුනේත්, පාසැලේ මෙහෙයුමෙන් පැවැත්වෙන මිහිඳුපෙරහැර සරු වූනේත් මේ කාලයේ දීය.

ඉන් පසු රාජකීය විද්‍යාලයේ ආචාර්යවරයෙකුව සිටි ඒ. සී. ජී. කැම්බල් මහතා, මලියදේවයෙහි ප්‍රධානාචාර්ය ධුරය බාර ගත්තේය. ඉංග්‍රීසි ජාතිකයෙකු වූ මෙතුමා -ශිෂ්‍යයින්ගේ සිත් දිනාගෙන කටයුතු කළේය. ශිෂ්‍ය සංඛ්‍යාව ඉතා අඩුවූ ඒ කාලයේ කැම්බල් මහතා දිනපතා පැමිණීම වැඩි කිරීමටත්, නවකයන් බඳවා ගැනීමටත් මහත් උත්සාහයක් ගත්තේය. කැම්බල් මහතා තම උපන් දින උත්සවය නිමිත්තෙන් ශිෂ්‍යයින් සඳහා තේ පැන් සංග්‍රහ පවා පැවැත්වූ බැව් කියනු ලැබේ.

කැම්බල් මහතාගෙන් පසු අභිනීතිඥයෙකු වූ පෙරිඹර් සහ ආර්. සභාපති යන මහතුන් දෙදෙන පිළිවෙළින් ප්‍රධානාචාර්ය ධුර දරා ඇත.

පසුව ප්‍රධානාචාර්ය ධුරය, විදුහල්පති ධුරය ලෙසින් හැඳින්වෙන්ට විය.

1918 සිට 1930 දක්වා විද්‍යාලයාධිපති ධුරදැරූ අය කීප දෙනෙක්ම වෙති. මේ හැම දෙනාටම අවුරුදු දෙකකට වඩා කාලයක් විද්‍යාලයාධිපති ධුරය දැරීමට නොහැකි වී ඇත. සමහරුන් දිවි නසාගැනීමත්, සමහරුන් මියයාමත්, තවත් සමහරුන් විශ්‍රාම ගැනීමත් මෙයට හේතුවී ඇත.

මේ ලැයිස්තුවේ මුලටට එන්නේ ඒ. වේදමානික්කම් මහතාය. වේදමානික්කම් මහතා අවුරුදු දෙකක් විද්‍යාලයාධිපති ධුරය දැරූ පසු විශ්‍රාම ලැබීය. පළමුවැනි උපාධිධාරී විද්‍යාලයාධිපතිවරයා වීමේ භාග්‍යය ඒ මහතාට හිමිවෙයි.

ඒ තැන ගැනීමට ඊළඟම පැමිණියේ ජෝන් පෙරේසිරා මහතාය. මේ මහතා සම්බන්ධව රසවත් සිද්ධි කීපයක්ම ඊ. ඇස්. බාලසූරිය මහතා මා සමඟ පැවසීය.

පෙරේසිරා මහතා සෑම දිනම පාසැල පටන් ගැනීමට ප්‍රථම ළමයින් මිදුලේ පෙළ ගස්වයි. ඊළඟට වේවැලක් රැගෙන, "පාසැල් ගාස්තු" එකතු කිරීම සඳහා එක එක ළමයා ළඟට යයි. මුදල් නොගෙවා ඇති ළමයි, "අයි විල් බ්‍රින් ටුමාරෝ" යයි කියති. මුදල් ගෙවූ බැව් ඉංග්‍රීසියෙන් කිව නොහැකි, මුදල් ගෙවූ ශිෂ්‍යයෝ පවා "අයි විල් බ්‍රින් ටුමාරෝ" යයි කියති.

තවද ඔහු ළඟ ඉතා අලංකාර බටලී නළාවක් විය. විවේක කාලයේදී දිවා භෝජනය ගත්තායින් පසු ඔහු ළමයින් කීප දෙනෙකු කැඳවා, ඔහු වටේට පෙළ ගස්වයි. ඉන්පසු ඔහු නළාව පිඹීමට පටන් ගනියි. එවිට ළමයින් ඒ තාලයට අනුව සින්දු කිව යුතුය. නොකියූ ළමයින්ට පහර වදින්නේ නළාවෙන්මය.

පෙරේසිරා මහතා අවුරුදු දෙකකට පසු විශ්‍රාමිලත් හෙයින්, ඊළඟට පැමිණියේ චාල්ස් සිල්වා මහතාය. මලියදේවයේ විදුහල්පතිවරු අතුරෙන් මුලින්ම ජාතික ඇඳුම් ඇන්දේ චාල්ස් සිල්වා මහතාය. ඒ මහතාගෙන් පසුව වුවද කිසිවෙකු ජාතික ඇඳුම් ඇඳ නැති හෙයින්, ජාතික ඇඳුම ඇඳි එකම විදුහල්පතිවරයා වීමේ භාග්‍යය චාල්ස් සිල්වා මහතා සතුය.

පැරණි යුගයේ, රත්තරන් කාලය චාල්ස් සිල්වා මහතාගේ කාලයයි. මලියදේවය "උසස් පාඨශාලාවක්" හැටියට උසස් වූයේ ඒ මහතාගේ කාලයේදීය. ඒ මහතාගේ කාලයේ විතරද රත්තරන් වි... විශ්‍රාම ලැබීමට බොහෝ කල් ඇතද "අවුරුදු දෙකේ සම්ප්‍රදාය" රැකීමට දෝ - ඒ මහතා විද්‍යාලය අසලම ඇති ළිඳකට පැන මැරුණේය.

ඊළඟට විද්‍යාලයාධිපති ධුරයට පත්වූයේ ඒ. බී. අරූර් මහතාය. විද්‍යාලයට නවාංග කීපයක්ම එක්වූයේ ඒ මහතාගේ කාලයේදීය. ශිෂ්‍ය නිවාසය පටන් ගත්තේත්, ප්‍රථම තෑගි බෙදාදීමේ උත්සවය පැවැත්වූයේත්, පළමුවෙන්ම නාට්‍යයක් රඟ දැක්වූයේත් අරූර් මහතාගේ සමයේදීය. එකල ඒ මහතා ලැබුයේ රුපියල් 125 ක පඩියකි. අරූර් මහතා ඒ රුපියල් 125 න් සෑම සතයක්ම පාහේ විද්‍යාලය වෙනුවෙන් වැය කළ බැව් බාලසූරිය මහතා පවසයි. අවුරුදු දෙකක් විද්‍යාලයාධිපති ධුරය දැරීමෙන් පසු අරූර් මහතා මිය ගියේය. මෙවර අවුරුදු දෙකේ සම්ප්‍රදාය රැකීමේ ඕනෑකම තිබුනේ කැවුම කටය. කැවුම් කෑම නිසා හටගත් බඩේ අමාරුවකින්ය, අරූර් මහතා මියගියේ. අරූර් මහතාගේ දේහය - ආදාහනය කළ ඉක්බිති එම අළු ඉන්දියාවේ සිටින එතුමාගේ නෑදෑයින් වෙත යවන ලදී.

ඊළඟට විද්‍යාලයාධිපති ධුරය බාර ගත්තේ පුහුණු ගුරුවරයෙකු වූ බී. විජයරත්නම් මහතාය. විද්‍යාලය දියුණු කිරීමට මහත් ආසාවකින් කටයුතු කළ විජය රත්නම් මහතා සෙනසුරාදා දිනවල පවා පන්ති පවත්වා ඉගැන්වීමේ කටයුතුවල යෙදුනි. ඉහත කී සම්ප්‍රදාය නිසා දෝ විජයරත්නම් මහතා ද අවුරුදු දෙකකට වඩා මලියදේවයේ සිටියේ නැත.

උපාධිධාරියෙකු වූ සී. අමරතුංග මහතා ඊළඟට විද්‍යාලයාධිපතිවරයා ලෙස පත්ව ආයේය. මලියදේවයේ දෙවෙනි උපාධිධාරී විදුහල්පතිවරයා වූ - අමරතුංග මහතාගෙන්ද විද්‍යාලයට ඉමහත් සේවයක් සිදුවිනි. අවුරුදු දෙකේ සම්ප්‍රදායය කැඩීම - වන්නිනායක මහතාට බාරකළ, අමරතුංග මහතා එම සම්ප්‍රදායය රකිමින් විද්‍යාලයෙන් අස්විය.

# මලියදෙවය ගොඩ නැගූ වන්නිනායක.

මලියදෙව විද්‍යාලයට බොහෝ දෙනෙක් තවමත් කියන්නේ වන්නිනායක මහත්මයාගේ ඉස්කෝලය කියායි. මලියදේවය මතක් කරනවාත් සමගම ඇතැමෙක් වන්නිනායක මහතාගේ තොරතුරු විමසති. 'මලියදෙව' 'වන්නිනායක' යන නම් දෙක අතර එතරම්ම සම්බන්ධකමක් තිබේ.

මා මලියදෙවයට ඉගෙනීම සඳහා ඇතුල් වූයේ 1922 ඔක්තෝබර් මාසයේය. ඒ කාලයේ දැන් වාගේ නොව අලුතින් ශිෂ්‍යයන් බඳවාගන්නේ වාර්ෂික පරීක්ෂණයෙන් පසුවය. වාර්ෂික පරීක්ෂණය එකල තිබුනේ සැප්තැම්බර් මාසයේය. මා විද්‍යාලයට ඇතුල් වන කාලයේ සිටියේ ළමයින් අසූ දෙනෙක් පමණය. ගුරු මණ්ඩලය පස් දෙනෙකුගෙන් සමන්විතවිය. එකල සිටි විද්‍යාලයාධිපතිතුමා ඉතා මහළුය. "නාකියා නම් දැන් මැරෙන්ට ඉතා ළඟයි." මෙය අළුතින් ඇතුල්වූ මට නිතරම පරණ ශිෂ්‍යයන්ගෙන් අසන්නට ලැබුන දෙයකි. මහළු විදුහල්පති එවකට අවුරුදු දෙකකට ආසන්න කාලයක් එම තනතුර දරමින් සිටියේය. එකල මලියදේව යේ විදුහල්පතිවරයෙක් අවුරුදු දෙකකට වැඩි කාලයක් කටයුතු කලේ නැත. එක්කෝ අස්වී යනවා. නැතහොත් මැරෙනවා. මා විද්‍යාලයට ඇතුල්වී මාස කීපයකින් මහළු විදුහල්පති අස්වී යන්ට ගියේය. ඊටපසු සෑහෙන කාලයක් ප්‍රධානියෙක් නොමැතිව සිට නැවතත් එවකට කටයුතු කළ කළමනාකාර මහතාගේ බලවත් පරිශ්‍රමය නිසා ඉතා දක්ෂ ප්‍රධානියෙක් සොයාගතහැකිවිය. අවුරුදු දෙකක් යාමට පෙර ඔහු සියදිවි නසාගත්තේය. නැවතත් කෙනෙක් පත්කරන්ට යෙදුනේය. ඔහු අවුරුදු දෙකක් යන්ට කලින් මළේය. නැවතත් කෙනෙක් ආවේය. ඔහුද ගියේය. වෙනත් කෙනෙක් ආවේය. ඔහුත් ගියේය.

මේ කාලයේ මලියදෙවය ඉතා පහත් තත්වයක තිබුන බව අමුතුවෙන් නොකීවාට කියවන්නාට අවබෝධ වනවා ඇත. පළාතේ වැදගත් පවුල්වල ළමයි ගියේ එවකට තරමක් දියුණු තත්වයක තිබුන අබෞද්ධ පාසැල් දෙකටය. යම් හේතුන් උඩ එම විද්‍යාල දෙකට ඇතුල්වීමට නොහැකිවූ අයත් අවට ගම්බද බෞද්ධ දරුවන් කීප දෙනෙකුත් නගරයේ ප්‍රබල බෞද්ධ වැදගත්තුන් අතලොස්සකගේ දරුවනුත් මලියදේවය කරා ආවෝය මලියදෙවය පිරිසර ළමයින් උදෙසා පැවැත් වුනු "ගොඩේ" ඉස්කෝලයක් හැටියටයි වැඩිදෙනා සැලකුවේ.

1929 අවුරුද්දේ දෙසැම්බර් නිවාඩුව දීමට පෙර අලුත් විදුහල්පතිවරයෙක් ජනවාරි මාසයේදී එන බවට රාවයක් ළමයින් අතර පැතුරුනි. ඔහුගේ නම වන්නිනායක යන බවත් කියන්ට යෙදුනේය. ළමයින් අතර නොයෙක් කටකථා පැතිරෙන්ට විය. "කවුද මේ කේන්ද්‍රය නරක්වුන පුද්ගලයා" "ඔයාත් ඇත්කඳ විහාරයේ ලිඳේ ගැඹුර බලයිද" යන ආදී නොයෙක් කථා ඇතිවිය.

1930 ජනවාරි මස පස්වැනිදා නිවාඩු වෙන් පසු පාසැල පටන්ගත්තේය. අලුත් විදුහල්පතිවරයා බලාගැනීම පිණිස එදින ළමෝ වේලාසනින් පැමිණියහ. බොහෝ දෙනා සිතුවේ වන්නිනායක මහත්මයා තරබාරු, රෞද්‍ර බැල්මක් ඇති දිග උඩුරැවුලකින් යුත් අවුරුදු හතලිහක් පණහක් පමණ වයසැති කෙනෙක් කියාය. නමුත් පැමිණියේ වෙනත් අයෙකි. ඉතා සිහින් ශරීරයකින්යුත්, තේජාන්විත බැල්මක් ඇති අවුරුදු විස්සක් පමණ වයසැති තරුණයෙක් ඉතා කල්පනාකාරී සවභාවයකින් පැමිණ පාසැල් කාමරයේ දොර ඇර ඇතුල් විය. ඉතා චාන් ඇඳුම් කට්ටලයකින් සැරසී සිටි මොහු පාසැල් ශිෂ්‍යයකුගේ සවභාවය ඉසිලීය. නව විදුහල්පති ඔහු කියා කිසිවෙක් හිතයකින්වත් සිතුවේ නැත. එකල ඉහල පන්තිවල ඉගෙනගනිමින් සිටි සිසුන්ගෙන්



1930 සිට 1950 දක්වා විදුහල්පති ධූරය දැරුවාවූද, 1954 සිට 1961 දක්වා
කළමණාකාර ධූරය දැරුවාවූද

**යූ. බී. වන්නිනායක මහතා,**

බොහෝ දෙනෙක් අවුරුදු විසිඑක ඉක්මවූ හැඩි දැඩි තරුණයෝ වූහ. බොහෝ දෙනෙක් උඩු රැවුල් කාරයෝය. අලුත් ප්‍රධානියා ගැන ඔවුන් සෑහීමකට පත්වූ බවක් නොපෙනිනා.

ගතවූයේ සවල්ප කාලයකි. ඉතා දක්ෂ අවංක, ප්‍රතිපත්තියෙන් පිරි ප්‍රධාන මහතෙක් පැමිණ සිටිනවාය යන ආරංචිය දස දිග පැතිරෙන්නට විය. මලියදේවයට යහ පත් කල දසාවක් ලැබුනි.

එකල කුරුණෑගල තිබූ සෑම විදුහලකම උසස්ම පන්තිය වූයේ පාඨශාලා හැරයාමේ විභාග පන්තියයි. විද්‍යාලයක දියුණුව මනිනු ලැබුවේ මෙම විභාගයෙන් ලත් සාමාර්ථ අනුවය. මෙම විභාගය වර්ෂයකට දෙවරක් මාර්තු සහ ඔක්තෝබර් යන මාසවල පැවැත් විය. වන්නිනායක මහතා මලියදේවයේ වැඩ භාරගැනීමට පෙර මේ විභාගයෙන් සාමාර්ථය ලත් අය දෙතුන් දෙනෙකුට වඩා සිටියේ නැත. නමුත් 1930 න් පසුව රජය මගින් පවත්වනලද මෙම විභාගයට මලිය දේවයෙන් ඉදිරිපත්කල අපේක්ෂකයන්ගෙන් සියයට හැත්තෑ පස් දෙනෙකුට වඩා |සමර්ථ වීම විශෙෂ අංගයක් වූයේය. මේ නිසාම අවට පාසැල් වලින් ශිෂ්‍යයන් ගලා එන්නට පටන්ගත්තේය. එවකට නුවරපාරේ පිහිටි පාසැල් ගොඩනැගිල්ල පිරීගියෙන් ඉඩ කඩ සැපයීමේ ප්‍රශ්ණයද මතුවිය.

එකම බෞඩ විද්‍යාලයේ හදිසි විපර්යාසය දුටු කුරුණෑගල බෞඩ නායකයෝ වහා ක්‍රියා ශීලී වූහ. ප්‍රදේශයේ බෞඩ දරුවන්ගේ අනාගතය දියුණුව උදාවිය. "බෞඩ දරුවන් බෞඩ පාසැල්වලට යවමු" යන උද්යෝග පාඨය සෑම තැනම රැව් පිළිරැව් දෙන්ට යෙදුනේය. බෞඩයෝ අවදිවූහ. අබෞඩ යෝ භයවූහ. බෞඩ දරුවන් මලියදේවයට රොක්වන්ටවූයෙන් ඉඩකඩ සැ ප යී මේ ප්‍රශ්ණය උග්‍රවිය.

1934 අවුරුද්දේදී පළමුවරට ජ්‍යෙෂ්ඨ විභාග පන්ති සෑම පාසැලකම පටන්ගන්ට යෙදුනේය. ඒ සමගම මලියදේවය වඩාත් ප්‍රසිඩියට පත්විය. සෑම වර්ෂයකම ජ්‍යෙෂ්ඨ විභාගයේ ප්‍රතිඵල අන් සෑම විද්‍යාලයකටම වඩා සතුටුදායක වූ බැවින් ජ්‍යෙෂ්ඨය සමත් වීමටනම් යා යුත්තේ මලියදේවයටය යන්න කවුරුත් දැන සිටියෝය.

ඉගෙනීමේ කටයුතු හැඩගැසුනු වහාම ක්‍රීඩා කටයුතු ගැන උනන්දුවක් දැක්වූ වන්නි නායක මහතා එවකට විද්‍යාලයේ තිබූ එකම ක්‍රීඩාව වූ වොලිබෝල් ක්‍රීඩාව දියුණුකොට පළාතේ ශූරයෝ බවට පත්කරනලදහ. එකල ක්‍රීඩකයෙකු වූ එතුමාද විද්‍යාලයීය කණ්ඩායමේ සාමාජිකයෙක් විය. ඒ හා සමගම පාපන්දු සහ ක්‍රිකට් ආරම්භකර අන්තර් පාඨශාලීය තරගවලින් විශිෂ්ඨ අන්දමින් ජය ලබන්ට සලස්වනලදී. වයඹ පළාතේ අන්තර් පාඨශාලීය මල්ල ක්‍රීඩා තරගවලින්ද මලියදේව ක්‍රීඩකයෝ විශිෂ්ඨ ලෙස ජයග්‍රහනය කළෝය.

නිහතමානිකම, ක්‍රියා ශූරත්වය, සමානාත්මතාවය, කරුණාවන්තකම, එඩිතර භාවය, අවංකකම, දුර දැකීමේ ඥාණය, ඉවසිලිවන්තකම, ඍජුභාවය යනාදිය නිසා මෙතුමා ශිෂ්‍යයන්ට මහත් ආදර්ශයක් විය. ලංකාවේ සතරදිග පැතිරී සිටින මලියදේව ආදී ශිෂ්‍ය සංඛ්‍යාව එතුමා ගැන නිතරම කථා කරන්නේ විශාල ගෞරවයකිනි, ආඩම්බරයකිනි.

නුවරපාරේ පිහිටි ගොඩනැගිල්ලේ ඉඩ කඩ මදිවනවාත් සමගම තරුණ බෞඩ සමිතියේ ආධාරයෙන් මීගමු පාරේ දැනට විද්‍යාලය පිහිටි භූමි භාගයේ ගොඩනැගිලි ඉදිකර 1936 වර්ෂයේදී එහි යාමට හැකිවිය. මලියදේව නාමය ලංකාව පුරා ප්‍රසිඩවූයෙන් දුර බැහැර පළාත්වලින් පවා ශිෂ්‍යයෝ එන්නට වූහ. දෙවන ලෝක යුද්ධය පටන් ගත් අවධියේ පාසැල් ගොඩනැගිලි සහ නේවාසිකාගාරයත් යුද්ධ කටයුතු සඳහා ගන්ට යෙදුනෙන් පැය විසිහතරක් ඇතුලත දී සියලු බඩු බාහිරාදිය උසුලාගෙන පිටවී යන්ට සිදුවිය. මේ සඳහා පාසැල එක දිනක් වත් නොවසා දිගටම ඉගැන්වීමේ කටයුතු ගෙනයාමට හැකිවීම මෙතුමාගේ දක්ෂභාවය පෙන්වන කදිම නිදසුනකි. "මලියදේවශ

ඉවරයි'' කියා විරුද්ධවාදීන් කියන්ට යෙදුනේවී නමුත් දියුණුව කරා එඩිතරව ගමන ආරම්භකරන්ට යෙදුනේ මේ දිනවලය. තැනින් තැන කොටස් වශයෙන් විද්‍යාලය පැවැත්වීමට සිදු වුවත් ඉගෙනීම අතිනුත්, ක්‍රීඩා අතිනුත් කැපී පෙනෙන දියුණුවක් දක්නට තිබුනි. විසිපස් දෙනෙක් පමණ සිටි නේවාසික ශිෂ්‍ය සංඛ්‍යාව අදත් සිටින සංඛ්‍යාව වන එකසිය අසූව දක්වා වැඩිවූයේද මෙම අවාසනාවන්ත කාලසීමාවේදීය. යුද්ධ කාලයේදී ආහාර අතින් කොපමණ දුෂ්කරතා තිබුනත් මලියදේව නේවාසිකයන්ට පුරුදු බත දෙවේලෙහිම දෙන්ට හැකිවූයේ එතුමා පළාතේ වාසීන්ගේ ආදරය සහ විශ්වාසය දිනාගෙන සිටිය නිසා බව කියහැක.

මෙසේ කම්කටොලු රාශියක් මධ්‍යයයේ සාර්ථක අත්දමින් විද්‍යාලය ගෙනයන අවධියේදී පළාත්වාසීන්ගේ බලවත් ඉල්ලීම නිසා මෙතුමාට දේශපාලන භූමියට ඇතුළු වීමට සිදුවිය. එසින් විද්‍යාලයේ දියුණුවට බාධා පැමිණේතැයි ඇතැමෙකු සිතූ නමුත් එවැන්නක් සිදුනොවීය. නොපසුබට උත්සාහය සහ ක්‍රියා ශූරත්වය නිසා දේශපාලනයත්, විද්‍යාල පාලනයත් හොඳින් කරගෙන යාමට හැකිවිය. දේශපාලන භූමියට පිවිසීම නිසා විද්‍යාලයේ දියුණුවට වඩාත් ආධාර ලබාගත හැකිවිය.

1949 දී විශ්‍රාමගත් එතුමා විද්‍යාලයේ පාලක ධුරයට පත්විය. පාලකයෙක් වශයෙන් විද්‍යාලයට අවශ්‍ය ගොඩනැගිලි, රසායනාගාරයක්, ක්‍රීඩා පිට්ටනියක් සහ දක්ෂ ආචාර්ය මණ්ඩලයක් ලබා දෙමින් මලියදේවය අංග සම්පූර්ණ මහා විද්‍යාලයක් කිරීමට අවශ්‍ය ඉතිරි වැඩ කොටසද සම්පූර්ණ කර 1962 දී ලංකාවේ උසස්ම විද්‍යාලයක් වශයෙන් රජයට භාරදෙන්ට යෙදුනේය.

''ලංකාවේ උසස්ම විද්‍යාලය වශයෙන් සලකන කොළඹ රාජකීය විද්‍යාලයේ ආචාර්ය තනතුරක් පිරිනමා තිබියදී එයද අතහැර මා මලියදේව විද්‍යාලයාධිපති තනතුර බාර ගත්තේ මගේ ජන්ම ප්‍රදේශයට යම්කිසි යහපතක් කිරීමේ අභිලාෂයෙනි. මගෙන් යම්කිසි යහපතක් මලියදේවයට සිදුවුනා කියා තමුන්නාන්සේලා කියනවා නම් මා ඒ ගැන සන්තෝෂවෙනවා. අද මා යම්කිසි තත්වයක් ලබා තිබේ නම් එම තත්වය මා ලබා තිබෙන්නේ මලියදේවය නිසා බව මම අවංකව කියන්ට කැමතියි''. මේ වන්නිනායක මහතාට ශුභ පැතීමේ උත්සවයකදී එතුමා විසින් කියන ලද්දකි. වන්නිනායක මහතා කෙසේ වෙතත් මලියදෙවය නම් එතුමා නිසා ගොඩනැගුනු බව පිළිගත් සත්‍යයකි.

– උඩබද්දලව මහා විද්‍යාලයාධිපති,

ඊ. එස්. බාලසූරිය.





කාලයක් කළමණාකාර ධුරය දැරූ

**එච්. කේ. ටී. ද. සිල්වා මහතා.**

# Dr. & Mrs. H. K. T. De ZYLVA

## AN APPRECIATION

It was in 1916 that a young Doctor from Negombo came to Kurunegala and settled down as an assistant to Dr Hoole on a contract for 5 years. For some time the young assistant of Dr. Hoole did not find conditions in Kurunegala quite favourable. The well-to-do families of which Dr. Hoole was the family physician at first did not very much appreciate the services of the young and energetic assistant. But within a short time, this young Doctor had won the hearts of all the clients of Dr. Hoole and his services were in great demand. This young man was the late Dr. H. K. T. de Zylva whose loss, the citizens of Kurunegala and we Maliyadevians have much cause to lament.

In 1921 Dr. Zylva opened up his own Central Dispensary in the town. The young Doctor came into contact with the respected De Soysa family, when he was working with Dr. Hoole. Within a short time he became a family friend. His genia manner and his sterling qualities no doubt endeared him to those with whom he came into contact. It was also during this time that Doctor Zylva met Miss Abeysekara an aunt of Mr. Colin de Soysa and who was destined to become his beloved wife. They married in 1923 much against the wishes of their perents, but it is not the least surprising that the genial young Doctor soon won a place in the hearts of his relations.

Dr. Zylva in his youth was a dashing motor cyclist. This young man who was fast on his machine was never slow in helping any charitable cause which in his opinion needed such help. It is said of Dr. Zylva that he had never attended a school except the Medical College. A man of more than ordinary intelligence, he had studied a number of languages besides his mother tongue. He had studied Pali, Sanskrit, Latin and English and once he had even delivered a public speech in Tamil in the town. He also studied Hindi just before his pilgrimage to India.

It was in 1927 that Maliyadeva felt the benign hand of Dr. Zylva. Mr. Aroor the then Principal of Maliyadeva found in Dr. Zylva, a true friend and great benefactor of our beloved institution. Maliyadeva was then in grave financial difficulties. Dr. Zylva saw her plight and came to her rescue. He donated all the required furniture for the first College Hostel. which then charged only Rs. 10/- per head per month as boarding fees. The Maliyadeva Hostel thus could not pay its way through and at the end of every month there was a considerable deficit. The good Doctor would not tolerate such a state of affairs in the institution that he had befriended. Out came his purse and the losses were made good every month. Such generosity!

This was not all. Dr. Zylva gave free medical treatment to all the hostellers and teachers of Maliyadeva for over twenty years. The Kurunegala Y. M. B. A. will remember Dr. H. K. T de Zylva as one of its founder members. He was also a founder member of the Kurunegala "Buddha Sasana Samitya." In those difficult times when money was hard to come by it was this good Doctor again who subscribed the first Rs,1000/00 for a new building for Maliyadeva

The Hon. Mr. Madawala whose name Maliyadeva will never forget felt the need for a secondary school in Kurunegala and in

his last will he left his share of the house and property along Negombo Road to a charitable Trust which was to promote such a venture. At this time there were other interested parties in Kurunegala who were bent on getting this property for a non-Buddhist Institution and it almost came to a point when it seemed that their wishes were going to be fulfilled. But it was once again Dr. Zylva who with the invaluable assistance of Mr. Colin de Soysa and the other members of the Y.M.B.A. was mainly responsible for obtaining for Maliyadeva the building which now houses its Senior Hostellers and the land on which its buildings stand. Dr. Zylva our Manager for a number of years, steered Maliyadeva through many difficult days and helped her to weather many a storm and emerge as one of the foremost Buddhist institutions in the North Western Province.

Dr. Zylva, found in his beloved wife, who predeceased him, an enthusiastic social worker and firm supporter of all his benevolent acts. Here was a lady whose kindness and generosity could be matched only by his own. Many a Maliyadevian will remember that kind smiling face and the hand that dished out excellent curries on the Sil observance day "dana" in the school. Mrs. de Zylva with her kind and gentle nature and generosity which knew no bounds will be long remembered by many a citizen of Kurunegala.

Many a poor villager will remember with love and respect, how Dr. Zylva, stern, but kind wrote out his prescription and would not hear of a fee. Here was a Doctor gentle and generous. Behind his stern exterior was kindness itself. Maliyadeva today pays silent homage to a true friend.

Here was a Doctor, gentleman, kind and generous. When comes such another? We still have one consolation. Depair we will not. Dr. H. K. T. de Zylva leaves behind him his two sons, Mr. T. S. J. de Zylva an Dr. T. S. U. de Zylva who are both Old Boys of the College and his daughter to carry on the good work.

**W. W. PERERA.**





දැනට මලියදේවය පිහිටි භූමිය විද්‍යස්ථානයක් සඳහා සිය අන්තිම කැමති පත්‍රයෙන් වෙන්කර තැබූ රාජ්‍ය මන්ත්‍රී,

**ජී. ර්. මඩවල දිසාපතිතුමා.**

# සටගිය දවස

ලංගම සභාපති
සී. බී. කුමාරසිංහ විසිනි.

ගැටළු සිට ගැටළු මතුවන ආයතනයක සේවය කරන මට සාහිත්‍ය සඟරාවකට ලිපියක් සැපයීමට තරම් අවකාශයක් නොමැතිය. එහෙත්, කොතෙක් දුෂ්කරතා මධ්‍යයෙහි වුවද මලියදේව ජයන්ති කලාපයට ලිපියක් සැපයීමට මට කළ ආරාධනය මවිසින් ප්‍රතික්ෂෙප කළ යුතු නොවේ. බලාපොරොත්තු නුවූ මේ ආරාධනය නිසා මට එක්තරා සැනසිලි දායි ප්‍රීතියක්ද ඇත්වූ බව කිය හැකිය. අතීතයට එබී බැලීම පිළිබඳ ඒ ප්‍රීතිය, භුක්ති විඳින්ට මට ඉඩ ප්‍රස්තාවයක් සලසා දීම ගැන පළමුකොටම මලියදේව සඟරාවේ කතෘ මණ්ඩලයට මගේ අවංක සතුතිය පිරිනැමිය යුතුවේ.

මීට අවුරුදු හතළිහකට පමණ පෙර මලියදේව විද්‍යාලයයේ ගත කළ ජීවිතය මගේ සිතින් ලෙහෙසියෙන් බැහැර කළ නොහැකිය. 1922 දී මහනුවර ධර්මරාජ විද්‍යාලයයේ ඉගෙනීම නිම කළ මා හාපුරා කියා ලෝකයට පා තැබුවේ ගුරුවරයෙකු වශයෙනි. ඒ ගුරුකම සඳහා මා මලියදේව විද්‍යාලයට ගියේ මැලේරියා මදුරුවා කුරුණෑගල දිස්ත්‍රික්කයේ රජකම් කළ අවධියකය. එදා විද්‍යාලයීය ශිෂ්‍යයන් පමණක් නොව ගුරුවරුද මැලේරියාවට ගොදුරු වූහ. අද පන්තියට පැමිණි ළමයා හෙට ලෙඩින් වැටෙයි. හෙට පන්තියට පැමිණෙන ළමයා අනිද්දා ලෙඩින්වැටෙයි. පන්තියේ පාඩම්වල යෙදී සිටිද්දී ළමයි හිටි අඩියේ උණ හැදී ගෙවල්වලට යති. මේ නිසා බොහෝදෙනෙකුට දිනපතා පාඨශාලාවට පැමිණෙන්ට නොහැකි විය.

එක් අතකින් මැලේරියාවෙන්ද අනික් අතින් මන්ද පෝෂණයෙන්ද පෙලුණ මේ ළමයි ඈත පෙදෙස්වල සිට පාඨශාලාවට ආවෝය. එහෙත් ගුරුවරුන් වශයෙන් අපට මේ අපහසුකම් ගැන කළ හැකි කිසිවක් නොවීය. අපට කළ හැකි එකම දෙය වූයේ අසනීපවූ විටක ක්විනීන් පෙතිවලින් දෙකක් තුනක් ඔවුන්ට ගිලින්ට දීම පමණකි.

එකල මලියදේව විද්‍යාලයය පිහිටියේ කුරුණෑගල රජමහා විහාරය අබියසවූ ගොඩනැගිල්ලකය. එය පරලෝ සැපත් ඇටිගල මුදලි තුමාගේ ධනව්‍යයෙන් ඉදි කරන ලද්දකි. විද්‍යාලයයේ ප්‍රධානාචාර්යවරයා වූයේ අම්බලන්ගොඩ පී. ඩබ්ලිව්. චාර්ලිස් ද සිල්වා මහතාය. ගුණ නුවණින්ද කාර්යක්ෂම භාවයෙන්ද හෙබියාවූ මේ මහතා විද්‍යාලයයේ අභිවෘද්ධිය පතා ආත්ම පරිත්‍යාගයෙන් ක්‍රියා කළේය. විද්‍යාලයයේ අභ්‍යන්තර කටයුතු සම්බන්ධයෙන් පමණක් නොව බාහිර කටයුතු සම්බන්ධයෙන්ද ඔහු දක්වූයේ බලවත් උනන්දුවකි. ඔහු වැඩි වශයෙන් වෑයම් කෙළේ මලියදේව ශිෂ්‍යයන් ශික්ෂාකාමී බෞද්ධයන් කිරීමටය. මේ අදහස පෙරදැරි කරගෙන ඔහු ශීල ව්‍යාපාරයක් ඇරඹුවේය. ඊළඟට බාලදක්ෂ ව්‍යාපාරය ඇරඹුවේය. මේ හැර "මලියදේව පත්‍රිකා" නමින් මාසික පත්‍රයක්ද ආරම්භ කොට එහි ආදර්ශ පාඨය හැටියට,

> "අත්වැඩ පරවැඩ සමව සිතන්නේ
> මෙත් සිත සව්සත කෙරෙහි කරන්නේ"

යන මේ ලෝවැඩ සඟරා කවි දෙපදය තෝරා ගත්තේය.

බාලදක්ෂ ව්‍යාපාරය සාර්ථක කරගැනීම සම්බන්ධයෙන් මමද, හැකිතාක් දේ කරන්ට පටන් ගතිමි. සැබවින්ම මගේ කාලයෙන් වැඩි හරිය කැපවූයේ මේ සඳහාය. මා අනලස්ව ඒ කාර්යයෙහි නිරතවීමේ ප්‍රතිඵලයක් වශයෙන් මලියදේව බාලදක්ෂ කණ්ඩායම නොබෝ කලකින් මලියදේව විද්‍යාලයට පමණක් නොව මුළු වයඹ පළා-

තරම් ආදර්ශයක් වන පරිදි හැඩ ගැසුණ බව මට ප්‍රීතියෙන් පැවසිය හැකිය. එංගලන්තයේ වෙම්බ්ලියේ පවත්වන ලද ජගත් බාලදක්ෂ ජම්බෝරියට වයඹ පළා- තේ නියෝජිතයෙකු වශයෙන් මට යා හැකි වූයේ මේ බාලදක්ෂ ව්‍යාපාරය නිසාය. එකල කුරුණෑගල කච්චේරියේ දිසා පති ධූරධරව සිටි ඇෆ්. පී. ටිරල් මහතාද මැල්ඩර් මහතාද මට මේ සම්බන්ධයෙන් දුන් සහයෝගය සහ ධෛර්‍යයීය ගැන මම අදත් ඔවුන්ට කෘතඥ වෙමි.

එකල පිට රට යාම දැන් මෙන් ලේසි පහසු දෙයක් නොවීය. අහස් යාත්‍රාවක් දකින්ට පවා තිබුණේ නැත. කොළඹ වරායෙන් නැව් නැගී, වෙම්බ්ලිය බලා පිටත්වූ මා ලෝකයේ රටවල් කීපයක්ම බලා කියාගෙන පෙරළා කුරුණෑගලට ආවේ "ඇවිද්ද පය දහස්වටී" යන ආප්තෝපදේශ යේ සත්‍යතාව වටහාගෙනය. ඉතා කොටින් කියතොත් උස් පහත් භේදයක් නැතිව මනුෂ්‍යයා මනුෂ්‍යත්වයෙහි ලා සැලකීමට මා හුරු පුරුදු වූයේ මේ දේශ සංචාරය නිසාය.

මලියදේව විද්‍යාලයේ සිවු වසකටත් අධික කාලයක් මා සමග එකට වැඩ කළ ගුරුවරු බොහෝ දෙනෙකි. ඔවුන් සියලු දෙනාගේම නම් මට මතක නැත. එහෙත් ඊ. ආර්. එරත්න ඩී. ඩබ්ලිව්. සේනාධීර, ජේ. පී. පී. ගුණවර්ධන ඩී. බී. සෙනෙවිරත්න ඇල්. බී. තුඩුගේගොඩ අබේවර්ධන බාලසූරිය ඊ. ඇම්. ඉසඩ් මහමූත්. ඩී. බී. ඉලන්කෝන් යන මහත්වරුන්ගේ නම් තවමත් මට මතකය. ඔවුන් අතුරෙන් ඉලංකෝන් මහතා ගැන මෙහිලා වචනයක් සඳහන් නො කරම බැරිය. මලියදේව විද්‍යාලයේ ඉගෙනීම ලබා, මලියදේව විද්‍යාලයේම ගුරුවරයකු වශයෙන් පත්වූ මේ මහතා කවදත් විද්‍යාලය ය කෙරෙහි දැක්වූයේ අචල භක්ති- යකි. මේ මහතා ආදර්ශ ගුරුවරයකු වශ- යෙන් දීර්ඝ කාලයක් සේවය කොට ආදර්ශ ගුරුවරයෙකු වශයෙන් මිය ගියේය.

විද්‍යාලයයේ කළමනාකාර ධූරය දැරූ ඒ. ඇම්. අභයගුණරත්න නොතාරිස් රාළ හාමිගෙන්ද මේ විද්‍යාලයට සිදුවූයේ අගනා සේවයෙකි. කලට වේලාවට ගුරුවරුන්ගේ පඩිනඩි ගෙවීමෙන්ද විද්‍යාලයට අවශ්‍යවූ උප කරණ සපයා දීමෙන්ද ඔහු ගුරු ශිෂ්‍ය දෙපක්ෂයේම ශුභ සිද්ධිය සැලසුවේ කිසිම ගාලගෝට්ටියක් නැතිවය. යුතුකම් ඉටු කිරීමට වඩා උසස් සේවයක් තමා ගුරු- වරුන්ගෙන් බලාපොරොත්තු නොවන බව ඔහු නොයෙක් විට පැවසුවේය. ගුරුවරුන් ගේ වැඩට ඇඟිලි නොගැසීමෙන් ඔහු දැක්- වූයේ සෙසු පාසැල් කළමනාකාර වරුන්ටද ආදර්ශයකි.

එදා මේ විද්‍යාලයයේ ශිෂ්‍ය සංඛ්‍යාව 200- කට වැඩි නොවීය. අද දහසකට අඩු නැත. එදා තදබදවූ ගොඩනැගිල්ලක පිහිටි විද්‍යාලයය අද යහමින් ඉඩකඩ ඇති මනරම් දෙමහල් ගොඩනැගිල්ලක පිහිටියේය. ඉ ගෙ නී ම අතින්ද, ඉගැන්වීම අතින්ද සෞඛ්‍යය අතින්ද පරිසරය අතින්ද වඩා යහපත් වූ - වඩා මනෝඥවූ - තත්වයක පවතින මේ බෞද්ධ මහා විද්‍යාලය ය සැබවින්ම කුරුණෑගලට ආභරණයකි. එය දිනෙන් දින දියුණුවෙන් දියුණුවට පත්වේවා යනු අපගේ අව්‍යාජ ප්‍රාර්ථනය යි. මේ ප්‍රාර්ථනය සමෘද්ධවීම සඳහා මේ විද්‍යාලයයේ ආදි ආදර්ශ පාඨය වූ

"අත් වැඩ පරවැඩ සමව සිතන්නේ
මෙත් සිත සව්සත කෙරෙහි කරන්නේ"

යන්න ගුරුශිෂ්‍ය දෙපක්ෂය විසින්ම මැනවින් පිළිපැදීම අවශ්‍ය වන්නේය.



අපේ පළමුවන කළමනාකාර

**අබේගුණරත්න නොතාරිස් රාළහාමි.**

# කෝයස්.

කෝයස්, කලල් ඇල්ලේ ආනන්ද සාගර, සාගර පලන්සූරිය, යන නම් ලක්දිව සැම පෙදෙසකම ප්‍රකටය. මේ නම්වලින් හැඳින්වෙන එකම පුද්ගලයා මලියදේව විද්‍යාලයේ ඉතිහාසයට ඇතුල් වූයේ 1933 නේ වර්ෂයේ දීය. එතුමා මලියදේවයට පැමිණියේ කලල් ඇල්ලේ ආනන්ද සාගර භික්ෂූන් වහන්සේ ලෙසය. ධර්මාචාර්‍ය්‍යවරයෙකු ලෙස හා පෙරදිග භාෂා පිළිබඳ ගුරුවරයෙකු ලෙසත් එතුමා කාගේත් සිත් ගත්තෙක් විය. පාඨක ලෝකයා අතර කෝයස් ලෙස විශාල ප්‍රසිද්ධියක් ලැබූ ඔහු ඉතා සුළු කාලයකදීම විද්‍යාලයේත් නගරයේත් දියුණුව සඳහා වැඩ කරන්ට පටන් ගත්තේය. දෛනික ජීවිතයෙන් ඉතා සුළු කොටසක් ආත්මාර්ථය සඳහාද යෙදවීය. පෙරදිග භාෂාවන් පිළිබඳ හසල බුද්ධියක් තිබූ හෙතෙම එවකට සවකීය පාණ්ඩිත්‍යය ප්‍රදර්ශණයකිරීම සඳහා අත්‍යාවශ්‍ය විෂයයක්වූ ඉංග්‍රීසි භාෂාව සවුත්සාහයෙන්ම උගෙනීමට පටන්ගත්තේය. ඒ සඳහා නන් අයුරින් උදව් දීමට තරම් පිරිසක් ඇතිකර ගැනීමට කෝයස් සමර්ථවිය. ඉංග්‍රීසි භාෂාව පිළිබඳව කිසිම මූලික දැනීමක් නොතිබූ හේ දෙවසක් ඇතුලතදී ඒ පිළිබඳව සැලකිය යුතු දැනීමක් ඇතිකර ගත්තේය.

එයින් සෑහීමකට පත්නොවූ කෝයස් ජූ. බී. වත්තිනායක, දෙස්තර එච්. කේ. ටී. ද සිල්වා හා නීතිඥ ඒ. බී. සී. සොයිසා වැනි තිනෙෂින්ගේ උපදෙශකත්වය හා අනුග්‍රහය ඇතිව උසස් අධ්‍යාපනය සඳහා ඉන්දියාවේ ශාන්ති නිකේතනය බලා පිටත්විය. එම විද්‍යායතනයේ දෙවසක් පමණ ශාස්ත්‍රෝද්ග්‍රහණය කළ හේ ඉංග්‍රීසිය පිළිබඳවද ප්‍රගුණත්වයක් ලබාගත්තේය. එහිදී ඉන්දීය මැට්‍රිකියුලේෂන් විභාගයෙන් සමර්ථ වී පෙරලා ලංකාවට පැමිණි නොබෝ කලකින් ඉංග්‍රීසි ගුරු අභ්‍යාස විද්‍යාලයට ඇතුල් විය. එහිදී දෙවසක පුහුණුවක් ලැබූ හෙතෙම ඉංග්‍රීසි පුහුණු ගුරුවරයකු වූ ලංකාවේ ප්‍රථම භික්ෂූන්වහන්සේ වීමේ භාග්‍යයද ලැබුවේය. පුහුණුව අවසන්කොට අංග සම්පූර්ණ ගුරුවරයෙකු ලෙස නැවත අවුරුදු කිහිපයක්ම මලියදේවයෙහි සේවය කලේ එම විද්‍යාලයට ණයගැති යයි ඔහු සැලකූනිසා වියහැකිය.

පුහුණු ගුරුවරයකු වශයෙන් විෂයයන් ගණනාවක්ම ඉගැන්වීමෙහි සමත් කමක් දැක්වූ හෙතෙම සාහිත්‍ය පාඩම් ඉගැන්වීමෙහි විශෙෂ දක්ෂයෙක් විය. උපන් කවියෙකු වූ කෝයස් රස දැනවීමෙහි අති සමර්ථයෙකි. ඉගැන්වීමෙන් පරිබාහිර වූ සාහිත්‍ය බෞද්ධ හා කවිකෝෂ්දය සමිති මෙහෙයවීමෙන් හෙතෙම ශිෂ්‍යයින්ගේ ආදරයත්, ගෞරවයත් දිනාගත්තේය.

පෞද්ගලික හේතූන් නිසා අවුරුදු කිහිපයකට පසු මලියදේවයෙන් අස්වී කොළඹට ගිය හෙතෙම කොළඹ ආනන්ද මහා විද්‍යාලයේත්, පසුව යාපනේ විද්‍යාලයේ හා මොරටුවේ වේල්ස් කුමාර විද්‍යාලයේත් පිළිවෙළින් සේවය කෙළේය. මලියදේවයෙන් අස්වූ කෝයස් කලකට පසුව උපැවිදිවී සාගරපලන්සූරිය නමින් ප්‍රකටවිය.

1956 මහා මැතිවරණයේදී හොරණ පාර්ලිමේන්තු අසුන සඳහා තියුණු තරඟයකට මුහුණ පා එයින් ජයගෙන ජාතික සටන් කිහිපයකටම පුරෝගාමීව කටයුතුකොට විශිෂ්ට සේවයක්ද හෙතෙම කෙළේය.

එහෙත් ඒ රසබර අදහස් ගලා ආ අවිහිංසක, නිරහංකාර හදකින් යුතුව සුලලිත කවි ලියූ සුරත සදහටම අපට නැතිවිය. ඔහු අද අප අතර නැතත් කෝයස් නාමය රන් අකුරින් ඉතිහාසයේ ලියැවෙනු ඇත. ආදර්ශමත් ගුරුවරයෙකු වූත් කාරුණික සමාජසේවකයකු වූත්, අවංක දෙශපාලනඥයකුවූත්, දක්ෂ කවියකුවූත් මෙතුමා මලියදේව් මාතාව සිහිකරන්නේ ආදරයෙන් හා ගෞරවයෙන්ය.

පිකිරි,

# මලියදේවය ක්ෂේමභූමියකි.

ගිනිගත්හේන රජයේ මධ්‍ය විද්‍යාලයාධිපති,

විල්සන් බණ්ඩාරනායක විසිනි.

B A. (LOND), DIP. IN E D (Cey) F. R. ECON. S. (LOND)

දැසනව වන ශත වර්ෂයේ අපරභාගය බෞද්ධ අධ්‍යාපනයටත් බෞද්ධ ජනතාවටත් නවෝදයක් විය. මීට පෙර පරදේසීන්ට කුළුපග ලෙස මෙහෙකළ අතලොස්සකටත්, ක්‍රිස්තු භක්තිය වැළඳගත් කීප දෙනෙකුටත් හැරෙන්නට අන් අයට අධ්‍යාපන පහසුකම් නොසැලසින. ගම්මානවල් සහ නගර අගනුවරින් ඈත්වෙන්ට ඈත්වෙන්ට අධ්‍යාපන තත්වය ඉතාමත් අසතුටුදායක විය. විසිවන ශතවර්ෂය උදාවීමට සමීපවූ වකවානුවේ දීය ගම්බද ප්‍රදේශයන්ට අධ්‍යාපනා ලෝකය වැටෙන්නට වූයේ. කර්නල් ඕල්කට් තුමා වැනි ආගමාලයැති පින්වතුන් ආනන්ද මහා විද්‍යාලය ඉදිකරවා බෞද්ධ ආගමික අධ්‍යාපනයක් පැතිර හැරීමට සැරසෙද්දී, ලක්මවගේ වයඹ තුරුල්ලේ නිදිගෙන සිටි සත්කෝරළ දරුවාද ශාස්ත්‍රාලෝකයෙන් ඔදවැඩෙන්නට විය. සත්කෝරළේ කේන්ද්‍රස්ථානය වූ ඇතුගල්පුර, ලක්දිව වැඩසිටි අන්තිම රහතන් වහන්සේ නමින් ආරම්භ කරණ ලද මලියදේව බෞද්ධ මහා විද්‍යාලය සී.

ගතවූ සැත්තෑපස් වසරේ සෑම වර්ෂයක්ම මෙම විද්‍යාලයේ දියුණුව සඳහාම ගෙවී ගියේය සී කිවහොත් එය අතිශයෝක්තියක් නොවේ. ඇතුගල්පුර පිහිටි අතිකුත් විද්‍යාල සමග පමණක් නොව ලංකාවේ උසස්ම විද්‍යාල සමග පවා තරඟකර අද්වීතීය තත්වයක් ලබාගෙන ඇති මලියදේව විද්‍යාල මාතාවගේ ඉතිහාසය ඉතා වැදගත්ය, රසවත්ය. බෞද්ධ බලය ඉතාම අල්ප අවදියක කුරුණෑගල තරුණ බෞද්ධ සමිතිය මගින් පෝෂණය වූ මෙම විදුහල් මාතාවගේ අතීතය ගැන සිතන විට ''මාතිවත්ත අනික්කම'' යන පාලි පාඨය සිතට නැගේ. ස්ථිර අධිෂ්ඨානයත් නොපසුබට වීර්යක් නිසා නොවේනම් අද මලියදේව නමින් විද්‍යාලයක් ඇතුගල්පුර නොතිබෙන්නට ඉඩ තිබුනි. නගර මධ්‍යයේ පිහිටි කුඩා කාමරයකින් ආරම්භවූ මෙම විද්‍යාලය, අද මෙවැනි උසස් තත්වයකට පැමිණේදැයි මීට සැත්තෑපස් වසරකට පෙර කවුරුනම් සිතුවේද? කාලයෙන් කාලයට ස්ථාන මාරුවෙමින් අවසාන වරට ස්ථිර ස්ථානයකට විද්‍යාලය ගෙනයන ලද්දේ මීට තිස්වසකට පමණ පෙරය.

සැප පහසු වූත් එමෙන්ම අලංකාර වූත් ගොඩනැගිලි ලැබෙනවාත් සමගම දෙවන ලෝක සංග්‍රාමය නිසා විදුහල් මාතාව දූර්භාග්‍යයකට ලක්විය. එවකට තිබූ නීතියේ හැටියට පැය හතලිස් අටකින් පමණ විද්‍යාල ගොඩනැගිලි යුද හමුදාවට භාරදීමට සිදුවිය. එහෙත් නොපසුබට වීයඝී ඇති විදුහල්පතිතුමාගේත් පරෝපකාරී දෙගුරුන්ගේත් පිළිසරණ නිසා එවකට ඉගෙණුම ලැබූ සිසුනට කිසිම අතවරයකට මූන පාන්නට සිදු නොවීය, ඔවුන්ගේ අධ්‍යාපනයද අඩාල නොවීය. මෙතෙක් කල්ම මලියදේවය බාලක විද්‍යාලයකි. දෙවන ලෝක සංග්‍රාමයේදී අගනුවර ආක්‍රමණය නිසා අගනුවරින් පිටමංවූ බාලිකාවන් කීප දෙනෙකුටද මලියදේව විද්‍යාලය අභය භූමියක් විය. මිශ්‍ර අධ්‍යාපනයේ තත්වය උරගා බැලීමටද මලියදේව විදුහල් මවට අවස්ථාවක් ලැබුණේ මෙවිටය. එහෙත් සීග්‍රව දියුණුවෙන මලියදේවය බාලකයන්ට පමණක් සීමාකර බාලිකාවන් සඳහා වෙනමම විද්‍යාලයක් ඉදිවිය.

අද මලියදේවය අඩග සම්පූර්ණ මහා විද්‍යාලයකි. එද, ඈයගෙන් සත්කෝරල වාසීන්ගේ පහසුව සඳහාම සේවයක් සිදුවුවත් අද ලක්දිව අටදිසාවෙන්ම පැමිණෙන සැමටම ඈය ක්ෂෙම භූමියකි, අධ්‍යාපන කෙතකි

මෙම විද්‍යාල මාතාව පාලනය කළ ඇතුගල්පුර තරුණ බෞද්ධ සංගමයත්, වරින්වර කළමනාකාර ධුරය දැරූ කළමණාකාර වියතුනුත් දූරදර්ශී විද්‍යාලයාධිපති වරුත් සහ සහායක ගුරු මණ්ඩලයේද නොමසුරු සේවය උසස් කොට සැලකිය යුතුය. පසුගිය සැත්තෑපස් වසර තුළම අඛණ්ඩවූ කීර්තිය මේ විද්‍යාලයට ලැබීමට පසුගිය කාලය තුළ සේවය කළ ගුරු මණ්ඩලයේ අගනා සේවයේ මහඟු ප්‍රතිඵලයක් බව සඳහන් කළ යුතුමය. ගුරු දෙගුරුනුත්, ආදි ශිෂ්‍යයන් හා සමාජයත් අතර ඇති කිට්ටු සම්බන්ධකම නිසාම මලියදේව විද්‍යාලය නොනැසෙන සේවාවක් ඉටුකළ විද්‍යාස්ථානයක සංකේතයක් බවට පත්වී ඇත. සමාජයේ නා නා සේවාවන්හි නිරතව සිටින උගත් ආදිශිෂ්‍ය පරපුරක් ඇති මේ විද්‍යාලයට නොනැසෙන කීර්තිමත් අතීතයක් හා වර්තමානයක් ඇති බව අපට පැහැදිලිය. නව සිසුහු විද්‍යාලයේ අනාගත භාර කාරයෝය. ලැබී ඇති කීර්තිය අමරණීය බවට පත් කිරීමට විද්‍යාල පාලක මණ්ඩලයත් විදුහල්පති තුමන් ඇතුළු ගුරු මණ්ඩලයත්, දෙගුරුන් හා සමාජයත් සමග එකමුතුවී සහාය වීමට මේ සැත්තෑපස් වන සංවත්සරයේදී අධිෂ්ඨාන කරමු.



# මගේ කාලයේ මලියදේවය.

## 1905 දී, මලියදේවයේ වැඩ බැලූ ප්‍රධානාචාර්ය,

## ඩබ්ලියු. ජී. ද සිල්වා මහතා විසිනි.

මා උගන්වන කල මලියදේවය පිහිටා තිබුනේ බස් නැවතුම්පොළ අසල කුඩා ගොඩනැගිල්ලකය. එවිට පාසැලේ වයස අවුරුදු 17 කට වඩා නොවීය. මා මුලින්ම මලියදේවයට බැඳුනේ 1905 දීය. ජ්. එච්. වැන්ඩෝල් මහතා වයඹ හා සපරගමු දෙපළාතේ, ප්‍රධාන පරීක්ෂකවරයා හැටියට පත්වූයේද මේ වර්ෂයේ දීමය.

මා එහි යනවිට ප්‍රධානාධාර්ය වරයෙකු නොසිටි හෙයින්, ප්‍රධානාචාර්ය ධූරයේ වැඩ බැලීමේ කාර්‍ය්‍යය ද නිතැතින්ම මාපිට පැවරුණි. එකල පාසැලේ කළමනාකාර ධූරය දරන ලද්දේ ජ්. ඇම්. අබේගුණරත්න නොතාරිස් මහතා විසිනි.

මා එහි ගොස් ටික දිනකට පසු ඒ. ජී-සී. කැම්බල් නම් මහතෙක් ප්‍රධානාචාර්ය වරයා ලෙස පත්වී ආවේය. ඒ මහතා මලිය දේවයට ඊමට පෙර රාජකීය විද්‍යාලයෙහි ගුරුවරයෙකු වශයෙන් කටයුතු කළ කෙනෙකි. කැම්බල් මහතා පැමිණි පසු මම උප ප්‍රධානාචාර්ය වරයා වශයෙන් කටයුතු කළෙම්.

එකල පාසැල පටන්ගත්තේ උදේ අටටය. දහවල් 12 වනතුරු උදය වරුවේ පාසැල පැවැත්වෙන අතර, 12 සිට 12-45 වනතුරු විවේක කාලය වෙයි. සවස් වරුවේ පාසල 12.45 සිට සවස 2.30 දක්වා පැවැත් වෙයි.

එකල පාසැලේ පන්ති පහක් පමණ විය. කේම්බ්‍රිජ් ජූනියර් පන්තිය දක්ව පාසැලේ පන්ති පැවැත්වුණි. පාසැලේ ප්‍රාථමික අංශයක් වූයේ නැත. මුළු පාස-ලෙහිම වූයේ පන්ති පහක් පමණකි. දින පතා පැමිණීම 75 කට වඩා නොවීය. ළමයෙකු දින දෙක තුනක් පාසැල් නොපැමිනිය හොත් එයට හේතුව සොයා බැලීම සඳහා – මම ඔහුගේ ගෙදරට ගියෙමි. බොහෝ ළමසින් පාසැලට නොපැමිනියේ හොරටය. එනිසා එවැනි ළමසින් සොයා දඬුවම් කිරීමට මට සිදුවිය. සමහර ළම-සින් පාසැලට පැමිණියේ දඬුවම් කරන වාට බියෙනි. මාලගමුව, දෛඑකන්ද ආදී දුර බැහැර පළාත්වල ළමයි පවා එකල පාසැලට පැමිනීයහ. ඒ කාලයේ සිටි ළම-සින් බොහොමයකගේ නම් මට මතක නැත. එහෙත් ජෝර්ජ් ජයසිංහ, ලූඩොව-සික් සහ ඩී. ඩබ්ලිව්. තෙන්නකෝන් යන ශිෂ්‍යයින්ගේ නම් මට මතකය.

මා ඇතුළු ගුරු මණ්ඩලය එකල පස් දෙනෙකුගෙන් සමන්විත විය. ඒ හැමගේම නම් මට මතක නැත. එහෙත් රාජපක්ෂ, පී. කේ. ද සිල්වා සහ ඇම්. බී. වීරසූරිය යන ගුරු මහතුන් ගැන මට මතකය. මෙයට අමතරින් තවත් ශිෂ්‍ය ගුරුවරු දෙදෙ-නෙක්ද සේවයේ යෙදී සිටියහ.

එකල ප්‍රධානාචාර්ය වරයාගේ පඩිය රුපියල් 125 ක් විය. මගේ පඩිය රු: 75 ක් වූ අතර, ආචාර්ය මණ්ඩලයේ අනෙක් අය ලැබුවේ රුපියල් 60 ක වේතනයකි. මම, මලියදේවය හැර යන විට රුපියල් 115 ක වේතනයක් ලබමින් සිටි යෙමි. එකල පහසුකම් ගාස්තු වශයෙන් රුපියල් 2 සිට 5 දක්වා මුදල් අය කරනලදී.

ක්‍රීඩාවක් වශයෙන් පාසැලේ පැවැත් වුනේ ක්‍රිකට් පමණය. එකල පවා මලිය දේව ශිෂ්‍යයෝ ක්‍රිකට් ක්‍රීඩාවෙහි මහත් දක්ෂතාවයක් දැක්වූහ. ශාන්ත ආනා, ක්‍රිස්තු

දේව් වැනි ප්‍රාදේශීය පාඨශාලා සමගත්, ධර්මරාජය වැනි පිට පළාත්වල පාසැල් සමගත් ක්‍රිකට් තරඟ පවත්වන ලදී. එකල ධර්මරාජයේ විදුහල්පති ධුරය දැරුවේ බිලිමෝරියා මහතාය. ආචාර්ය මණ්ඩලයේ සිටි පී. කේ. ද සිල්වා මහතා පාසැලේ ක්‍රීඩා කෙරෙහි මහත් උනන්දුවක් දැක්වීය. මා ඇතුළු රාජපක්ෂ, සිල්වා, වීරසූරිය යන මහතුන්ද පාසැලේ ක්‍රිකට් කණ්ඩායමට අයත් විය. දක්ෂ පන්දු යවන්නෙකු වූ පී. කේ. ද සිල්වා මහතා ඒ මගින් විද්‍යාලයට මහත් කීර්තියක් ලබා දුන්නේය. එකල මාලිගා පිට්ටනිය නොවූ බැවින්, අපේ ක්‍රීඩා භූමිය වූයේ දැනට බස් නැවතුම්පොල පිහිටා ඇති පිට්ටනියයි.

එකල පාසැලට මහත් සේවයක් කළ අයෙකු හැටියට-ප්‍රධාන පාඨශාලා පරීක්ෂක ජ්. එච්. වැන්ඩෝල් මහතා හැඳින්විය යුතුය. ඒ අවදියේ පාසැල පිහිටා තිබුනේ වැසිකිළි රාශියක් මධ්‍යයේය. තවද මුළු කුරුණෑගල නගරයේම කුණු කසල ගසාගෙන යන කානුවද, පාසැල අසිනේම විය. මේ නිසා ඒ අසල මහත් දුර්ගන්ධයක් පැවතුනි.

අපි පාසැලට, රජයෙන් දීමනාවක් ලබා දෙන ලෙස ඉල්ලා වැන්ඩෝල් මහතාට ලිපි යක් යැවීමු. ඒ ගැන පරීක්ෂා කිරීම සඳහා පැමිණි ඒ මහතා පාසැල අසල ඇති දුර්-ගන්ධය නිසා පාසැලට ඇතුල් වූයේ නැත. නාසය හකුලමින් එතැනින් ඉවතට ගිය ඒ මහතා, වෙනත් ස්ථානයක, වෙනත් ගොඩ-නැගිලිවල පාසැල ආරම්භ කරණ තුරු නැවතත් පාසැලට නොඑන බවත්, දීමනා වක් නොදෙන බවත් කීය.

පාසැල වෙනත් තැනකට ගෙනයාමට සිදුවූයේ ඒ මහතාගේ මේ කීම නිසාය. කළමනාකාර මහතාගේද සහාය ලැබූ අපි, ඇත්කඳ විහාරය අසල භූමියට පාසැල ගෙන යාමට උත්සුක වීමු. එම ඉඩම විශාල ගස් වලින් වැසීගත් අතර, මඩ වගුරක් ද විය. එය පාසැලකට සුදුසු භූමියක් ලෙස සකස් කිරීමට ශිෂ්‍යයින්, ආධාරකරුවන් ඇතුළු අය විසින් ගන්නා ලද [උත්සාහය මතක් වූ විට, මට සතුටු කඳුළු වැගිරෙයි.

එකල විද්‍යාලයයේ මෙහෙයීමෙන් පවත් වන ලද කුරුණෑගල මිහිඳු පෙරහැර ඉතා උසස් තත්වයක් ගත්තා ලදී. එය මහනුවර ඇසළ පෙරහැර තරමටම සිත් ගන්නා ලෙස පැවැත්වූ බැව් කීම අතිශයෝක්තියක් නොවේ. එකල කුරුණෑගල දිසාපති ධුරය දැරූ එච්. ආර්. ප්‍රීමන් මහතා, එම පෙරහැර සඳහා මහත් අනුබලයක් විය. පෙරහැර පැවැත්වීමට උදව්වූවා පමණක් නොව විද්‍යාලයේ දියුණුව සඳහාද කටයුතු කළ ප්‍රීමන් මහතා රජයේ දිසාපතිවරයෙකු හැටියට නොව මහජනයාගේ දිසාපතිවර-යෙකු ලෙස හැඳින්වීම උචිතයයි මම කල්පනා කරමි.

එක් අවුරුද්දක මිහිඳු පෙරහැරට අලි ඇත්තු 146 දෙනෙක් සිටියහ. ඒ පෙරහැර සඳහා බලපත්‍ර නැතිව අලි පස් දෙනෙක් ගෙන ඒම නිසා - අපට පොලිසියේ සිර කුඩුවේ ලගින්නට ද සිදුවිය. කාරුණික ඒජන්ත තුමාගේ මැදහත් වීම නිසා අපට එයින් ගැලවීමට හැකි විය.

මා 1911 දී විද්‍යාලය හැර එනවිට ප්‍රධානාචාර්ය ධුරය දැරුවේ ජෙරී ඕර් මහතාය. අබිනීතිඥයෙකු වූ එතුමා දක්ෂ පාලකයෙක් ද විය.

මට විද්‍යාලය හැර යාමට සිදුවූයේ එකල සීඝ්‍රයෙන් පැතිරුන මැලේරියාව නිසාය. මැලේරියාවට බියවූ මගේ පවුලේ අය පළාත හැර එන ලෙස අයැද සිටියහ. තවදුරටත් මලියදේවයේ රැඳී සිටීමට මා ආශා කළ ද, පවුලේ අයගේ ඉල්ලීම වඩාත් බලවත් වූ හෙයින්, මම මලියදේවයෙන් අස්වී ආනන්දයට බැඳුනෙමි.

අවුරුදු 58 ක් ගුරු වෘත්තියෙහි සිට විශ්‍රාම ලැබූ මා, මලියදේවයේ සිටියේ අවුරුදු 6½ ක පමණ සුළු කාලයක් වුවද, මාගේ ජීවිතයේ ප්‍රීතිමත් කාලය එය බැව් කිව යුතුය. හැට පිරෙන තුරු ගුරුවර යෙකු වශයෙන් කටයුතු කිරීමට මට ප්‍රබෝධයක් ලැබුනේ ඒ කාලය තුළදී බැවිනි.

(ආර්. බී. කරුණාසේන හා සමග කරන ලද සාකච්ඡාවකිනි.)

# මලියදේවය දිටිමි.

හෙට්ටිපොල මහා විදුහල්පති
ජී. බී. එදිරිසිංහ (බී. ඒ. ගෞරව ලංකා)

එදා, මීට අවුරුදු විස්සකට තිහකට පමණ පෙර, රජයේ පාසැල්වල පවා ඉංග්‍රීසිය මිල දී ගත යුතු භාණ්ඩයක් බවට පත්ව තිබින. මිල මුදල් යහමින් අත්තෝ, ඉංග්‍රීසියෙහි අගය දත්තෝ, මාසයකට ශත පණහ බැගින් ගෙවා එය මිලයට ගත්හ. ඔව්හු කොට කලිසමෙන් සැරසී, මහේශාක්‍ය ගතියක් ආරූඪ කර ගෙන අනෙක් සිසුන් අතර වැජඹුනාහ. ඔව්හු ආචාර්ය මණ්ඩලවල සමහර අයගෙන් නොයෙකුත් මාදිලියේ වරප්‍රසාදයන්ද ලැබූහ. මිල මුදල් නැත්තෝ ඉංග්‍රීසියෙහි අගය නොදත්තෝ ඉංග්‍රීසි උගන්නවුන් ගිරවුන් මෙන් කියන වාග් මාලාවන්ට කන්දෙමින් ලඟ පන්තිවල වෙන වෙන විෂයන් හැදෑරූහ. ඔව්හු සරමෙන් සැරසී බියගුළු ස්වභාවයක් දක්වමින් හොර බලලුන් මෙන් අගු පිල්වල සැඟවී ගත්හ. මා මේ එක කණ්ඩායමකටවත් නොවැටේ. මිල මුදලින් එතරම් අඩු පාඩුවක් නොතිබුනත් ඕනෑකමින් තිබූ අඩුපාඩු නිසා මම ඒ දිනවල ගමේ පාසැලේ ඉංග්‍රීසි පංති වර්ජනය කෙලෙමි. ඉංග්‍රීසි ඉගෙන ගැනීමේ ආශාව තිබුනත් කලිසම් ඇඳීම දීන කමක් ලෙස සලකා ඉංග්‍රීසි පංතිවලට නොගියෙමි.

මෙවැනි වකවානුවකදී මම පළමුවෙනි වරට මලියදේවය දුටුවෙමි. එදා, ලෝක වාසී බෞද්ධ ජනතාවගේ මුදුන් මල්කඩක් බඳුවූ ස්වර්ණමාලි මහා චෛත්‍ය රාජයාගේ කොත් කැරැල්ල මත්තෙහි අද වැජඹෙන, බුරුමයෙන් පිරි-නමනු ලැබූ චූඩා මානික්‍ය රත්නය අග නුවරින් අනුරාධපුරයට වැඩම වද්දී, වයඹ ප්‍රදේශ වාසීන්ට දැක ගැනීම සඳහා මලියදේව විද්‍යාලයේ තැන්පත් කොට තිබුනි. මා එය බලා වැඳ පුදා ගැනීමට ගියේ සන්ධ්‍යා සමයක දීය. දස දහසක් විදුලි බුබුළු වලින් අලංකාර කරනු ලැබූ මලියදේව විද්‍යාපීඨය නිසා එදා චූඩා මානික්‍යයත් චූඩා මානික්‍යය නිසා විද්‍යාපීඨයත් බැබළුනු ආකාරය මගේ මතකින් තවම අහෝසිවී නැත. ලක්ෂ සංඛ්‍යාත බොදු උවැසි උවැසියන්ගෙන් චූඩා මානික්‍යය අපරිමිත පූජා ලබද්දී වයඹ දිග ලංකාවේ මහා විද්‍යාපීඨය උත්තරීතර ධ්‍යානයකට සම වැදුන මහ සෘෂිවරයෙකුගේ ස්වභාවය උද්වහනය කලාය. ඇතුල්වූ දොරටුවේ සිට පිටවන දොරටුවේ දක්වා පෙලගැසී, බුද්ධාලම්භන ප්‍රීතියෙන් උතුරා ගිය හදින් යුතු බෞද්ධයෝ එදා දිවමන් බුදුන් දුටහ. විදුලි එළියට එක්වී පොරකන සාදු! සාදු!! හඬ මැදින් එදා ඒ සන්ධ්‍යා සමයෙහි මම පලමු වන වරට මලියදේවය දුටිමි.

"ඔය තියෙන්නේ මලියදේව කොලීජිය"

බුදල් නඩුවකට පෙනී සිටීමට අප අවුලේ සියළුදෙනාම කුරුණෑගල යා යුතුව තිබුනි. සති ගණනක සිට පේවුන මම එදා වෙනදාට වඩා අළුයමින් අවදිවීමි. දත් මැද මුව සෝදාගෙන සරමකින් හා කමිසයකින් සැරසුනෙමි. අනෙක් සහෝදර, සහෝදරියන් සමග බස් රථයට නැගුනෙමි. බස් රථය හා තරඟයට දුවන කම්බි වැටවල් හා පොල් රුප්පාවන් පසු කරමින් නාරම්මලට සේන්දු වුනෙමි. පැය භාගයකට පසු ගමන ආරම්භ කළ රිය පෙරට වඩා වේගයෙන් ගම් නියම් ගං පසු කරමින් ගමන් කරයි.

"පුවක්ගස් හන්දියේ බහින්ඩ ඉන්නවද"?
"ඉන්නවා, ඉන්නවා"

රිය නැවතෙයි, කව්දෝ බසියි, නැවතත් යයි, මා ලඟම සිටියේ අයියායි. ඉදිරියෙන් දකුණු පැත්තෙන් තිබුන දෑවැන්ත ගොඩනැගිල්ලකට අත දිගු කොට

"ඔය තියෙන්නේ මලියදේව කොලීජියයි" ඔහු කියයි. මම නොසිවසිල්ලෙන්

වට පිට බැලීමි. සෙනගට තෙරපී තෙරපී සිටින මට, මා ලඟ සිටගෙන සිටි යෝධ පුරුෂයෙකුගේ බාහුව අස්සෙන් මලියදේවයේ සුදු පැහැති දෑවැන්ත කුළුණු පෙනෙයි. ඒ සමගම ඇඳි කතු අතරින් ප්‍රතාපවත් ගොඩනැගිල්ල දිස්වෙයි. මහා පොල්වත්තක් මැද, කදිම පරිසරයක, අරුණාලෝක යෙන් නැහැවී නැහැවී, ඇතුගල පසු බිම් කොට විද්‍යා පිපාසිතයින් සමාදරයෙන් පිළි ගැනීමට පේවී සිටින, ප්‍රාදේශීය තක්සලාවක් මෙන් එදා දෙවෙනි වරටත් මම මලිය දේවය දුටිමි.

"මඟුල් තහංචිය තේරිලා"

නක්කාවත්ත පාසැලෙන් මණ්ඩලීය තරඟයකට ඉදිරිපත් කල "මඟුල් තහංචි" සංදර්ශනය කුරුණෑගල ගෙන යාමට තේරී තිබුනි. මා එහි ප්‍රධාන චරිතයක් රඟ පෑවෙකු නොවේ. අපේ ගෙදරින් මොකක්දෝ තාත්තුවා භාණ්ඩයක් මේ සඳහා අවශ්‍ය වූයෙන් එය ගෙන්වා ගැනීමේ මාගීයක් වශයෙන් මටත් එහි තැනක් නිකම්ම ලැබුනි. මට භාරව තිබුනේ මනමාල කණ්ඩායම සමග යාම පමණි. කොටස කුඩා වුවත්, ලොකු වුවත් මටද කුරුණෑගල යාමට අවස්ථාව ලැබුනි. සංදර්ශනය වූයේ මලියදේවයේය. අපි ගියෙමු. විද්‍යාලයීය ශාලාව අතුරු සිදුරු නැතිව පිරී පැවතුනේ මෙය මුළු වයඹ ප්‍රදේශයේම පාසැල්වල සහභාගිත්වයෙන් පවත්වන මහා සංදර්ශනයක්වූ බැවිනි. මලියදේව ශිෂ්‍යයෝ උජාරුවට ඇඳ පැළඳ ඔබිනොබ සැරිසැරූහ. උජාරුව ඇඳුමට සීමානොවීය. පියකරු මුහුණු සංසුන් ගමන් සංවර ගති පැවතුම්, කන්කළු වදන් ඔවුන්ටම ආවේනිකව තිබුනි. මේ හැම දෙයින්ම ඔවුන් උජාරු විය යුතුය. මා දත් අයෙකු ඔවුන් අතර වූයෙන් මටත් මහා ආඩම්බරයක් ඇතිවිය. එදා ඒ සන්ධ්‍යා සමයේ සිසුන් යහමඟ යොදන ඇඳුරුමඬල හා විනීත ශිෂ්‍යයන් අතරෙන් මම තුන්වැනි වරටත් මලියදේවය දුටිමි.

"මෙයා කොහෙ හරි කොලීජියකට ගෙනිහිල්ලා ඇරියොත් හොඳයි."

කවුදෝ අයියා සමඟ කියනවා මට ඇසුනි. එහි ප්‍රතිඵලයක් වශයෙන්, තුන්වෙනි වාරයේ දිනක ගම්පතිතුමාත්, අයියාත්, මමත්, කුරුණෑගලට ආවෙමු. එහෙත් අභාග්‍යයකි. මෙතෙක් මා දැක තිබූ මලිය දේවය එදා එහි නොවීය. එය යුද හමුදාව විසින් අරක්ගත් බලකොටුවක් බවට පෙරලී තිබුනි. සොල්දාදුවන් පුරවා ගත් ලොරි මිනී කන රකුසන් මෙන් ගේට්ටුවෙන් පිටවෙනු දුටිමි. ඇතුල්වෙනු දුටිමි. මහෝශාක්‍ය ලීලාවෙන් හිස් වැසුම් පැලඳ ගත් යුද හමුදා නිලධාරීන් ජීප් රථවල නැගී ඒ මේ අත යනු මට පෙනිනි. යුද්ධයේ අවසානය මොනවා වුවත් පලමුවෙනි ප්‍රතිඵලය මිනිසුන් මැරීමය එදා මනුෂ්‍ය ඝාතනයේ මධ්‍යස්ථානයක් වශයෙන් යුද සෙබළුන්ගේ කාකි ඇඳුම් හා හරබර හිස්වැසුම් අතරින් කෙලෙසී යන මලියදේව නම හතරවෙනි වරට මම එදා දිටිමි.

මා මලියදේවයේ ශිෂ්‍යයෙකි - නේවාසික ශිෂ්‍යයෙකි. යුද බිය පහව් යයි. ලොරි එයි. බඩු පටවයි. යලිත් මලියදේවය එතැනටම එයි. පොල්ගස් කැපෙයි. ක්‍රීඩා පිටි තැනෙයි. මී වදයක මී මැස්සන් මී රැස් කිරීමට කරන යත්නයක් මෙන් ගුරුගෝල දෙපක්ෂයම ක්‍රියාකාරී වෙති. ඒ සමගම නිදහස් අධ්‍යාපන පනත පාර්ලිමේන්තුවට එයි. එය නීති ගතවෙයි. හමුදා සෙබළුන් විසින් කඩතොලු කරන ලද ගොඩනැගිලි, හිස් සාඩින් ටිං, සිගරට් පැකට්, පොල්අතු බැඳ බට පැලලි වලින් ආවරණය කරන ලද තාවකාලික මඩු ආදි සුන්බුන් අතරෙන් එදා යලිත් පස්වෙනි වරට මම මලියදේවය දිටිමි.

විශ්ව විද්‍යාල ප්‍රවේශ පන්ති ඇරඹෙයි. පුස්තකාල සංවිධානය වෙයි. සාකච්ඡා පංති පැවැත්වෙයි. අයෙක් විශ්ව විද්‍යාල ප්‍රවේශය ලබති. සාහිත්‍ය සංගම් ආරම්භ වෙයි. රතු කුරුස සංගම් බිහිවෙයි. බාලදක්ෂයෝ යුහුසුළු වෙති. කැඩේට් භට කණ්ඩායම් එබීතර වෙයි. පැයෙන් පැය, තප්පරයෙන් තත්පරය, අමුතු උද්‍යෝගයක් ආරූඪ කර ගනිමින් ක්‍රිකට් පා පන්දු ආදී ක්‍රීඩා

කණ්ඩායම් ප්‍රදේශයේ ජය කෙහෙළි නංව-මින් අනභිභවනීය බවට පත්වෙයි.

x x x x

විද්‍යාගාර ඇරෙයි. විද්‍යා විෂයයන් ඉගැන් වෙයි. විශ්ව විද්‍යාල ප්‍රවේශ විද්‍යා පන්ති ඇරඹෙයි. අයෙක් විශ්ව විද්‍යාල ප්‍රවේශ ලබත්. කලාඥයෝ පිටවෙති. විද්‍යාඥයෝ පිටවෙති. මේ හැම කී නොකී අභ්‍යන්තර හා බාහිර විසිතුරු අතරින් මම නැවත වරක් මලිය දේවය දිටිමි.

ලක්දිව නම් දූරු මහා විද්‍යාල අතුරෙන් එකකි. වයඹ පළාතේ ශ්‍රෙෂ්ඨතම විද්‍යාල යයි. කුරුණෑගලට සිළුමිණකි. නගරයේ ඓතිහාසික නාමය ආරක්‍ෂා කරමින් සිහි පත් කරවමින් අද මලියදෙවය වැජඹෙන් නීය. නොබෝදා ගේට්ටුවෙන් ඇතුළු වූ මට ලැබුණු අධ්‍යාත්මික ප්‍රීතිය, මානසික ප්‍රබෝධය නිම් හිම් නැත. නිශ්ශබ්ද පියස ශාන්ත පරිසරය, පවිත්‍රතාවේ සංකේතය අද මලියදේවයේ මම දකිමි.

විද්‍යා චක්‍රවර්තිහු බුත් සරණ ලියූහ එවැනිම අයෙක් දහම් සරණත් අනෙ-කෙක් සඟ සරණත් ලියූහ. මේ මේ හේතූන් නිසා බුත්සරණ යායුතුයයි විද්‍යා චක්‍රවර්ති උදන් දැනූහ. මේ මේ හේතූන් නිසා දහම් සරණ යා යුතුයයි අනෙකා මොර දුන්හ.

මේ මේ හේතූන් නිසා සඟ සරණ යායුතු යයි තෙවැන්නා හඬ නැගූහ. අසරණ සරණ වූ ත්‍රිවිධ රත්නය මෙනෙහි කරමින් ඔවුහු සරණ ගියහ. මලියදේවයද දහසක් දෙනාට සරණ වී ඇත. අද දහසක් දෙනාට සරණ වෙමින් සිටී. අනාගතයේදී එවැනිම සංඛ්‍යා වකට සරණ වන්නීය. ඇගේ සරණ ලැබූ දහසක් දෙනා තමන්ට කළ සේවය මෙනෙහි කරමින්සදා කල්හිම මලියදේවය සරණ යා යුතුය. දූන් ඇගේ සරණ ලබන දහසක් දෙනාද තමන් වෙනුවෙන් ඇය විඳින දහදුක සිහිපත් කරමින් ඇය සරණ යා යුතුය. මත්තට ඇතුල් වීමේ අවසරය පුල පුලා සිටින දහසක් දෙනා විසින්ද ඇය සරණ පැතිය යුතුමය. රටට දූයට හා ආගමට ඇය කරන අකලංක සේවය ස්මරණය කරමින් පොදුවේ ලක් වැසි ජනතාවම මලියදේව මාතාවට තමන්ගේ භක්ති ප්‍රණාමය පිරි නැමිය යුතුමය.

රටට වැඩැති, දූයට ලයැති, ආගමට භක්තිය ඇති දරු පරපුරක් බිහි කිරීමේ පරම පවිත්‍ර චේතනාවෙන්, මලියදෙව මාතාවෙනි! ඔබ ගන්නා අප්‍රතිහත ධෛර්‍යය සම්ප්‍රකාරයෙන්ම සාර්ථක වේවා.’’ මේ මගේ පැතුමයි.



# මෘත අතීතය.

## එන්. ජේ. ද තාබ්‍රෑ විසිනි.

වර්ෂ 1935 ට පෙර කුරුණෑගල නගරයේ ඉංග්‍රීසි පාඨශාලා තුනක් තිබිණි. මේ හැර කුරුණෑගල ප්‍රදේශයේ වෙන කොතැනකවත් ඉංග්‍රීසි පාසැලක් නොවීය. මේ පාසැල් තුනෙන් එකකවත් ළමයි 50 කට හෝ 60 කට හෝ වැඩිය නොසිටියහ. මේ පාසැල් වලින් වුවද ඉංග්‍රීසි අද්ධ්‍යාපනයක් ලබා ගත හැකිවූයේ මුදල් හදල් ඇති සෑහෙන ධනවතුන්ගේ දරුවන්ට පමණකි. මේ පාසැල් තුනෙන් එකකවත් 8 වැනි පන්තියට වඩා උසස් පන්තියක් නොතිබිණි. ඊට වඩා උසස් අද්ධ්‍යාපනයක් ලබා ගැනීමට බලාපොරොත්තු වූ අය යාපනය, මහනුවර, කොළඹ ආදි නගරවල ඇති උසස් විදුහල් කරා ගියහ. එසේ ගියේත් යෑමට තරම් ශක්තිය තිබුණේත් ඉතා ටික දෙනෙකුට පමණකි.

ව්‍යවස්ථාදායක මන්ත්‍රණ සභාවේ මන්ත්‍රීවරයකු වූ අභාවප්‍රාප්ත ජී. ඊ. මඩවල මහතා එවැනි උසස් අද්ධ්‍යාපනයක් ලැබූ කෙනෙකි. කුරුණෑගලට ආසන්න මඩවල ග්‍රාමයේ ජන්ම ලාභය ලැබූ මෙතුමා ශිල්ප ශාස්ත්‍ර හැදෑරුවේ මහනුවර ත්‍රිත්ව විද්‍යාලයෙනි. ඒ නිසාමදෝ උත්පත්තියෙන් බෞද්ධයකුවූ මඩවල මන්ත්‍රීතුමා ක්‍රිස්තියානි ආගමට ලැදිව සිටියේයයි කියනු ලැබේ.

ලබ්ධිය කුමක් හෝ වේවා මඩවල මහතාගේ චිත්තාභ්‍යන්තරයේ කුරුණෑගල පෙදෙසට උසස් විද්‍යාලයක් නොමැතිකම ගැන තියුණු හැඟීමක් තිබුණු බව නිසැකය: කුරුණෑගල නගරයේ තිබුණු අක්කර හයක පමණ විශාලත්වය ඇති තම ඉඩම සහ වලව්ව උසස් පාසැලක් සඳහා සිය අන්තිම කැමති පත්‍රයෙන් වෙන්කර තිබීම එයට නිදසුනකි. උසස් පාසැලක් ආරම්භ කරන කෙනෙකුට පවරා දෙනතුරු ඉඩමේ හා වලව්වේ භාරකාරත්වය තිදෙනෙකුගෙන් යුත් මණ්ඩලයකට පවරා තිබිණි.

මේ බව සැලවූ අබෞද්ධ පිරිසක් ඉතා රහසිගතව ජයතිලක නම් මහතෙකුට අයත්ව තිබුණු "රොස්ටින් කොටේජ්" නමැති මන්දිරය සහ අක්කර 10 ක් පමණ විශාල ඉඩමද විශාල මුදලකට මිලයට ගත්හ. මේ ඉඩම පිහිටියේ මඩවල මන්ත්‍රීතුමාගේ ඉඩමට යාබදවය. අනතුරුව මඩවල මැතිතුමාගේ අන්තිම කැමති පත්‍රයේ සඳහන් පොරොන්දු ඉටු කරන බව කියා එම ඉඩමද පවරා දෙන ලෙස ඔවුහු ඉල්ලා සිටියහ.

මේ කාලයේ පලාතේ බෞද්ධ කටයුතු වල නිරතව සිටි කොලින් ද සොයිසා මහතාටත් දෙස්තර සිල්වා මහතාටත් මේ රහස් ව්‍යාපාරය ගැන දැනගන්නට ලැබිණි. මේ පිළිබඳව කරන්නේ කුමක්දැයි ඒ දෙදෙනා කල්පනා කළහ. මඩවල මන්ත්‍රීතුමාගේ ඉඩමෙන් කොටසක් මඩවල කුමාරිහාමිටද අයත්ව ඇති බව ඔවුහු දැන සිටියෝය. තම පුද්ගලික මුදල් යොදවා සිල්වා මහතා එම කොටස මිලයට ගත්තේය. එතෙකින් නොනැවතුණු මේ දෙපොළ ඉතා සුලු කලකින් බෞද්ධ මහ ජනයාගෙන් රුපියල් විසි දහසක් පමණ එකතු කොට යථෝක්ත මිලයට ගත් ඉඩමේ පාසැලක් සඳහා ගොඩනැගිලි දෙකක්ද ඉදි කළහ. දැනට පන්ති කාමර වශයෙන් යොදාගෙන ඇති මඩවල ශාලාව සහ ඇප්. ආර්. සේනානායක ශාලාව ඒ ගොඩනැගිලි දෙකය.

මඩවල මන්ත්‍රීතුමාගේ අන්තිම කැමති පත්‍රය අනුව ඉඩමේ සහ වලව්වේ භාරකාර

මණ්ඩලයට අයත්වූයේ රජයේ දිසාපති වරයා, දිස්ත්‍රික් විනිශ්චයකාර මහතා සහ පලාත් ආණ්ඩු සභාවේ සභාපති වරයාත්ය. එවකට දිසාපති ධූරය දැරූ එඩ්මන් රුද්‍රිගු මහතා බෞද්ධයකු වූ අතර දිස්ත්‍රික් විනිශ්චයකාර ප්‍රසාද් මහතා පාර්සි ජාතික යෙක් විය. පලාත් ආණ්ඩු සභාපති ධූරය දැරූ තම්බිරාජා මහතා හින්දු භක්තික යෙකි. මණ්ඩලය පිට පැවරී ඇති වගකීමේ බරපතලකම නිසා මේ තිදෙනා විසින් යථෝක්ත ඉඩමේ භාරකාරත්වය මහා භාරකාරතුමාට පවරා දෙන ලදී. මේ වනවිට ආටිගල මුදලිතුමා විසින් ඉදිකර දෙනලදුව නුවර පාරේ ගොඩනැගිලිවල පවත්වාගෙන ගිය මලියදේව විද්‍යාලය ඉහතින් සඳහන් කළ මඩවල ශාලාව හා සේනානායක ශාලාවද කරා ගෙනවිත් තිබිණි.

මේ අවදිය වනවිට නොයෙක් අවහිර මද්ධ්‍යයේ අවුරුදු 37 ක් කළමනාකරු වශයෙන් කටයුතු කළ අබයගුණරත්න නොතාරිස් රාළහාමි රෝගාතුර වූයෙන් යථෝක්ත කළමනාකාර ධූරය දොස්තර සිල්වා මහතාට පැවරිණි. එවකට කුරුණෑගල තරුණ බෞද්ධ සමිතියේ සභාපති ධූරය දැරුවේද සිල්වා මහතාය. ඒ නිසා මෙතෙක් කොළඹ පරම විඥානාර්ථ සමිතිය සමග තිබුණු සම්බන්ධකම් අත්හැර දමා මලියදේවයේ සම්පූර්ණ පාලනය කුරුණෑගල තරුණ බෞද්ධ සමිතියටම පවරා ගන්නා ලදී.

ඉන් පසු තම පුද්ගලික මුදල් යොදා මඩවල කුමාරිහාමිගෙන් මිළයට ගෙන තිබුණු ඉඩමේ අයිතිය සිල්වා මහතා විසින් තරුණ බෞද්ධ සමිතියට පවරාදෙනු ලැබීය. මේ අතරතුර එවකට කුරුණෑගල රාජ්‍ය මන්ත්‍රීවරයාව සිටි ජෝන් කොතලාවල මැතිතුමා රුපියල් පණස් දහසක් පමණ වැය කොට විද්‍යාලය වෙනුවෙන් දෙමහල් ගොඩනැගිල්ලක් ඉදිකර දුන්නේය.

අද අප විද්‍යාලයේ දක්නට ඇති දියුණු වට හේතුවූයේ 1930 හේදී ප්‍රධානාචාර්ය ධූරයට පත්ව ආ වත්තිනායක මහතාගේ පරිශ්‍රමයත් එවකට සිටි කීර්තිමත් ගුරු මණ්ඩලයෙන් එතුමාට ලැබුණු නොමසුරු සහයෝගයත් නිසා බව කිව යුතුය. අභාව ප්‍රාප්ත ඉලන්කෝන්, සාගර පලන්සූරිය, දැනට උඩබද්දලව මහා විද්‍යාලයාධිපති ඊ. ඇස්. බාලසූරිය, කේ. ඩී. ඩබ්ලිව්. ද. සිල්වා, උප අද්ධ්‍යාපන අද්ධ්‍යක්ෂක ජී. එච්. බී. ඒකනායක, උප අද්ධ්‍යාපන අද්ධ්‍යක්ෂක බී. පී. ඇම්. සේනානායක, අද්ධ්‍යාපන නිලධාරී, පී. ඇම්. වෙලගෙදර, අද්ධ්‍යාපන නිලධාරි ඩී. ජී. වීරකෝන්, ඊ. ආර්. ද. සිල්වා යන මහත්වරු එවකට මලියදේව විද්‍යාලයීය ගුරු මණ්ඩලයේ සේවය කළහ.

යථෝක්ත කීර්තිමත් ආචාර්යවරුන් නිසා නොවේ නම් අප විද්‍යාලයේ අද්ධ්‍යාපනය ලැබූ ආචාර්ය ජයන්ත කැලේගම, ටී. බී. එච්. අබේසිංහ, ඩී. බී. දිසානායක, ඩී. ජී. වැලිකල, සී. පී. වීරසිංහ, විල්සන් බණ්ඩාර නායක, ටී. බී. වත්තිනායක වැනි වියතුන් වත්, උපේන්‍ද්‍ර ද සිල්වා, කේ. ජෙගනාදන්, මදනායක, අමරා විජේසිංහ, වැනි දොස්තර වරුන්වත් රණසිංහ; ඇල්. සේනානායක, ඩබ්ලිව්. එම්. නන්දිසේන, ජේ. ලංකාතිලක වැනි නීතිඥයන්වත් බිහි නොවන්නට ඉඩ තිබුණු බව කිව යුතුය.



අපේ පළමුවැනි ප්‍රධානාචාර්ය
**ටී. බී. මඩවල මහතා.**

# MALIYADEVA'S DEBT TO THE KURUNEGALA Y. M. B. A.

Opposite the Athkanda Vihare on Kandy Road there stood a building about 150'x30' consisting of a single hall with short walls. In it was a school having about 150 boys; the staff consisted of seven teachers of whom not one was a graduate. There were classes from the second standard to the J. S. C. No science subjects were taught at all and of the languages, only English and Sinhalese were taught. Volley Ball was the only sport and scouting the only extra curricular activity. The school was a private (government assisted) one under the management of the late Mr. A. M. Abeygunaratne, Notary Public, who spent a great deal of his time and money in maintaining and improving it. This is the picture of Maliyadeva when I began my education there in the year 1930.

In the year 1934 the late Hon. Mr. G. E. Madawala, the then Member of the State Council for the Narammala seat who was the owner of the land on which the present Maliyadeva buildings stand, died leaving a Last Will whereby he constituted a trust of the said land and the house in which he resided for the establishment of a Secondary School and appointed a board of trustees who were to give effect to his laudable intention. Thus dawned Maliyadeva's day.

The Kurunegala Young Men's Buddhist Association which had been established in the year 1921, was at this time dormant, the Society not having met for five years. On a requisition signed by several members a special meeting of the Association was convened on 21st October 1934 and the Society resolved to obtain the said land and premises from the Trustees and establish a Buddhist Secondary School. Within a matter of months they obtained a part of the land and commenced the construction of buildings. The manner in which they achieved this, as recorded in the books of the Association, makes fascinating reading. The wealth of material contained there is sufficient to write a book on the subject but in a brief article like this I shall not attempt to say more than that, with the assistance and initiative of a band of enthusiastic Buddhist leaders, the Association was able to secure this site in the face of competition from other institutions. With public donations the Y.M.B.A. put up two buildings on the land (Jubilee Hall and Madawala Hall). Mr. Abeygunaratne who was the manager of the school at the time agreed to the shifting of Maliyadeva to the new buildings on Negombo Road and the transfer took place in the middle of 1935. At the beginning of 1936 Mr. Abeygunaratne relinquished managership of the school in favour of the Y. M. B. A. which elected the late Dr. H. K. T. de Zylva as its first Manager. It was thus that Maliyadeva came under the care of the Y. M. B. A. to start a new and vigorous life.

During the next twenty five years the school was managed by the Y. M. B. A. through several Managers (elected from its members every three years) and a special committee for educational matters. The Y.M.B A., from time to time, acquired more land and erected more buildings to accommodate the increasing numbers. Except for the storied building (which was built at the sole expense of the Rt. Hon. Sir John Kotalawala) all the other buildings were put up with public funds and savings from the College Hostel,

In the year 1958 a Board of Management consisting of fifteen members of the Association was constituted to supervise and direct the affairs of the school. A manager elected by the Board was in direct control of the school.

When in 1960 the Government decided to take over all assisted schools, the Y. M.-B. A. decided that Maliyadeva should become a Director-managed school and her long association with the Y. M. B. A. ended in December 1960. To those who had been intimately connected with the management of the school it was a sorry parting.

Due to the indefatigable efforts of the members of the Asssciation and the successive managers appointed by it, the school progressed by vast strides from year to year during the quarter century of Y. M. B. A. management. When the Y. M. B. A. relinquished management of the school in 1960 Maliyadeva was the premier educational institution in the North Western Province. There were about one thousand two hundred and fifty students on roll. The staff consisted of forty eight teachers of whom eighteen were graduates. The lands and buildings belonging to the school were worth well over five lakhs. Such is the debt Maliyadeva owes to the Y. M. B. A.

Of the many men and women who helped to build Maliyadeva during this period some are no longer with us. The names of Dr. and Mrs. H. K. T. de Zylva and Messrs. A. M. Abeygunaratne, K. B. Kaduruwewa, G. D. Wickremaratne, L. M. P. Jayawardana, D. D. W. Pratiraja. E.G. Jayalath, K. D. Bakmiwewa, and H. B. Mailewa should be remembered with gratitude. The list is by no means exhaustive. For obvious reasons I shall not name any of those who are yet alive. Maliyadeva owes a great debt to all of them for their valiant efforts which have contributed to bring her to the present position of eminence.

LONG LIVE MALIYADEVA !

**H. M. RANASINGHE.**





විසි වසක සේවයෙන් පසු විදුහල්පති ධුරයෙන් ඉවත්වූ

**යූ. බී. වන්නිනායක මහතාට ශුභ පැතීම 1950.**

# මට මතකයි.

එච්. එම්. ඩබ්ලිව්. මීවද්දන විසිනි.

හැත්තෑපස් වසරකට පෙර කුඩා විද්‍යාලයක්ව පැවැති මලියදේවය අද දිවයින පුරා පතල කීර්තියක් ඇති පළමුවෙනි ශ්‍රෙණියේ උසස් විද්‍යාලයක් බවට පත්ව තිබීම එහි දියුණුව පතන සියල්ලන්ගේම සතුටට හේතුවනු ඇත. අද මලියදේවය පන්ති කාමරයකට සීමාවූ අධ්‍යාපනය අතින් පමණක් නොව උසස් විද්‍යාලයයකට අවශ්‍ය විවිධ බාහිර අංශ අතින්ද දියුණු වූ අංග සම්පූර්ණ විදුහලකි. වයඹ ප්‍රදේශයට උසස් බෞද්ධ විද්‍යාලයක අඩුව මලියදේව යෙන් පිරිමැසේ. දැනට අවුරුදු කීපයකට පෙර උසස් අද්ධ්‍යාපනය සඳහා මහනුවර, කොළඹ, වැනි දුර බැහැර නගරවල උසස් විදුහල් සොයා යෑම මේ ප්‍රදේශයේ අයට දැන් අවශ්‍ය වන්නේ නැත.

විද්‍යාලයේ මේ දියුණුවට හේතුවූ විවිධ කරුණු අතුරෙන් ගුරු මණ්ඩලයේ සේවා වටද ලැබෙන්නේ විශිෂ්ඨතම තැනකි. ගොඩනැගිලි, මිල මුදල්, ආදිය තිබුන තරමින් වත්, ශුභ සිද්ධිය පතන්නන් සිටින තරමින්වත්, විද්‍යාලයක් උසස් තත්වයකට ගෙන ඒමට පුළුවන් කමක් නැත. විද්‍යාල යකට අවශ්‍ය සෑම පහසුකමක්ම තිබුනත් ගුරුමණ්ඩලයෙන් හරිසේවයක් ඉටුනොවේ නම් එයට කිසිදැක දියුණුව කරා පා තැබීමට .නොපුළුවන. විද්‍යාලයක දියුණුව ප්‍රධාන වශයෙන් මැනෙන්නේ අධ්‍යාපන තත්වය මතය. එහි දියුණුව මැනෙන තවත් අංශයකි ක්‍රීඩා. මේ අනුව බලන කළ අද මලියදේවය ලබා ඇති විශිෂ්ඨ තත්වය විස්තර කිරීම "ගඟ දන්නා අයට කොල කඩා පෑම" ක් වැනිය. අප විද්‍යාලයේ මේ දියුණුව ඇතිවූයේ ගුරුවරුන්ගේ නොපසු බට උත්සාහයත් නොසැලෙන ධෛර්යයත් නිසාම බව මා අමුතුවෙන් කියයුතු නොවේ.

හැත්තෑපස් වැනි ජයන්තිය නිමිත් තෙන් පළ කෙරෙන මේ විශේෂ සඟරාවේ විද්‍යාලයේ දියුණුව උදෙසා රෑ දවල් නොතකා අමරණීය සේවයක් කල ගුරු වරුන් ගැන බිඳක් සඳහන් කිරීම ඒ ගුරුවරුන්ට කෘතඥතාව දක්වීමකි. මැලේරියාව බහුලව පැවැති අවධියක කුරුණෑ ගල වැනි ප්‍රදෙශයකට පිටපලාත් වලින් ගුරුවරුන් ලබාගැනීම තරමක දුෂ්කර කරුණක් විය. මැලේරියාව මුලු රටින් තුරන්වී ගොස් තිබුනද, එදා තිබුන බිය නිසාදෝ අදත් ඇතැම් අය කුරුණෑගල ප්‍රදේශයේ රැකියාවනට ඒමට මැළිවෙති. කොළඹින් ඈත ප්‍රදේශයක් වීමත්, උෂ්ණා- ධික ප්‍රදේශයක් වීමත් යන කරුණුද තව දුරටත් මේ ප්‍රදේශයට පිටතින් රක්ෂාවලට පැමිනෙන්නන් අධෛර්යමත් කිරීමට හේතුවිය. මෙවැනි දුෂ්කරතා මධ්‍යයේ වුවද මලියදේවයට පැමිණි ගුරුවරු එහි වාසනා- වකට මෙන් දීඝී කාලයක් සේවාවේ යෙදී සිටියහ. අද වුවත් මලියදේවයට පැමි- නෙන ගුරුවරුන් එය අත්හැර යන්නේ මහත් නොකැමැත්තෙනි. හැත්තෑපස් වසරක අගනා ඉතිහාසයක් ඇති අප විද්‍යාලයේ සේවය කල හැම ගුරුවරයෙකුගෙන්ම විද්‍යාලයට ඉමහත් සේවයක් වූ බව මෙහිලා සලකන අතර දීඝී කාලයක් සේවාවේ නියුක්තව විද්‍යාලයේ ප්‍රගතිය උදෙසා ධනයත්, ශ්‍රමයත්, කාලයත් මිඩංගු කල ගුරුවරුන් කීප පොලක් ගැන විශෙෂයෙන් සඳහන් කල යුතුව තිබේ.

## ඩී. බී. ඉලංකෝන්.

මලියදේවයේ ගුරුවරයෙකු වශයෙන් අවුරුදු තිහක් පමණ කාලයක් සේවය කළ, ආදිම ශිෂ්‍යයෙකු වශයෙන්ද, වැඩිම කාලයක් සේවය කළ ගුරුවරයා වශයෙන්ද, ඩී. බී. ඉලංකෝන් මහතා හැඳින්විය හැක

ගුරුවරයෙකු වශයෙන් ඔහු තම වගකීම් හා යුතුකම් පන්ති කාමරයේදී පමණක් නොව ඉන් පිටතදීද නොපිරිහෙලා ඉටු කළ ආදර්ශමත් ගුරුවරයෙකි.

සුරුට්ටුවක් දෙතොල මත රඳවාගෙන කෝච්චියකින් මෙන් දුම්පාර හිසට උඩින් යවමින් උදේ රැයින් පලමුවෙන්ම පාසැලට පැමිණෙන්නේ ඉලංකෝන් මහතාය. මෙතුමා ගේට්ටුවෙන් ඇතුල්වත්ම විද්‍යාල භූමියේ ඉදිරිපස ක්‍රීඩාවේ යෙදී සිටින සිසුන් පිටුපස බලමින් සී සී කඩව දුවනුයේ එතුමාට දක්වූ ගෞරව සම්ප්‍රයුක්ත බිය නිසා විය හැක. මෙසේ ඔවුන් බියවනුයේ දඟ කරන සිසුන්ට එතුමාගෙන් ලැබෙන "බුරියානි" ලැබීමට අකමැති හෙයිනි. කෙටි යෙන් කියතොත් "බුරියානි" යනු "වේවැල් කසායයි" මනෝ විද්‍යාව අනුව දඬුවම් කිරීම ශිෂ්‍යයන්ට සුදුසු නැතිවුවත් එය එක්තරා ප්‍රමාණයකට හෝ අවශ්‍ය බව ඉලංකෝන් මහතා ඔප්පුකර ඇත. එතුමාගේ පංතියේ සිසුන් තම වැඩ කොටස නොපිරිහෙලා ඉටු කළ අතර, ඔවුන්ගේ වැඩවල අඩුවක් ඇති නොවීමට ඉලංකෝ මහතා වග බලා ගත් තේය. එතුමාගෙන් ඉංග්‍රීසි හා අංකගණිතය උගත් සිසුහු කවදාවත් එම විෂයන්ගෙන් දුර්වල නොවෙත්. මට එතුමාගේ පන්තියේ උගෙනුමට වාසනාවක් නැතිවුවද අප පංතියේ ගුරුවරයා නැති විටක එතුමාගෙන් ඉගෙන ගත් සැටි මා අද සිහි කරනුයේ නවතායෙනි. සිසුන්ට තේරුම් ගැනීමට අමාරු ගැටළු තේරුම් කිරීමේදී එදිනෙදා ජීවිතයට සම්බන්ධ දා උදාහරණසේ දක්වීම එතුමාගේ සිරිතය.

ඉලංකෝන් මහතාගෙන් ඉගෙන ගත් සිසුන් කීප දෙනෙකු එකතු වූ විට එතුමා පිළිබඳ රසවත් සිද්ධීන්ගැන කථා කරනුයේ එතුමාට ඔවුන් දක්වන ආදරයත් ගෞරව යත් නිසාය. අවුරුදු තිහක් පමණ වූ සේවා කාලයේදී විදුහලෙන් පිටව ගිය සිසුන්ගෙන් වැඩි දෙනෙක් එතුමාගෙන් උගෙනුම ලැබූ වන්ය. මලියදේවයේ සිටි ගුරුවරුන්ගෙන් වැඩිම ගෝලයන් පිරිසක් ඇත්තේ ඉලං-කෝන් මහතාටයැයි කීම අතිශයෝක්තියක් නොවේ.

ඉලංකෝන් මහතා විද්‍යාලයේ ප්‍රාථමික අංශයේ ප්‍රධානාචාර්යවරයා ලෙසට බොහෝ කාලයක් කටයුතු කළේය. ගුරු දෙගුරු සංගමයේ ලේකම්වරයා හැටියටද විද්‍යාලයට විශාල සේවයක් කර තිබේ. ගොඩනැගිලි අරමුදල් එකතු කිරීමට මෙතුමා මහත්සේ වෙහෙස විය. මේ කාලයේදී ගුරු දෙගුරු සංගමය ඉදි කළ ගොඩනැගිල්ලෙහිය, අද ප්‍රාථමික අංශයේ පංති පවත්වන්නේ.

අවසාන කාලයේ ඉලංකෝන් මහතා අසනීප තත්වයකින් පසුවුවද පාසැලට නොපැමිණියේ කලාතුරකිනි. අසනීපයෙන් සිටියද තම වැඩ කොටස නොපිරිහෙලා ඉටු කිරීම සෑම ගුරුවරයෙකුටම ආදර්ශයකි. ඉලංකෝන් මහතා අද ජීවතුන් අතර නැති වුවද, එතුමාගෙන් විද්‍යාලයට වූ අමරණීය සේවයත්, රට වෙනුවෙන් මහත් සේවයක් කලහැකි අගනා ගෝල පරපුරක් ඇති කිරීමත් නිසා එතුමාගේ නාමය විද්‍යාලයීය ඉතිහාසයේ අමරණීයව පවතී.

## ආනන්ද හිමි.

දැනට කුරුණෑගල ඉබ්බාගල විහාරාධි පති නැකැත්තේ ආනන්ද නායක ස්වාමීන් වහන්සේගෙන් මලියදේව විද්‍යාලයට අවුරුදු විස්සක් පමණ කාලයක් තුළ වූ සේවය ගැන පලාත්වාසීන් පමණක් නොව ලක්වැසි මුළු බොදු ජනතාවම ආඩම්බර විය යුතුය. මෙතරම් දීර්ඝ කාලයක් තුල කිසිම වේතන යක් නොලබා මෙරට බුද්ධ ධර්මය ප්‍රචලිත කිරීමේ එකම අභිලාෂයෙන් මලියදේව සිසුන්ට බුද්ධ ධර්මය ඉගැන්වීමෙන් උන්-වහන්සේ කළ සේවය කියා නිම කළ නොහැක්කකි. ඉංග්‍රීසි භාෂාවට මුල් තැනදී අපරදිග සිරිතට නැඹුරුව ඉංග්‍රීසි විදුහල් පවත්වාගෙන ගිය මේ යුගයේ මලියදේව විද්‍යාලයේ ආගමික කටයුතු වලට විශිෂ්ඨ තැනක් දී නියම බෞද්ධයන් විද්‍යාලයෙන් බිහිකිරීමට උන්වහන්සේ ගත් වෑයම අප සිහිපත් කළ යුත්තේ ගෞරවයෙනි.

ඉබ්බාගල මුදුනේ සිට උදේට පහලට බැසීමත්, සවසට ඉහලට නැගීමටත් තරුණ වියේ කෙනෙකුට පවා දිනපතා නොකළ

හැකි අසීරුදෙයකි. උන්වහන්සේ මෙයකලේ දිනක් හෝ දෙකක් පමණක් නොවේ. අවුරුදු විස්සක්ම එය කළෝය. උන්වහන්සේ විද්‍යාලයේ සඟවෙනි පංතියේ සිට ජ්‍යෝෂ්ඨ පංතිය දක්වා පන්ති රාශියක ආගම ඉගැන්වූයේ බලවත් ප්‍රීතියෙනි. ඒ කරදරයක්සේ කිසිදක සිතුවේ නැත. උන්වහන්සේ ධර්මය ඉගැන්වීම සිසුන්ගේ සුචරිත වර්ධනයට තුඩුදුන් නිසා මලියදේවයේ ශිෂ්‍යයෝ කවදත් විනීත වූහ.

විද්‍යාලය උසස් තත්වයකට නඟාලීමට කළ හැම කටයුත්තකදීම ආනන්ද හිමියෝ ප්‍රමුඛස්ථානයක් ගෙන කටයුතු කළෝය. එවකට විදුහල්පතිව සිටි යූ. බී. වන්නිනායක මහතාට උන්වහන්සේගෙන් ලැබුනේ ධෛර්‍යයකි. ආනන්ද සවාමීන් වහන්සේ අද විද්‍යාලයේ ආචාර්ය මණ්ඩලයේ නොසිටියද උන්වහන්සේගෙන් එදා වූ සේවය මෙන්ම අදත් විද්‍යාලයේ ආගමික කටයුතු වලට ලැබෙන අනුග්‍රහය මෙහිලා විශෙෂයෙන් සඳහන් කල යුතුව තිබේ.

## වන්නිනායක

විද්‍යාලයාධිපති වශයෙන් හා දක්ෂ ගුරුවරයෙකු වශයෙන් යූ. බී. වන්නිනායක මහතාගෙන් මලියදේවයට සිදුවූයේ විශිෂ්ඨ සේවයකි. මලියදේවය අද උසස් තත්වයක් ලබා තිබීමේ ගෞරවය වැඩි වශයෙන් හිමි විය යුත්තේ වන්නිනායක මහතාටය. එතුමාගේ ජීවිතයෙන් හරි අඩක් පමණ කැපකළේ විද්‍යාලයේ දියුණුව සඳහාය. වන්නිනායක මහතා මලියදේවයේ විදුහල්පති වශයෙන් වැඩ බාර ගත්තේ පාලක පක්ෂයේ බලවත් ඉල්ලීම නිසාය. ඔවුන් මේ තීරණය ගත්තේ පළාතේ කෙනෙකු වූ මෙතුමාගෙන් මහත් සේවයක් ඉටුවේය යන බලාපොරොත්තුව උඩය. ඒ බලාපොරොත්තුව එලෙසින්ම වන්නිනායක මහතාගෙන් ඉටුවිය. පෞද්ගලික පාසැලක් දියුණු කිරීම පහසු වැඩක් නොවේ. වන්නිනායක මහතා තරුණ බෞද්ධ සමිතියත් සමග දහසක් කරදර මැද මලියදේවය අංග සම්පූර්ණ විදුහලක් බවට පත් කළේය.

වන්නිනායක මහතා දක්ෂ ගුරුවරයෙකි. එතුමා වැඩි වශයෙන් ඉගැන්වූයේ ඉංග්‍රීසි හා ඉතිහාසයත්ය. එහෙත් අංක ගණිතය, මූලික ගණිතය ආදි විෂයයන් උගැන්වීමේ හැකියාවක්ද මෙතුමාට තිබුනි. ගුරුවරයෙකු නැති පංතියකට වදින එතුමා ඒ අවස්ථාවට නියම ඕනෑම විෂයයක් කිරීම එතුමාගේ සිරිතය.

වන්නිනායක මහතාගෙන් ඉංග්‍රීසි උගැනීම මාර යුද්ධයක් වැනිය. ඉංග්‍රීසි වචන නියම් ලෙසට උච්චාරණය කරවීමට ලොකු උනන්දුවක් මෙතුමා දැක්විය. කිසිම වයස් සීමාවක් නොතකා විදුහලට සිසුන් බඳවා ගන්නා, මෙකල ඉංග්‍රීසි පන්තිවලටද වැඩි වශයෙන් සිටියේ අවුරුදු විස්ස ඉක්මවූ සිසුන්ය. මේ අයගෙන් වැඩි දෙනෙක් ඉංග්‍රීසි වචන ශබ්ද කලේ ගොරහැඩි තාලයකටය. එක වචනයක් ශබ්ද කරන අයුරු පුහුණු කරවීමට බොහෝ වේලාවක් ගතවූ අතර එය සිසුන්ට මහත් කරදරයක් විය. වරදවා ශබ්ද කරන ශිෂ්‍යයින්ට කම්මුල් පහර හෝ වේවැල් පහර ලැබුනි. එදා එය ගැහැටක් වුවද එයින් සිදුවූ සේවය ගැන සිසුහු අදත් ඒ මහතාට ප්‍රශංසා කරති. ඉංග්‍රීසි පාඩම් කියවීමට අණකල විට ඒ සඳහා ඉදිරිපත් වන්නෙක් නොවීය. සැම දෙනාම පොත් අස්සේ සිය ඔළු සඟවා ගතිති. යම් කෙනෙකුට පාඩම කියවීමට අණකළ විට අන් සිසුන් ලබන සැනසිල්ල කොතරම් දැයි කිව නොහැක. එයට හේතුව කියවන්නට වූ තැනැත්තාට ලෙහෙසියෙන් ගොඩ ඒමට බැරි බවත් මුළු කාලය තුලදීම ඔහුට කියවීමට සිදුවන බව අන් සිසුන් දන්නා බැවිනි. සමහර විට කීප දවසක් එකම ජේදයක් වැරදි හරි ගස්ස ගස්සා කියවීමට සිදුවේ.

ඉංග්‍රීසියෙන් රචනා ලිවීමේදී වාරයකට රචනා එකකට හෝ දෙකකට හෝ වඩා ලිවීමට නොලැබෙන බව එතුමාගෙන් උගෙන ගත් සිසුන් හොඳින් දන්නවා ඇත. සැම වර්ෂයකදීම මුල් වාරයේදී පූර් ජ්‍යෙෂ්ඨ සිසුන්ට ලැබෙන විශෙෂ රචනයකි. "ගංගා වලින් ලැබෙන ප්‍රයෝජන." එක එක

ප්‍රයෝජන විස්තර කර ඒවා පිළිබඳව වෙන වෙනම ඡේද ලියන අන්දම විස්තර කර දීමට සෑහෙන කාලයක් ගතවේ. එය අවසානයෙදී සිසුන් අතින් ලියවෙනුයේ ඉතා හොඳ රචනයකි. රචනාවක් ලියන්නේ කෙසේද යන්නට මේ පාඩම පමණක් ප්‍රමාණවනු නොඅනුමානය.

මෙතුමාගෙන් ඉතිහාසය උගෙනීමද එතරම් පහසු නොවේ. අමාරුවෙන් හෝ එතුමාගෙන් ඉගෙන ගත් දෑ කිසිදාක අමතක නොවේ. ඉතිහාස පාඩමට සූදානම් වී වේවැලක් අතින් ගෙන කාර්යාලයෙන් එළි යට එනවාත් සමග ඉදිරිපස ඇති කොට බිත්තියට එතුමාගෙන් නොදැනීම වේවැලෙන් පහරක් වදී. එතැන් සිට පන්තියට යනතෙක් අතර මග කනු හා බිත්තිවලට වැදෙන හැම පහරක්ම තමන්ට වදින්නාක් මෙන් ශිෂ්‍යයන්ට දැනේ. වේවැල මේසය උඩ තබා රටහුණු කෑල්ලක් අතට ගෙන දහසක් කෑලි වලට කඩමින් සිය පාඩම ආරම්භ කරයි. "ඉංග්‍රීසින්ට ලංකාවේ මුහුදු බඩ පෙදෙස් අයිති වූ සැටි" පිළිබඳ පාඩම ඉගැන්වීමේදී ප්‍රංශය ඕලන්දයට පහර දුන් සැටිද, ඕලන්දයේ "ස්ටැඩ් හොල්ඩර්" එංගලන්තයට පැනගිය අන්දමද, එහිදී ඔහු පිළිගත් අන්දමද, මහරජ වෙලෙඳ සමාගමට ලංකාව පිළිබඳ ලිපියක් ලියූ සැටිද ආදීය විස්තර කළ අකාරය තවමත් මගේ කන්වල රැව් පිළිරැව් දෙන්නේ එතුමාගේ හඬ කැවූ තැටියකට සවන් දෙන්නාක් මෙනි.

වන්නිනායක මහතා පිළිබඳ රසවත් සිද්ධීන් අමතක කළහොත් එය ලොකු අඩුවක් සේ පෙනේ. වේවැලෙන් බිත්ති වලටත් කනුවලටත් තට්ටු කරමින් වම් අතේ සුලැඟිල්ලේ දමා ඇති මුද්ද දෙස වරින්වර බලමින් විද්‍යාලය වටා දිනකට කීප වරක් යෑම මෙතුමාගේ සිරිතය. එතුමා එන ශබ්දය ඇසෙනවාත් සමගම විද්‍යාලය තුළ නිශ්ශබ්දතාවය රජ කරණ අතර, ඇතැම් ගුරුවරුන් ශබ්දනගා උගන්වන, අතර එතුමා ගෙන් උගෙන ගත් ගුරුවරු තම උගැන්වීමේ ශබ්දය අඩුකරන්නේ තමන්ගේ වැරදි අසුවේය යන බිය නිසා වියයුතුය. දිනක් මෙතුමා රවුමේ යනවිට ගුරුතුමෙකු නැති පන්තියකට වැදුනි. කලබලවූ සිසුන් අතට අසුවුනු අසුවුනු පොත් ගෙන කියවීමට පටන් ගත්හ. කෙනෙකු කියවූයේ ඉංග්‍රීසි ශබ්ද කෝෂයයි. තවත් ශිෂ්‍යයෙක් පොත් නොපිටට පෙරලා කියවමින් සිටි යේය. නමුත් ඔහු එය ඉතා ඕනෑකමින් කියවූයේ එතුමා ඉක්මනින් යාවිය යන බලාපොරොත්තුව උඩය. නමුත් එසේ වූයේ නැත. ශබ්ද කෝෂය තබා වෙනත් පොතක් ගැනීමටවත්, නොපිට හරවාගත් පොත් නියම අතට හරවා ගැනීමටවත් දෙදෙනාටම ශක්තියක් නොතිබුනි. පන්තිය වටේ ගිය එතුමා "දැන් ඩික්‍ෂනරිය පාඩම් ඇති නේද" කියනවාත් සමගම අත තිබූ වේවැල උස් පහත් වනවා පෙනුනි. පොත නොපිටට හරවා ගත් ශිෂ්‍යයා දෙස බැළු එතුමාට සිනහ පහළ විය. වන්නිනායක මහතා සිනහ වූවහොත් ඒ කුමකටදැයි සිසුහු දනිති. නමුත් වූයේ අනිකකි. ඒ ශිෂ්‍යයා දෙස නැවත වරක් බලා පන්තියෙන් පිටවී ටික දුරක් ගොස් නැවත සිනාහ වූයේ නොපිටට හරවාගෙනත් පොත් කියවන් නට හැකිදැයි සිතමින් විය හැක.

සිසුන්ගේ අවධානය පාඩමට ලක්කිරී ටම වන්නිනායක මහතා විවිධ උපක්‍රම යෙදුවේය. පාඩමක් උගන්වන අතර ප්‍රශ්න ඇසීම ඔහු නිතරම කරන දෙයකි. ප්‍රශ්ණයක් අසා වැරදි උත්තරයක් බාගයට කියා ශිෂ්‍යයෙකු වෙත ඇඟිල්ල දික්කල විට ඇහුම් කන් නොදී සිටියා නම් එම ශිෂ්‍යයා වැරදි උත්තරය සම්පූර්ණ කරයි. දිනක් එතුමාගේ මුවින් නැගුනු ප්‍රශ්නයෙකි මේ. "ලංකාවේ අන්තිම සිංහල රජතුමා කවුද?" "නැපොලී යන්...." කියා උත්තරය ආරම්භ කරමින් ශිෂ්‍යයෙකු වෙත ඇඟිල්ල දික්කලේය. කලබල වූ ශිෂ්‍යයා "බොනපාර්ට්" කියා උත්තරය සම්පූර්ණ කළේය. ඉන්පසු වූයේ කුමක්දැයි නොකිවමනාය. තවත් දිනක් ඇසූ ප්‍රශ්නයකි මේ; "යූ. එන්. ඕ (U. N. O.) කියන්නේ කුමක්ද?" "ඔහු". කියා උත්තරය

ආරම්භ කර ශිෂ්‍යයෙකු වෙත ඇඟිල්ල දික් කළේය. "රුසියාවේ නිලධාරියෙකි" ඔහු උත්තරය සම්පූර්ණ කළේය. "මිනිහා හරි ලොකු මිනිහෙක් වෙන්ඩ ඕනෑ" කියමින් ශිෂ්‍යයා තමා වෙත කැඳවා ගත්තේය. මොහු අද කුරුණෑගල රජයේ කාර්යාලයක සැලකිය යුතු රක්ෂාවක් කරයි.

විදුහල්පති වශයෙන් වන්තිනායක මහතාට මුල් කාලයේදී මුහුණ පාන්නටවූ එක් දුෂ්කර කරුණක් නම් විදුහලට අවශ්‍ය ගුරුන් ලබාගැනීමය. ගුරුවරු හිඟවූ විට විද්‍යාලයේ උගත් ජ්‍යෙෂ්ඨ සමතෙකු පාරේ යනවා දුටුවොත් අත් පොලසන් ගසා කැඳවා එවේලේ ඔහු ගුරවරයෙකු නැති පන්තියකට යවයි. තමා වැදගත් ගමනක් යමින් සිටියද කිසිවක් නොකියා පන්තියට ගොස් වැඩ කිරීමට සිදුවේ. මෙසේ පාරේ යද්දී පන්ති-වලට ඇද දැමූ ගුරුවරුන් දෙදෙනෙක් තවම විද්‍යාලයේ ගුරු මණ්ඩලයේ සිටිති. දැනට මේ දෙදෙනා උසස් විභාග වලින් සමත්වී විද්‍යාලයට හොඳ සේවයක් කරන දක්ෂ ගුරුවරුය.

වන්තිනායක මහතා මතුපිටින් ආදරයක් නොපෙන්වූවත් තමාගේ ශිෂ්‍යයන්ට මහත් ආදරයක් ඇත්තෙකි. ඔවුන් විද්‍යාලයෙන් පිටවී උසස් රක්ෂාවල යෙදී හොඳින් ජීවත්වනවා දැකීම තරම් තවත් ප්‍රීතියක් එතුමාට නැතැයි සිතිය හැක. ශිෂ්‍යයන් එතුමාට දක්වන්නේ මහත් ලැදි බවකි. ආදි ශිෂ්‍ය සංගමයේ රැස්වීමට හෝ රාත්‍රි භෝජන සංග්‍රහයට හෝ පැමිණෙන ආදි සිසුන් එතුමා පිළිබඳ රසවත් සිද්ධීන් සිහි කරමින් විනෝද වනුයේ එතුමාට ඇති හුදු ගෞරවයත් ආදරයත් නිසාය. එකි-නෙකා එතුමාගේ දඬුවම් ලැබූ අයුරු පව-සමින් විනෝද වන අතර මා එතුමාගෙන් කම්මුල් පහරක් කා ඇති බව මෙනෙහි කරන්නේ ආඩම්බරයෙනි,

## තාබෲ

මලියදෙවයට කිසිදාක අමතක කල නොහැකි ගුරුවරයෙකි, එන්. ජේ. ද තාබෲ මහතා, විද්‍යාලයේ සෑම කටයුත්තකදීම මුල් තැනක් ගෙන මෙතුමා කටයුතු කළේය. එහි දියුණුව සඳහා කළ සෑම කටයුත්තක දීම ඔහු විදුහල්පතිතුමාට සහාය විය පන්තියේ තමාට හිමි කටයුතු නිසි පරිදි ඉටු කළ අතර ඔහු විද්‍යාලයීය බාල දක්ෂ ආචාර්යවරයාද විය. තම බාල දක්ෂ කණ්ඩායම දියුණු කිරීමට මෙතුමා මහත්සේ දිරි දැරිය පදක්කම් ලැබීම සඳහා පරීක්ෂණ වලින් සමත්වීමට ශිෂ්‍යයන් පමණක් සහභාගී වන කඳවුරු වලදී ඔවුන්ගේ රහස් ඇල්ලීමට මොහු යන්නේ වෙස් වලාගෙනය. දිනක් ගොවිරාළ කෙනෙකු මෙන් කඳවුරකට ගොස් ශිෂ්‍යයන් සමග කථා කළ මුත් එම සිසුන්ට මෙතුමා අඳුනා ගත නොහැකි විය.

තාබෲ මහතා විකටයෙකි. විහිළුවෙන් අනිත් ගුරුවරුන්ට හිරිහැර කිරීම විනෝදයක් කොට මෙතුමා සැලකීය. ඒ මහතාගේ විහිළු වලට විශේෂයෙන් ලක්වූ එක් ගුරුවරයෙක් විය. එම ගුරුවරයා දුම්රිය පොලට යන්නේ රික්ෂෝවකිනි. එක් දවසක් තාබෲ මහතා රික්ෂෝකරුමෙන් සැරසී හිසේ ජටා-වක්ද බැඳගෙන රික්ෂෝ කරුට මුදල් දී රථය ඉල්වා ගෙන පඩිපෙල ලඟට වී සිටියේය. ඉහත සඳහන් ගුරුවරයා රථයට ගොඩනැගී වාඩි විය. තාබෲ මහතා රික්ෂෝව ඇදගෙන පාර දිගේ දුවන්ට විය. කිසිවෙකුට ඒ මහතා අඳුනාගත ගත නොහැකි විය. ටික දුරක් ගොස් පය ලිස්සුවාක් මෙන් පෙන්වා රික්ෂෝව පෙරලා පැන ගියේය.

තාබෲ මහතා පිළිබඳ රසමුසු සිද්ධීන් එමටය. ඒ මහතා බර කරත්ත වලින් ගමන් යෑමට ප්‍රිය කළේය. වරක් රිදී විහාරයටද, වරක් අනුරාධපුරයටද, බරකරත්තවල චාරිකාවල යෙදුන ඔහුට පමණක් නොව ඔහු සමග ගිය අන් අයටද ඉන් ලැබුනේ අපමණ ප්‍රීතියෙකි. දිනක් මහරු ලාම්පු නැතිව කරත්තයක් දක්කාගෙන නගරය මැදින් යද්දී ඔහු සිතූ ලෙසටම පොලිසියට අසුවිය. එදා ඔහු පොලිස් නිලධාරින්ගෙන් ඇතිවනතුරු බැණුම් ඇසීය. කරත්තකු

පොලීසියට ගෙන යාමට අණකල විට ඔහුගේ වෙස් මාරුව ඉවත් විය. එයින් නීලධාරීන් පුද්ගලයා ඇඳින ගත්තට ඉඩදුනී. ඔහු එදා ඒ ගමන ගියේ පසුදා නගරයේ තිබූ පැල සිටුවීමේ උත්සවයකට පැල ගෙනඒම සඳහාය.

රාත්‍රී දෙලහට හූ කියන 'මහ සොහොනා' නමින්ද මෙතුමා හැඳින්වීමේ වරදක් නැත. බදාදා හා සෙනසුරාදා දිනවල හරියට රෑ දෙලහට ඔහු යකෙකුගේ විලාශයෙන් හූ කීවේය, අසල්වැසියන් භයකර ඔහු එයින් විනොදයක් ලැබීය. අවට සියළු දෙනා බියෙන් පසුවූ අතර පොලීසිය මේ කුමක් දැයි සෙවීමට උත්සාහ දරා මුත් යකා අල්ලා ගත නොහැකි විය. තාඩෲ මහතා විනෝද යට කැමැත්තෙකි. ඔහු කෙනෙකුට විහිළු කරන්නේ ඔහු අමාරුවේ දැම්ම පිණිස නොව හුදු විනෝදය තකාය. ඔහු දැනට ගුරු මණ්ඩලයේ නොසිටියද එදා මෙන් අදද මලියදේවය වෙනුවෙන් වෙහෙසෙයි. ආදි ශිෂ්‍ය සංගමයේ ප්‍රබල සාමාජිකයෙක් වන මෙතුමා එහි උප සභාපති තනතුරක්ද දරයි. විද්‍යාලීය ගොඩනැගිලි අරමුදල සඳහා මුදල් සපයා ගැනීමට තාඩෲ මහතා ගෙන් වන සේවය පැසසිය යුතුය.

## හේරත්

ටී. බී. හේරත් මහතා අවුරුදු පහළොව කට අධික කාලයක් මලියදේවයේ ගුරුවර යෙකු වශයෙන් කටයුතු කළේය. ඔහු අන් හැම දේකටම වඩා තම රාජකාරිය පිළිබඳ යුතුකම් උසස් කොට සැලකීය. දිනපතා පාසැලට පැමිණීමත්, නියමිත වේලාවට පන්තියට යෑමත් මොහුගෙන් අන් ගුරු වරුන්ට ලැබුණු ආදර්ශයකි. විද්‍යාලයේ රසායනාගාරයක් නොමැති කාලයේදී විද්‍යා විෂයයක් වන උද්භිද විද්‍යාව ඉගැන්වීමේදී ඒ මහතාට තරමක ගැටළුවකට මුහුණ පාන්-නට සිදුවුනි. පරීක්ෂණ පැවැත්වීමට එවකට විද්‍යාලයේ තිබුනේ වීදුරු බට කීපයකුත් විදුරු භාජන කීපයකුත්, ප්‍රනීලයක් හා බොංචි ඇට පැල කිරීමට පෙට්ටියකුත් පමණී. එහෙත් හේරත් මහතා රසායනා-ගාරයක් නොමැති යයි කියා නිකම් සිටියේ නැත. බොහෝ විට එම උපකරණ දෙස බලා අවඥා සහගත බැල්මක් හෙලමින් සුළු සුළු පරීක්ෂණ වල යෙදුන අතර අතීත් පරීක්ෂණ කළුලෑල්ලේ ඇඳ පෙන්වමින් සිය සිසුන්ට උගැන්වීමට මහත් උත්සාහයක් මෙතුමා දැරීය. එනමුදු එම ශිෂ්‍යයන්ගෙන් බොහෝ දෙනෙක් විශිෂ්ඨ සාමාර්ථයන් ලැබූහ. එහි ගෞරවය හේරත් මහතාට හිමිවෙයි.

හේරත් මහතා ශිෂ්‍යන්ගේ පත පොතේ වැඩට වඩා වැඩි උනන්දුවක් දැක්වූයේ ඔවුන්ට විනය පිළිබඳ අවබෝධයක් දීමටය

නිතරම ඔහු කියා සිටියේ යහපත් චරිතයකින් තොර අධ්‍යාපනයෙන් වැඩක් නැති බවය. "ඔවා දෙනු පරහට - තමා සම්මතෙහි පිහිටා සිට" යන වැදගත් කිය මන අකුරටම පිළිපැදීමෙනි ඒ මහතා විනය පිළිබඳ අවවාද අනුශාසනා කළේ.

විද්‍යාලයේ තරමක් පිරිහී තිබුන ක්‍රිකට් ක්‍රීඩාවට නව පණක් දුන්නේ හේරත් මහ-තාය. ඔහු ක්‍රිකට් කණ්ඩායම භාර ගුරුතුමා ලෙසටද කටයුතු කලේය. අන්‍ය පාසැල් සමග ක්‍රිකට් තරඟ බහුල වශයෙන් ආරම්භ වූයේ මේ කාලයේදීය. ඔහු ක්‍රීඩා අංශය භාර ගුරුවරයා ලෙසටද කටයුතු කල අතර පශ්චාත් ප්‍රාථමික අංශයේ ප්‍රධානාචාර්ය වරයා ලෙසටද කටයුතු කලේය. ඔහු දැනට ගුරු මණ්ඩලයේ නොසිටියද විද්‍යාලය හා ඇති සම්බන්ධකම් පෙරසේම පවත්වා ගෙන යන අතර විදුහලේ ශුභ සිද්ධිය නිතරම පතන්නෙකි.

## බාලසූරිය

මලියදේවයේම අධ්‍යාපනය ලැබ එහි අවුරුදු විසි අටක් පමණ කාලයක් තිස්සේ තමාගේ මුළු කාලය විද්‍යාලයට කැපකල ගුරුවරයෙකි ජී. එස්. බාලසූරිය මහතා. ඔහු දක්ෂ ගුරුවරයෙක් හැටියට නොව විද්‍යාලය නොයෙක් අතින් උසස් කරලීමට ආත්මූ

පරිත්‍යාගයකින් කටයුතු කළ මලියදේව ඉතිහාසයේ උසස් තැනක් හිමිවිය යුතු කෙනෙකි. මෙතුමාට ඉගැන්වීම විනෝදයකි. උගන්වන අතර විහිළු කිරීම නිසා ශිෂ්‍යයන්ට පාඩම රසවත් වනවා පමණක් නොව කිසි වෙහෙසෙක්ද නොදනේ.

විදුහල්පතිවරුන් ලෙසට කටයුතු කල යූ. බී. වත්තිනායක, ජ්. ඒ. පේරුසිංහ යන මහතුන්ට බාලසූරිය මහතාගෙන් ලැබුනේ නොමසුරු සහායකි. පලාත්වාසීන් අතරද මෙතුමා ජනප්‍රිය විය. ගොඩනැගිලි අරමුද-ලට, ත්‍යාග ප්‍රදානොත්සවයට හෝ ක්‍රීඩා උත්සවයට ආධාර එකතු කිරීමට යා යුතු පුද්ගලයා බාලසූරිය මහතාය. ඒ මහතා නොඛියත් එතුමාගේ නම සඳහන් කල පමණින් බොහෝ දෙනෙකුගේ නොමසුරු ආධාරය ලැබුනි. දෙවන මහා ලෝක සංග්‍රාමය පැවැති කාලයේදී ශිෂ්‍ය නිවාසය භාර ගුරුවරයා හැටියට කටයුතු කළ මෙතු-මාට ශිෂ්‍ය නිවාසයට ආහාර සැපයීම බරප-තල ප්‍රශ්නයක් විය. සහල් හිඟය මුළු රටටම දැනුනත් එය ශිෂ්‍ය නිවාසයට දැනෙන්ට ඉඩ නොතැබුවේය. දවල් කාලයේ උගන්වන එතුමා රාත්‍රි කාලයේ සහල් සොරකමේ ගියේය. අවට හම්වලින් ගත් සහල් වලට බලපත්‍ර නොතිබුනු බැවින් ගෙන ආයේ රහසිනි. තදබල නීති නිසා සහායට අය සොයාගැනීමට නොහැකි වූ විට තනිවම හොරකම් කරන්නට වූ අවසථාද ඇත. රජයේ නීති පවා උල්ලංඝනය කලේ විදුහලයට එතුමා තුලවූ බලවත් ඇල්ම නිසාය.

තරුණවිය ඉක්මවුවද බාලසූරිය මහතාට ඒ බව හිතකවත් නැත. විදුහලේ තරුණ ගුරුවරුන්ගේ විහිළු වලට මෙතුමා නිතරම සහභාගීවිය. බොහෝවිට ගුරු කාමරයේදී උස් හඬින් සිනහ වූයේ මෙතුමාය. ප්‍රාථමික හා මධ්‍යම අංශවල ප්‍රධාන ගුරුවරයා ලෙසට කටයුතු කරන අවධියේදී සියළු ගුරුවරුන්ගේ සහාය එතුමාට ලැබුනි. විශෙෂයෙන් ගුරුවරියන්ගේ සහායේ කිසිම අඩුවක් නොවීය.

- නිමි. -



# නැකැත්තේ ආනන්ද හිමියෝ.

අවුරුදු 20 ක් පමණ කාලයක් තිස්සේ සතයකුදු වේතනයක් වශයෙන් නොලබා මලියදේවයට දහම් රසය කැවූ, මලියදේවය සිල් සුවඳින් නැහැවූ "පින්කෙත" – **ආනන්ද හිමියන්** විද්‍යාලයට සැත්තෑපස් වසක් පිරෙන මේ අවස්ථාවේදී සිහි නොකරම බැරිය.

බුදුන් කල ආනන්ද හිමිගෙන්, බුදුසසුනට සිදුවූ සේවය වැනි විශාල සේවයක් නැකැත්තේ ආනන්ද හිමිගෙන් මලියදේව -යටද සිදු විය.

ආනන්ද හිමියන් මලියදේවයට වැඩියේ, වන්නිනායක මහතා විදුහල්පති ධුරය දරන සමයේ දීය. වන්නිනායක මහතා මුලින්ම මලියදේවයට ආනන්ද හිමියන් බඳවා ගත්තේ උදයට ළමයින්ට පන්සිල් දීම පිණිසය. පසුව උදය වරුවේදී පමණක් ආගම ඉගැන්වීමේ කාර්‍යය ආනන්ද හිමියන්ට භාර විය, ආදි ශිෂ්‍ය සංගමයේ මෙහෙයවීමෙන්, විද්‍යාලයීය සංඝාරාමය තැනවීමෙන් පසු ඒ හිමියන්ට එහි වැඩ සිටිය හැකිවූ බැවින් උන්වහන්සේගේ සේවය උදය වරුවේ මෙන්ම සවස් වරුවේද මලියදේවයට ලැබෙන්නට විය.

එතෙක් පටන් වන්නිනායක මහතාට අර්ථයෙන්, ධර්මයෙන් අනුශාසනා කරමින්, ශිෂ්‍යයන් තුල ආගමික හා සත්පුරුෂ ගුණ වගා කරමින්, ආනන්ද හිමියෝ – මලිය දේවයට සේවය කරන්නට වූහ. සතයකුදු වේතනයක් නොලබා සේවය කරන්නට වූහ.

මලියදේවයේ ශීල ව්‍යාපාර ආදියෙහිත්, බෞද්ධ කවිකෝදය සංගමයේත්, ආදි කර්තෘවරයෝ ආනන්ද හිමියෝය. එකල ඉරුදින බෞද්ධ කවිකෝදය සමිතියේ රැස්වීම් ගමක් ගානේ පැවැත්වීමටත්, සංගමය මගින් යාචකයින් සඳහා දානයක් දීමටත්, ශිෂ්‍යයින් උනන්දු කළේ ආනන්ද හිමියෝය. මලියදේවයේ ආගමික අංශයේ කතාවත්, ආනන්ද හිමියන්ගේ කතාවත් දෙකක් නොව එකක් යයි මට සිතේ. දිග කතාවක් කොටින් කියනවානම් මලියදේවය වචනයේ පරිසමාප්ත අර්ථයෙන් බෞද්ධ විද්‍යාලයක් වීමට නියම අඩිතාලම දැම්මෝ ආනන්ද හිමියෝය.

ආගමික අංශයට **පමණක්** නොව විද්‍යාලයේ කළ හැම කටයුත්තකටම ආනන්ද හිමියන්ගේ සම්පූර්ණ සහයෝගය ලැබුනි. පසුගිය ලෝක මහා සංග්‍රාමය සමයේදී ආනන්ද හිමියන් පිළිසරණ නොවන්නට අද මලියදේවයේ තත්වය බොහෝ වෙනස් වන්නට තිබුනි.

මලියදේවයට මහත්සේ ආදරය දක්වූ ආනන්ද හිමියෝ, එහි දියුණුව තමාගේ දියුණුව ලෙසින් සැලකූහ. මලියදේවයෙන් පමණක් නොසෑහී, මලියදේව විද්‍යාරක්ෂක පිරිවෙනක්ද ඇරඹුවේ එහෙයිනි.

1953 දී උන්වහන්සේ මලියදේව විද්‍යාරක්ෂක පිරිවෙනේ අධ්‍යක්ෂක ධුරයට පත්වී ගියද, විද්‍යාලය හා සම්බන්ධකම් පෙරසේම පවතී.

– විමල් සතුරුසිංහ –



ආගමික අංශය දියුණු කළ

**නැකැත්තේ ආනන්ද නායක හිමියෝ.**

# MALIYADEVA & WORLD WAR II.

Late one afternoon in March, 1942, the Principal received a letter which was the unpleasantest he had ever received. It was a letter from the military authorities asking him to give peaceful possession of the College and its premises for their use. They also intimated to him that they could give him just 48 hours for his departure with his belongings, both animate and inanimate. It was not for the Principal to question why, but simply to do as directed by the military authorities for their's certainly was the cause of the moment.

And thus began our 'trek' from our beloved premises to pastures fresh and new. It was no small task to transport school furniture and equipment used by nearly 500 pupils within the incredibly short interval of 48 hours. It was at this stage that well-wishers of the College came to her aid. Chief among them were Messrs. M.T. Robo Singho and A. M. Lairis Appu (both members of the Y. M. B. A.) who placed several of their lorries at our disposal. The school furniture had to be removed in one direction to the Ethkande Vihare premises at Kandy Road, the hostellers' belongings in the other direction to a private bungalow on Dambulla Road. All this meant continuous work, without break, for all the 48 hours. As labour was scarce, it fell to the lot of the senior boys and teachers to do all the lifting and shifting and loading of school furniture into the lorries. It was a formidable task but the cheerful way the lads went about their task will ever remain as an epic of love and loyalty to their 'alma mater.' As an emergency measure our hostellers, nearly 75 at the time, remained in their new home for nearly four days. This temporary accommodation whatever its shortcomings, had all the charm and romance of a gypsy encampment, We then shifted to a bungalow on Kandy Road. Finding this building too small for our needs accommodation was secured in another building. Both these buildings oddly enough, were situated near the Kurunegala Police Station! In the meantime the school work was conducted in hastily constructed cadjan class - rooms in the premises of Ethkande Vihare. A few class-rooms were even accommodated in the 'Bana Maduwa.' We are grateful to the High Priest for all the help he rendered. Though we lacked the amenities of our old class-rooms, we were compensated by the refreshing breezes and the cool shade of the many palms in the ground of the vihare. The peacefulrural setting of these class-rooms acted as a balm on the strain that had been put on the boys during the preceding weeks. Hardly had our hostellers settled down in their new surroundings on Colombo Road, than we were compelled to give up one of the houses. The notice to quit and the subsequent evacuation worked according to plan. Accommodation was found for this section of our hostellers at the "Wàsala Walauwa." Colombo Road. The Colombo Road hostel now houses the Junior Boarders numbering about sixty. As mentioned elsewhere, the Y. M. B. A. purchased the late Mr. A. G. Schokman's property on Colombo Road in November, 1943. Semi - permanent class-rooms to accommodate all our pupils were put up at commendable speed by the Y. M. B. A. on this property and in May, 1944, the school moved from the Ethkande Vihare premises to its new home on Colombo Road. By this time we had become incorrigible nomads and longed to get back to Negombo Road to our permanent home,

Peace a last came to at war-torn world and the military occupation of Maliyadeva College came to an end in February, 1946. It was with joyous hearts and happy faces that we re-entered the sacred precincts of our College whence we fled helter - skelter four years ago. During all these four years of our peripatetic existence our girl-students accompanied us, like little Nell following her grandfather. As we look back we recall their courage and fortitude in sharing the hardships which our boys had to endure. It speaks much for their character that not one of them expressed a desire to leave us in those days of our scholastic pilgrimage and make their way to institutions which had remained immobile, safely secured within their stone walls. In spite of all this nerve-racking interference in the even caurse of our schoolastic existence, the work of the school went on without interruption. All the same, this disorganization did leave its ugly marks on the teacher and the taught. Whatever may have been the inconveniences we suffered, we are proud of the fact that we were able to do our bit in the greatest struggle for freedom that the world has ever seen. Those of us who were at Maliyadeva during the war years may remember in after years that this was the most unforgettable period in their school life. It marked the parting of the ways too. Our girl students went back to the Colombo Road institution and they are now the care of the Government. We in our serene and sombre surroun-dings have been growing ever since from strength to strength. We express our grateful thanks to all those who helped us to survive.

VIATOR.

*(Rerproduced from College Magazine 1948)*





හිටපු විද්‍යාලයාධිපති වරයෙකු වූ

**ඩී. බී. තෙවරප්පෙරුම මහතා.**

**( 1949 සිට 1953 දක්වා )**

# තෙවරප්පෙරුම මහතාගේ සේවය.

## (පාඨශාලා පරීක්ෂක ඩබ්ලිව්. එම්. විජේසිරි පෙරේරා විසිනි.)

දීර්ඝ කාලයක් තිස්සේ මලියදේවයට සේවයක්කොට, සිය ජීවිතයේ ඉතිරි කොටස දේශපාලනය සඳහා කැප කිරීමේ අභිලාෂ යෙන් මෙහි අධිපතිව සිටි යූ. බී. වන්නිනායක මහතා ගුරු වෘත්තියට ආයුබෝවන් කීවේ ඉංග්‍රීසි භාෂා පිළිබඳ හසල බුද්ධියක් ඇති, නිශ්ශබ්ද, විශාරද පඬිවරයෙක් ඒ සඳහා මෙහි එවමිනි. අධ්‍යාපනය නමැති ගිරිශිඛරය මුදුනට වන්නිනායක මහතා මලියදේවය ගෙන ගොස් තිබේ. අද මට තියෙන්නේ ඒ තත්වය රැක ගැනීම පමණයි, කියමින් 1949 දී ඕ. බී. තෙවරප්පෙරුම මහතා මලියදේවයේ අධිපතිකම භාර ගත්තේය.

මේ වකවානුවේදී ශිෂ්‍ය නිවාසයට ඇතුළත් වීමට උත්සාහ කරන ලද, සිසුන් ගණන වැඩි වූයෙත් එය විශාල කිරීමට සිදුවිය. ඒ හේතුව නිසා නව ගොඩනැගිල්ලක් ඉතා සුළු කාලයකින් ඉදිකිරීමට තෙවරප්පෙරුම මහතා ඉදිරිපත් විය. එසේම ගුරු දෙගුරු සමිතියේ සහාය ඇතිව බාලාංශ පන්ති සඳහා කාමර පේළියක වැඩද ඇරඹිනි. දෙවෙනි පෙළේ විද්‍යාලයක්ව තිබුනු මලියදේවය පළමුවෙනි පෙළට ගෙන ඒම සඳහා පුරෝගාමීව කටයුතු කළේ තෙවරප්පෙරුම මහතාය. ඒ සඳහා විශ්ව විද්‍යාල ප්‍රවේශ පන්ති ඇරඹීම, සාමාන්‍ය සහ භෞතික විද්‍යා සඳහා රසායනාගාර ඇති කිරීම, විද්‍යාලයේ සිසුන් ගණන වැඩි කර ගැනීම සඳහා තාවකාලික ගොඩනැගිලි කීපයක්ම ගොඩනැගීම අද මලියදේවය ලබා ඇති උසස් තත්වයේ වැදගත් අවස්ථාවකි.

තෙවරප්පෙරුම මහතාගේ බලවත් පරිශ්‍රමය නිසාම මලියදේවය, 1952 දී පළමුවෙනි පෙළේ උසස් විද්‍යාල සංඛ්‍යාවට එක්විය. සියලුදෙනම කතෝලික අධ්‍යාපනයට ආවඩමින් සිටි සමයෙක මලියදේවය පළමුවෙනි පෙළේ විද්‍යාලයක්වීම, වයඹ පළාතේ බොදු ජනතාවට ආශීර්වාදයක් විය.

දිනට නොකඩවා පවත්වාගෙන එන වාර්ෂික මලල ක්‍රීඩා උත්සවය සහ තෑගි ප්‍රදානොත්සවය වාර්ෂිකව කිරීමේ කර්තෘ වරයානෝ තෙවරප්පෙරුම මහතාය.

විද්‍යාලයේ අධ්‍යාපන තත්වය උසස් තැනකට නංවාලීම සඳහාද, තෙවරප්පෙරුම මහතා මහත් උත්සාහයක් ගත්තේය. විද්‍යාලයේ උපාධිධාරීන් හිඟබැවින්, උපාධිධාරීන් ගුරු මණ්ඩලයට බඳවා ගැනීමට තෙවරප්පෙරුම මහතා උත්සුකවිය. මලියදේවයෙන් ශිෂ්‍යයෙක් මුලින්ම සරසවි වරම් ලැබුවේද තෙවරප්පෙරුම මහතාගේ කාලයේ දීය.

තෙවරප්පෙරුම මහතා කිසිම විටක කිසිම දෙයකට කලබල වූයේ නැත. ඕනෑම දෙයක් තුලනාත්මක ලෙස සලකා බැලීමේ හැකියාව ඒ මහතා තුළ විය. සේවකයින්ටත්, ගුරු මණ්ඩලයටත් හොඳින් සැලකූ ඒ මහතා, ඒ කාගේත් හිත දිනාගෙන කටයුතු කෙළේය.

ගොඩනැගිලි අරමුදල තර කිරීම සඳහා හැකි හැම ව්‍යායාමයක්ම දැරූ තෙවරප්පෙරුම මහතා, "මලියදේව මේලාව" ඇරඹීය. තවත් ලොතරැයියක්ද ඇරඹූ තෙවරප්පෙරුම මහතා ඒ මගින් ගොඩනැගිලි අරමුදලට මුදල් ලබා දුන්නේය.

"සම්පූර්ණ නිසලතාවය චතුර කථිකයින් පරදයි" යන්න සනාථ කිරීමට මෙන්, තෙවරප්පෙරුම මහතා මලියදේවය නගා සිටුවීම සඳහා ගෙන ගියේ නිශ්ශබ්ද සටනෙකි.

ඒ නිශ්ශබ්ද සේවයේ සටහන් මලියදේවයට අද ශබ්ද නගා කිව හැකිය.

නිමි.

# සොළොස් වසක රසතැන්.

(ඒ. ඇම්. සිරිසේන විසිනි.)

විද්‍යාලයේ, 1947 සිට සේවයේ යෙදී සිටින, සිසුන් අතර සිරිල් අසියා නමින් ප්‍රකට ඇන්. සියනේරිස් මා ඉදිරියෙන් සිටී. මාගේ අදහස වූයේ, දහසය වසක් තුළ සිටි විදුහල්පතිවරුන් ගැන ඔහුගේ මතකයේ ඇති දේ දැනගැනීමට, ඔහුගේ මතකය තුළට රිංගීමටය. මගේ අදහස ක්‍රියාත්මක කළ නොහැකි එකක් බැව් සිරිල් අසියා දැනගත් නිසාදෝ, ඔහු ලද අත් දැකීම් මට කියන්නට විය.

"මුලින්ම මං සේවයට බැඳුනේ වත්තිනායක මහත්තයගෙ කාලෙදිසි. මං ඉස්සෙල්ලම සේවයට බැඳුනෙ, බෝඩිමට. වත්තිනායක මහත්තය අපි කාටත් සැලකුවෙ දරුවන්ට වගේ. ඔහු කිසිම සේවකයෙකු වරදක් කෙරුවට අස් කරන්න බැලුවෙ නැහැ. දවසක් වත්තිනායක මහත්තය බත් කෑමට ගියා. එදා බත්වල කටක් ගානෙ ගල් තිබුනා. වත්තිනායක මහත්තය, ඒව ඔක්කොම අහුලල පිඟානෙ පැත්තකින් තිබ්බ. ඔක්කොම ගල් 25 ක් විතර තිබුන. ඒත් මහත්තය කාටවත් ඒ ගැන බැන්නෙ නැහැ. ඒ කාලෙ බෝඩිමේ ගොලුවෙක් හිටියා. ඒ මිනිහ ඒ ගල් අරන් ගිහින් බෝඩිමේ මැනේජර්ට පෙන්නුවට පස්සෙ, මැනේජර් උන්නැහැ බෝඩිමේ කෝකියාව සේවයෙන් අස්කළා. පස්සෙ කෝකියා, ඒ බව වත්තිනායක මහත්තය සමග කීවට පස්සෙ, ආයිත් මිනිහව සේවයට ගත්තා. වත්තිනායක මහත්තය, මෙන්න මේ වාගෙ උදව් බොහොමයක්ම, සේවකයින්ට කළා.

ඊළඟට ප්‍රින්සිපල් වෙලා ආපු, තෙවරප්පෙරුම මහත්තයත් සේවකයින්ට හරි ආදරෙයි. ඒ මහත්තය උදේ නැගිටපු හැටියෙම තේ එකටත් ඉස්සරල ඕන කරන්නෙ පත්තරේ තමා. ඒ කාලෙ හැම දාම පත්තරේ ගේන්න යන්නෙ මමයි. අපි ඒ කාලෙ නිදා ගත්තෙ බෝඩිමේ ඉස්තෝප්පුවෙ. දවසක් මට උදේ හත හමාර විතර වෙනකම් නින්ද ගියා. සපත්තු දාගත්තු කවුදෝ එහාට මෙහාට යනව මට සීප සැරයක්ම හීනෙන් වගේ ඇහුනත් මං ගණන් ගත්තෙ නැහැ. මං ඇහැරෙන කොට තෙවරප්පෙරුම මහත්තය ළඟම හිටිය. මට දෙයියෝ සිහිවුනා. මං හිතුව අද නම් වැඩේ ඉවරයි තමා කියල. තෙවරප්පෙරුම මහත්තය සත දහයක් මං ළඟට විසි කරල "මූණ එහෙම හෝදගෙන පත්තරයක් අරන් එමුකො" කියල කිව්ව. මං ඇහැරෙනකම් ඒ මහත්තය පැය බාගයකටත් වඩා වෙලා බලං හිටි බව මට පස්සෙ දැන ගන්න ලැබුනා.

තෙවරප්පෙරුම මහත්තයගෙ කාලෙ බෝඩිමේ සේවකයෝ පොඩි ස්ට්‍රයික් එකක් කළා. ඒක කෙරුවෙ ඒ කාලෙ හිටිය බෝඩිමෙ මැනේජර් උන්නැහැගෙ කීම පිට. එදා එක තැනක හාල් ගරපුව එහෙමම. තව තැනක එළවළු කපපුව එහෙමම. එදා රෑ ළමයින්ට කෑම දුන්නෙ රත්නගිරි හෝටලයෙන් ගෙන්නල. තෙවරප්පෙරුම මහත්තය ස්ට්‍රයික් කරපු සේවකයින්ට අඩගහල තමුසෙලත් ටවුමට ගිහින් කාල එනව කියල සල්ලි දුන්නා.

තෙවරප්පෙරුම මහත්තයට පස්සෙ වැඩ බලපු දිසානායක මහත්තයා, ඉස්කෝලෙ පිරිසිදුව තියාගන්න නම් දෙයියා. ඒ මහත්තය බෝඩිමෙ ප්‍රධානියා වෙලා හිටපු කාලෙන් මට මතකයි. ඒ මහත්තයා ඒ කාලෙ අපි අතුගාල ඉවරවුනාම ඇඳත්

යටට එබිල බලනවා කුනු තියෙනවද කියල බලන්න. ඒ මහත්තය එන්න ඉස්සර බෝඩිමේ බෝවෙන ලෙඩ හරියට තිබුන. ඒත් ඒ මහත්තය ඇවිල්ල බෝඩිම හොඳට පිරිසිදු කෙරෙව්වට පස්සෙ බෝ-වෙන ලෙඩ පැතුරුනේ නැහැ.

දිසානායක මහත්තයගෙ කාලෙ අපිට මීමැස්සො වගේ කඩිසරෙන් වැඩ කරන්න සිද්දවුනා. වල් බිහිවෙලා තිබුන පාසැල් වත්ත එළි කරන්න පටන් ගත්තෙ ඒ කාලෙ තමයි. පාසලේ ක්‍රීඩා පිට්ටනිය ඇති වුනෙත් ඒ කාලයේදීම තමයි.

ඒ දවස්වල බෝඩිමේ පිස්සු මිනිහෙක් හිටිය. ඒ මිනිහ දවසක් රෑ බයස්කෝප් බලන්න ගිහින් රෑ වෙලා එනකොට කෑම ඉතුරුවෙලා තිබුනේ නැහැ. මිනිහ ඊට පස්සෙ බෝඩිමෙ දොරවල් වලට ගහන්ටයි, හයියෙන් කෑ ගහන්ටයි පටන් ගත්ත. පස්සෙ දිසානායක මහත්තය ඇහැරල ඇවිදින්, අර මිනිහට රුපියල් පහක් දුන්න ටවුමට ගොහින් ඕනෑ තරම් කාල එනව කියල.

ඊ ළඟට ආපු පේරුසිංහ මහත්තය හරිම විහිලු කාරයා. ඕනෑම වෙලාවක කවුරුහරි නිකම් ඉන්නව දැක්කොත් එතැනින් යන්නෙ විහිලුවක් කරගෙන, දවසක් අපේ සේවකයෙක් එක්තරා වැරැද්දක් කළා. පේරුසිංහ මහත්තය මට කතා කරල කිව්ව "සිරිල් දුවල ගිහින් බලනව අර ළිඳේ වතුර තියෙනවද" කියල. මාත් දුවගෙන ගිහින් බලල ඇවිත් කීව වතුර තියෙනව කියල. "එහෙනම් මේ මිනිහව අරන් ගිහින් ඔළුව ටිකක් පොඟවාගෙන එනව කො" කියල පේරුසිංහ මහත්තය එක පාරටම කිව්ව. ඔය වගේ විහිලු පේරුසිංහ මහත්තය හරියට කරනව.

කවුරුත් හිතන් ඉන්නෙ පේරුසිංහ මහත්තය හැඩි දැඩි පුද්ගලයෙකු හැටියටයි. මම අපේ කැඩේට් කණ්ඩායම එක්කල දියතලාවෙ කෑම්ප් එකට ගිය දවසක වුන සිද්ධියක් මට මතකයි. පේරුසිංහ මහත්තයත් මේජර් කෙනෙක් හින්ද ඒ දවස් වල හිටියෙ කෑම්ප් එකේ. දවසක් රෑ කෑමට පොඩ්ඩකට ඉස්සරලා පේරුසිංහ මහත්තයට ටැලිපෝන් පණිවිඩයක් ආවා. ඒකට පිළිතුරු දෙන්න ගිය පේරුසිංහ මහත්තය එහෙමම ඇද වැටුනා. ඒ වේලාවේ ටැලිපෝන් පණිවිඩයෙන් කියල තියෙන්නෙ ඒ මහත්තයගෙ තාත්තගෙ මරණේ ගැන. ඔච්චර දැඩි හිතක් තියෙන ඒ මහත්තය ඔහොම වැටුන එක, මං හොඳටම දැක්කත්, මට පවා විස්වාස කරන්න නම් අමාරුයි."

සිරිල් අයිය වෙහෙස වුන නිසාදෝ තම කතාව නැවැත්වීය. තවත් තොරතුරු ඇසී මේ ආශාව මාතුල ලියැලුවද, මම එම ආශාව මැඩ පවත්වා ගතිමි.

-( නිමි. )-



# අමරණීයසි මලියදේවය.

පැතිර යද්දී දිනෙන් දින දස දෙසෙහි සිය කිතු ගොසෙහි රුවය
පිපී එන මල් කැකුළු වැනි දරු පිරිස් එක් කොට කවන ජීවය
වයඹ ලංකා මවගෙ නළලෙහි තිලකයක් බඳු මලිය දේවය
**අමරණීයසි! අති උදාරසි!! ඔබෙන් සිදුවන මහඟු සේවය**

සිහල රජ දහනක්වූ අඩ සිය වසරකට අඩු නැතුව පැවතුණු
වැඩ සිටීමෙන් උතුම් දළඳා සමිඳු පිවිතුරු බවට පැමුණුනු
පැරණි පුරයක අගය රැක දෙනු පිණිස සුබ මොහොතකදි බිහිවූණු
**මලියදේවය ජාතියේ සංකේතයකි සේවයට කැපවුණු**

සඳ සුන්දර මිහිරියාවකි අවට පරිසරයෙහි තිබෙන්නේ
සාන්තත්වයෙ නැවුම් සුළඟකි, නිබඳ සියොලඟ පිස හමන්නේ
මහා බල වේගයක නොනැසෙන උසස් එකමුතුවකි පෙණෙන්නේ
**මලියදේවය දකින්ටසි ඇතුගල මතින් ඉර හඳ නැගෙන්නේ**

මහා රහතන් වහන්සේගේ – අන්තිමට සිටි සිංහල දිවසින
නමින් සිහිවටනයක් වී එහි පරම පිවිතුරු අගය රැකගෙන
සතට සෙත දෙන මලියදේවය නරඹ නරඹා ඔකඳ වන මෙන
**සූරන් සහ සූරගනන් එනවිලු දෙපෝ දිනවල අදුර පිසගෙන**

එදා මිසදිටු අඳුර දිවයින පුරා සමුදුර පරිදි ගැලුණේ
මහා ජව වේගයක් ඇතිවයි එයින් සත් කෝරළය මිදුණේ
කොසේදැයි යනු පැනට පිළිතුරු පිණිස මගෙ දෙනුවනෙහි ගැටුණේ
**මලියදේවිය නමැති දෙවියසි දිනූ සෙසු දෙව් කැලම දෙරණේ**

නිවට පරගැති වහල් අදහස් වලට අවනත නොවන ස්සිකල
ජාති ආලෙන් දේස පේමෙන් පිරී ඉතිරී තිබෙන ඉහමොළ
නිහතමානිව සහ විනීතව රටට සේවය කරන නොපැකිල
**"දේව පැමියෝ" දහස් ගණනක් සිටිති විසිරී සිහල බිම තුළ**

දහම් රද සහ අනඳ නම් වන වසක් සහ දෙවසකට වැඩි මල්
සුහද සොහොයුරියන් පරිද්දෙන් දයබිමානය තිබෙන නොකළෑල්
දරු කැලක් බිහි කිරීමෙන් කිත් කදම්බයකින් හෙබෙන සුවිසල්
**පිපිය යුතුමය මලියදේවය නමට අඩුවක් නැතුව තුතිමල්**

සතර කිරිදී කුඩා දරුවන් මහා බලගතු අය කිරීමට
ඇතෙකු බඳු ගල් කුලක් ඇති පුරවරේ වටිනාකම රැකීමට
රටට සමයට දයට බස සහ සැහැටියාවට වැඩ වැඩීමට
**මලිය දෙව් මව සැරද! හැකිකම් ඇතිව ජයපිට ජය ලැබීමට**

– අකලගමුවේ පී. බී. බස්නායක. –



1955 – 61 දක්වා කාලය තුළ විද්‍යාලයාධිපති ධුරය දැරූ
මේජර් ර්. ඒ. පේරුසිංහ මහතා.

# මෙන්න පේරුසිංහ.

## පී. බී. අමරසිංහ විසිනි.

තේවරප්පෙරුම යුගය අවසන් වනවාත් සමගම මලියදේවයේ ආරම්භ වූයේ පරිවර්තන යුගය කැයි කිව හැක. වේගයෙන් ධාවනය කළ අසෙකු දුබලවූ ස්වභාවයක ලකුණු පහල විය. මලියදේව විද්‍යාලය නමැති ධාවන අශ්වයා මෙහෙය වීමට අයෙකු සෙවීමට සිදුවිය. එවකට මෙහි උප විදුහල්පතිවසිටිවතීමාන විදුහල්පති ඩී. බී. දිසානායක මහතා නොකැමැත්තෙන්ම වා-තාවකාලිකව කසය අතට ගත්තේය. පළාතේ හිතවතුන්ගේද, විද්‍යාලයේ ආදි ශිෂ්‍යයන්ගේද, ගුරු මඩුල්ලේද, බලවත් ඉල්ලීම නොතකා මෙහි අදිපතිකම ස්ථිරව භාර ගැනීමට දිසානායක මහතා ඒ අවස්ථා-වේදී නොසතුටු වූයෙන් මේ භාරදූර කටයුත්ත සඳහා කෙනෙකු සෙවීමට රට සැමතැන ප්‍රචාරය කෙරුනේ හරියට සිංහල රජ දවස කුරුණෑගල රජ කළ වත්හිමි බණ්ඩාර නම් නරපතියාගේ අකාල මරණ-යෙන් හිස්වූ සිංහාසනයට සුදුස්සෙකු සෙවීම සඳහා මඟුල් ඇතු පිටත් කළ නියා-වෙනි. මේ ආකාරයෙන් 1955 දී මලියදේව-යට එඩ්වර්ඩ් පේරුසිංහ මහතා පැමිණියේය.

පේරුසිංහ මහතා පැමිණි නොබෝ කල-කින් විද්‍යාලයීය සිසු නිවස වඩාත් ක්‍රමවත්ව සකස් කිරීම ඇරඹිනි. ඒ අනුව එහි සිසුන් ගණනද වැඩිවිය. විද්‍යාලය දියුණුකිරීමේ කට-යුතුවල ප්‍රතිඵලයක් වශයෙන් අවුරුදු පතා මේ විද්‍යාලයට ඇතුලත්වීමට උත්සාහ කරන සිසුන්ගේ ගණන සිය ගණනින් වැඩිවිය. ක්‍රීඩා ලෝලයකුවූ මෙතුමාගේ කාලයේදී විද්‍යාලයේ ක්‍රීඩා අංශයද බොහෝ සෙයින් දියුණු විය. දක්ෂ ක්‍රිකට් ක්‍රීඩකයකුවූ පේරු-සිංහ මහතා මලියදේවයද දක්ෂ ක්‍රිකට් ක්‍රීඩක-යන් බෝකරන කම්හලක් කළේයයි කීවොත් එය අතිශයෝක්තියක් නොවේ. ලංකාවේ ක්‍රිකට් පිළිබඳව නමගිය ක්‍රිකට් කණ්ඩායම් හා තරඟ කිරීමට සමත් ක්‍රිකට් කණ්ඩායමක් බිහි කිරීම මෙතුමාගේ එක් බලාපොරොත්තුවක් විය. එය සාර්ථක විය. අද අපේ ක්‍රීඩකයන් ලබා තිබෙන උසස් තත්වය ගැන අපි ආඩම්බරවමු.

"කැඩට්" භට කණ්ඩායම සකස්කිරීමද මෙතුමාගේ උද්යෝගයෙන් කෙරුණකි. බෞද්ධ පාසැල්වලට යුද්ධ පුහුණුව එපා යයි අපේ සමහර බෞද්ධ නායකයන් මොරගාද්දීත් පේරුසිංහ මහතා මලියදේව භටකාය ලංකාවේ අද්විතීය භටකාය බවට පත්වන තුරු නොඉවසිල්ලෙන් සිටියේය. මේ වකවානුවේදී මෙහි "රතු කුරුස" සමාජයක්ද ඇරඹිනි. එසේම බාලදක්ෂ ව්‍යාපාරය දියුණු කිරීමට බොහෝ සෙයින් විද්‍යාලයෙන් ආධාර ලැබිනි. අපේ බාලදක්ෂ යෝ නොයෙක් අවස්ථාවලදී විද්‍යාලයට විශාල කීර්තියක් ලබාදුන්නෝය. රජින-බාලදක්ෂයන් ගණනාවක්ම බිහිවූයේ මේ අවදියේදීය. එසේම අඩපනව තිබුණු අපේ ආදිශිෂ්‍ය සංගමයට සහ ගුරුදෙගුරු සමිති යටද ජීව වායුව පිම්බේ එඩ්වර්ඩ් පේරු සිංහය.

ක්‍රීඩා පිටියේ සිටින ක්‍රීඩකයන් දෙස ඉතා ඕනෑ කමින් බලාසිට ඔවුන්ගේ හරි වැරදි කියාදීම පේරුසිංහ මහතාගේ සිරි තය. සමහර අවස්ථාවලදී මෙතුමා බටහිර ඉන්දියානු ක්‍රිකට් ශූරයකු වූ වෙස්ලිහෝල්ගේ වේගවත් පන්දුපහරකටත් වඩා වේගවත් වෙයි. ක්‍රීඩා පිටියේදී "Hit out or Get out" ප්‍රතිපත්තිය මෙතුමාගේ ආදර්ශ පාඨය වී තිබුණි. වැරදි කරන්නා හරිගැස්සීමට නොහැකි වුවොත් මෙතුමා නොඉවසිලිමත් වෙයි. හදිසි චණ්ඩ නිසා යොදාගත් වැඩ පිළිවෙල අවුල්වෙගන යනවිට පේරුසිංහ මහතා කිපෙයි. තද වැහිවලා පෙනි පෙනීත්

''කොහොමද? අද නම් වහින එකක් නැහැ නේද?''යි. අසන විට, ''තදේට වහීවි''යි කීවොත් ''ලිස්ටන්'' ''පැටර්සන්''ට දුන් වේගවත් පහරවලටත් වඩා වේගවත්,වාග් ප්‍රහාරයක් පේරුසිංහයන්ගේ මුවින්පිටවෙයි. සමහර අවස්ථාවලදී ගුවන් ගැබ දෙස රවා බලන පේරුසිංහයන් දුටු මේඝවලාවන් පවා භයින් වියලී ගිය අවස්ථාද නැත්තේ නොවේ. පෙරදා රැයෙහි ඇතිවූ තද වර්ෂාව නිසා ක්‍රීඩා පිටිය වතුරෙන් යටවී ගියාට මෙතුමා නොසලකයි. ''වැස්ස අපි ගැන නොසලකනවානම් අපි වැස්ස ගැන සලකන්නේ කුමකටද?'' යි කියන්නාක් මෙන් උදේ කාලයේ සිසුන් ලවා ක්‍රීඩා පිටියේ වතුර ඉස්සවා සවස් කාලයේ යොදාගත් ක්‍රීඩා උත්සවය කිරීමට තරම් ධෛර්‍ය්‍යයක් ඇති පුද්ගලයන් කීදෙනෙක් අප අතර සිටිත්ද?

මෙතුමා අපක්ෂපාතිකයෙකි. විදුහල් පති කෙනෙකු කෙරෙහි පිහිටිය යුතු විශෙෂ ගුණාංගයකි ඒ. මෙය බොහෝවිට කැපී පෙණේනුයේ 'බ්‍රිජ්' නමැති ක්‍රීඩාව කෙරෙන අවස්ථාවලදීය. මෙතුමාද දක්ෂ ''බ්‍රිජ්'' ක්‍රීඩක යෙකි. අන් අය මෙම ක්‍රීඩාවෙහි යෙදී සිටිනවා නරඹන එතුමා ලොකු ආශ්වාදයක් ලබයි. ''කාඩ්ස්'' බෙදුවායින් පසුව මේසය වටේට ගොස් හතර දෙනාගේම කොළ බලා සිට පළමුවැන්නා සෙල්ලම් කිරීමට කොළය දැමූවිට දෙවැන්නාට දැමිය යුතු කොළය පෙන්වීම කෙරෙනුයේ නොදැනුවත්වමය. තුන්වැන්නා අතට ගත් කොළය එතුමා සිතූ කොළය නොවේනම් ''එය නොවෙයි, මෙය දමන්න''යයි ඉබේටම කියවෙයි. සිව්වැන්නාට ''මේ කොළය දමා වාසිය ගන්නැ''යි අවසාන වශයෙන් කියන මෙතුමා පළමුවැන්නා දෙසට හැරී ''නමුත් තමුසෙට තිබුනෙ මෙන්න මේ කොළය දමන්න''යි කියවෙන වාර එමටයි.

උපකෘත පාසැල් රජයට පවරාගැනීමට නීති පනවද්දී මලියදේවයේ පාලක මණ්ඩලය ඒ ගැන වැඩි සැලකිල්ලක් නොදැක්වූහ. එම අවස්ථාවේදී ආනන්ද-ධර්මරාජ විදුහල්පතිවරුනට වගේ ලොකු සටනක් කිරීමට පේරුසිංහ මහතාට නුවමනා වූයේ මෙහි පාලක මණ්ඩලය මෙම විද්‍යාලය රජයට පවරාදීමේ කටයුත්ත පේරුසිංහ මහතාට භාර දුන් බැවිනි. කෙසේ හෝ වේවා, විද්‍යාලයට දුර්භාග්‍ය කාලයක් උදාවේ යයි භයින් සිටි මෙහි කාටත් විද්‍යාලය රජයට පවරාගැනීමෙන් එහි වූ තත්වය පහල නොවැටී පවත්වාගෙන යාමට හැකිබව පෙනීයාම සොම්නසට හේතුවක් විය. උප විදුහල්පති තුමා ඇතුලු ආචාර්‍ය්‍ය මණ්ඩල යෙන් මෙතුමාට ලැබුණු අප්‍රතිහත ධෛර්‍ය්‍යය නිසා මේ වකවානුවේ විද්‍යාලයේ අධ්‍යාපන තත්වයද වඩාත් දියුණුවිය. දීප්තිමත් අනාගතයකට නෑකම් කියන වයඹ පළාතේ බෞද්ධ සිසුදරුවනට මලියදේවය දේව වරප්‍රසාදයකි. විදුහල්පතිවරු එති. සේවය කරති. යති. නමුත් මලියදේව ශාස්ත්‍ර ක්ෂෙත්‍රය සදාකාලීන නීලත්වයෙන් හෙබි මෙම රම්‍ය දිවයිනට අමරණීය සේවයක් කරමින් අද්ධ්‍යාපනාලෝකය බබල වන්නීය.

විද්‍යාලයේ බෞද්ධ කටයුතුද ඉතා උනන්දු වෙන් කෙරිනි. විශෙෂයෙන් 2500 යේ බුද්ධ ජයන්තිය සඳහා උද්යෝගයෙන් කටයුතු කිරීම එක් හේතුවක්විය. මෙම අවදියේදී ඇරඹුන වාර්ෂික පිරිත් පිංකම නොකඩවාම පැවැත්වෙයි. පේරුසිංහ මහතා මෙහි එන විට මෙහි වූ විද්‍යාලයීය සංඝාරාමයට නව මුහුණු වරක් දෙමින් එහි රමණීය ප්‍රතිමා ගෘහයක්ද කෙරිනි. එතැන් පටන් මෙතුමා ධර්මරාජයේ වැඩ භාරගැනීමට මලියදේව යෙන් අස්ව යන තෙක්ම මේ විහාර මන්දිර යෙහි වැඩ සිටින පිළිමවහන්සේ විෂයෙහි බුද්ධපූජාව අඛණ්ඩව පැවැත්වූයේය.

ඇතුගල පෙරලෙනවායයි ය මෙ ක් කීවත් ඒ ගැන කිසිම විටෙක කලබල නොවී සිය කටයුතු වල නිරතවූයේ පේරුසිංහ යෝය. උදෙන්ම අවදි වී ඔහු දවසේ වැඩ ඇරඹීම සඳහා විද්‍යාලයට යාමට පියනැගුවේ සන්සුන් සිතකිනි. මියගිය අතීතයෙහි සිදුවූ කම්කටොලු සියල්ලම අමතක කරදමා බුද්ධාලම්භන ප්‍රීතියෙන් පාසැලේ බුදුමැදුරෙහි ටික වේලාවක් භාවනාවෙහි යෙදී සිට මලියදේව විද්‍යාලයේ වැඩ ආරම්භ කිරීමට මෙතුමා කිසිම දවසක අමතක නොකළේය.

# SPORTS AT MALIYADEVA DURING MY SCHOOL DAYS

## — By A. B. BALALLA —

I consider it a great privilege to be able to make my contribution however slight to the Diomend Jubilee issue of the College Magazine. It needs no mention that Maliya deva is one of the oldest Educational Institutions in the North Western Province, and the History of the sports activities is as old as the institution itself. Yet it must be mentioned that during my college days Cricket, Volley - Ball, and Soccer were in their embryonic stage.

Mr. A. G. G. Perera in 1936 was appointed as Prefect of games and it was largely due to his efforts that we were able to select our Cricket XI, Soccer XI, and the Volley - Ball team. The teams were there but the equipment necessary for such games was not available. But when Mr. Perera ordered a part of the much needed equipment we were so grateful to him. This little gesture on his behalf proves his interest in the sphere of Sports.

I joined Maliyadeva in the same year, and when I was asked to Captain its Cricket XI, I considered it (and still consider it) a great and rare privilege. We were badly handicapped where our practices were concerned because we had no proper play-ground, despite this obstacle we had come to a standard where we could have fixtures with other schools. Limited they were it was enough to give the XI a drive to get the better of their opponents. We played with Vijaya and St. Thomases Matale and St. Andrew's Nawalapitiya.

The following year we had amongst us some young and promising Cricketers. D. L. Wijesekera now of the Postal Department who when in high spirit would lift a broom-stick to try his off-cut and leg-Glance T. M. T. Sadikeen a steady and dependable bat and chief run getter of the side, presently of the C. I. D. and P. Herat a good off-spinner and a steady left hand - bat now in the Agricultural Department, D. G. Ranasinghe, K. B. Wanninayake, the late Carl Gunaratne (opener), A. P. G. Chandragomi, R. B. Tennakoon, R B.Herat, A.B. Rekawa, D. Kulatunge and R. Katupitiya formed the rest of the team.

A prominent place was given to school Cricket and the Schools in Kurunegala were enthusiastically training their teams. However no inter - Collegiate tournament was held till 1937. In that year largely due to the unflagging interest of Mr. A.G.G.Perera such a tournament was inaugerated. Three Schools entered the Tournament.

Every thing was set for the Tournament the team was eager and this enthusiasm spread to the entire school. The matches were to be played at Peoples Park. Our 1st match was against St. Anne's. It was indeed a great day. Huts of the two institutions added a spot of colour to the teams. Having won the toss, we collected 250 runs in the 1st innings. If I remember right, the rival school had a little over 100 runs to their credit and in the 2nd innings M. K. M. Hameen the present President of the Kurunegla Sports Club did well to redeem his school to a great extent. Yet the final result was a victory for Maliyadeva. St. Anne's facing an innings defeat in the 1st inter - Collegiate Encounter, Amidst great cheering we marched through town and were treated to a hearty feed at late Dr. H. K. T. de Zylva's an eager Devan Supporter.

Our next match was with Christ-Church which we won convincingly. To my recollection the chief feature in this match was the sensational collapse of their second innings for 17 runs in II overs. The wickets were evenly shared by Wijesekera and my self. With this victory Maliyadeva became the Inter - Collegiate Champions in cricket for 1937.

Soon after an Old Royalist Mr. T. B.- Herat joined Maliyadeva. He was a keen cricketer and it was on his shoulders that the task of the Prefect of Games divolved when Mr. Perera left the Staff of Maliyadeva. He admirably kept up the standard of sports in College set up by Mr. Perera.

In the sphere of Volley-Ball too we were the averaged Champions. When in 1941 we had the good fortune of becoming champions in the Kurunegala District Volley - Ball Tournament and won the coverted Kotalawela Challange Cup. With the achievement to our credit, we were fortunate to complete in the All Ceylon Volley - Ball Tournament held in Colombo. Though we were not fortunate enough to win against the more experienced teams, we aquitted ourselves admirably even in these matches.

The co - operation and encouragement rendered to us by our old Boys, and well wishers need special mention, and among them the names of N. J. D. Thabrew, W. L. W. Jayasinghe, E. S. Balasooriya, W. L. G. Jayasinghe and T. B. Balalle stand out. Mr. U. B. Wanninayake who was Principal at that time deserves to be mentioned for the willing co - operation, advice and encouragement that he gave us.

To - day Maliyadeva can hold its own among many of the leading institutions in the Island in academic and sports activities and when we turn up for the Annual Cricket fixture to send up a cheer for the new hands our minds recall similar encounters of the bygone age.





සර් ජෝන් කොතලාවල මහතාගෙන් පසු, කළමණාකාර ධුරයට පත්වූ, සමාදන විනිශ්චයකාර තිල නොලත් මහේස්ත්‍රාත් නීතිඥ

**බී. අයි. පලීපාන මැතිතුමා.**

# අපේ බාලසූරිය මහත්තයා.

## (පාඨශාලා පරීක්ෂක ටී. බී. මීවද්දන විසිනි.)

මුලින් පැමිණියේ කිකිළිද බිත්තරයද යන්න නිරාකරණය කරගත නොහැක්කා සේ, මුලින්ම ලිවිය යුත්තේ බාලසූරිය මහතා ගැනද, නැත්නම් ඔහුගේ බයිසිකලය ගැනදැයි මට සිහි නොවේ. මලියදේවයේ අවුරුදු 28 ක්ම සේවයේ යෙදී සිටි බාලසූරිය මහතා පසුගියදා, උඩබද්දලව මහා විද්‍යාලයාධිපතිවරයා වශයෙන් පත්වී ගියේය. අවුරුදු 28 ක සේවයට උපහාර දැක්වීම සඳහා, විද්‍යාලයීය ශාලාවේ එතුමාගේ ඡායාරූපයක් විවෘත කිරීමේ උත්සවයේදී කතා කළ බාලසූරිය මහතා කීවේ "මේ ඡායාරූපයේ ලොකු අඩුවක් තියෙනවා. ඒකේ මගේ බයිසිකලය නෑ" කියාය.

බාලසූරිය මහතාගේ බයිසිකලය අමුතුම මාදිලියේ එකකැයි සමහර විට ඔබ කල්පනා කරන්නට පුළුවන. ඒ බයිසිකලයටත් ඇත්තේ අනික් බයිසිකල්වලට මෙන් රෝද දෙකකි. එහෙත් ඒ බයිසිකලයෙන්, බාලසූරිය මහතාගෙන් මෙන්ම සේවයක් විදුහලට සිදුවිය බාලසූරිය මහතා ශිෂ්‍ය නිවාසාධිපති ධුරය දරද්දී එයට අවශ්‍ය බඩු ඇද්දේ මේ බයිසිකලයෙනි. ළමයෙකු අසනීප වූ විට රෝහලට ගෙන ගියේත් මේ බයිසිකලයෙනි. විද්‍යාලයේ ඕනෑම කටයුත්තක් සඳහා මුදල් එකතු කිරීමට ගියේත් මේ බයිසිකලයෙනි, එපමණක් නොව ආදි ශිෂ්‍යයින් සිය ගණනක් බයිසිකල් යාම පුරුදු වුනේද මේ බයිසිකලයෙනි. එහෙයින් විද්‍යාලයට වැඩිපුර සේවයක් වූයේ, බයිසිකලයෙන්ද, බාලසූරිය මහතාගෙන්ද, යන්න තීරණය කිරීම තරමක් දුෂ්කර කාර්යයෙකි.

බාලසූරිය මහතා මුලින්ම ශිෂ්‍යයෙකු වශයෙන් මලියදේවයට පැමිණියේ 1922 ඔක්තෝම්බර් මාසයේදීය. පාඨශාලා හැර යාමේ විභාගයෙන් සමත්වූ බාලසූරිය මහතා, පසුව 1934 දී ජ්‍යෙෂ්ඨ පාඨශාලා සහතික පත්‍ර විභාගයෙන් සමත් විය. පළමුවෙන්ම මලියදේවයෙන් ජ්‍යෙෂ්ඨය සමත්වූ ශිෂ්‍යයා වීමේ ගෞරවය හිමිවන්නේ බාලසූරිය මහතාටය. ඉන්පසු විද්‍යාලයේ ඉගැන්වීමට පටන්ගත් බාලසූරිය මහතා, විද්‍යාලයට කළහැකි සෑම විදියෙන්ම සේවය කළේය.

නිතරම විනෝදයෙන් පසුවන, බාලසූරිය මහතා "සෙල්ලම ලෙල්ලම වෙනවා" යන කීම ඇදහුවේ නැත. ඔහු ඉගෙන ගන්නා කලද නිතරම පසුවුනේ විනෝදයෙනි. එනිසා ගුරුවරුන් ඔහු හැඳින්වූයේ Laughing Child of Maliyadeva කියාය.

ඔහු ශිෂ්‍ය නිවාසයේ, නිවාසාධිපතිකම දරමින් සිටියදීද කළේ කවටකම්ය. බාලසූරිය මහතාගේ විහිලුවලට ළමයිනුත්, ගුරුවරුත් එකසේ ලක්වූහ. එකල සිකුරාදා දිනවලට ඔහු විහිළුවක් කරන වාමය. දිනක් අපි රෑ කෑම කා බෝඩිමේ ආලින්දයට වී සිටියෙමු. තලප්පාවක් බැඳ, බෙරයක් කරේ එල්ලාගත් මිනිසෙක් අවුත් අපට වැඳ "අනේ හාමුදුරුවනේ මඩමේගම පන්සලට යන්නේ මොන පාරෙන්දැයි" විමසීය. අපි ඔහුට මඩමේ ගම පන්සලට යන පාර කීවෙමු. ඔහු ටිකක් දුර ඒ පැත්තට ගොස් පසුව වෙනත් දෙසකට හැරී දුවන්නට විය. ඔහු හොරෙකුයයි සැක කළ අපි, ඔහුට ගල්වලින් දමා ගැසීමු. එදින බෙරකාරයෙකු ලෙස වෙස් වළාගෙන පැමිණියේ බාලසූරිය මහතා බැව් අප දැනගත්තේ ඊට තුන් මසකට පමණ පසුය.

ඕහු දූනට අවුරුදු දහයකට පෙර කළ තවත් විහිළුවක් මගේ මිතුරෙක් මා සමග කීය.

එදින මලියදේව විද්‍යාරක්‍ෂක පිරිවෙනේ උත්සවයකට පෙර දවස විය. ඊළඟ දවසේ උත්සවය සඳහා නැකත්තේ ආනන්ද හිමි ඇතුළු සියල්ලෝම, එදින රාත්‍රියේ පිරිවෙන සරසමින් සිටියහ. දූනට විද්‍යාලංකාර විශ්ව විද්‍යාලයේ උප කුලපති කිරිවත්තුඩූවේ පඤ්ඤාසාර නාහිමියෝද එහි වූහ.

ආනන්ද හිමියන් ළඟට ළමයෙක් හැති දමමින් දුවගෙන ආවේය.
"මැරුනා, හාමුදුරුවනේ මැරුනා" ඔහු කීවේය.
"කවුද?" හාමුදුරුවෝ විමසූහ.
"බාලසූරිය මහත්තයා එහා හන්දියෙදී ලොරියක හැපිල මැරුනා"

"මලියදේවයේ ජීව පරානෙ ඉවරයි" කියූ ආනන්ද හිමියෝ ඒ දෙසට ලහි ලහියේ යන්නට වූහ. පඤ්ඤාසාර නාහිමි ඇතුළු පිරිසද ආනන්ද හිමි පසු පසින් ගියහ. බාලසූරිය මහතා මැරී නැතැයි සිතූ පඤ්ඤාසාර නාහිමියෝ, සිහි ඇත්නම් පෙවීම සඳහා දෙඩම් ගෙඩි කීපයක්ද ගෙන ගියහ. මෙතෙක් වේලා බෝක්කුවක් යට සැඟවී සිටි බාලසූරිය මහතාද ඒ අය පසු පස ගියේය. "ඔය කොච්චර කීවත් මැරිල නම් නැතුව ඇති" පඤ්ඤාසාර නාහිමි කීහ.

මෙය ඇසූ පසු පසින් ගිය බාලසූරිය මහතාට හිනා ගියේය.
පිටු පස හැරී බැලූ නාහිමියන්ට දක්නට ලැබුනේ බාලසූරිය මහතාය.
"මැරිච්ච මිනිහ මේ ඉන්නේ" නාහිමියෝ කීහ.

තමන් වෙච්ච රැවටිල්ල ගැන ලැජ්ජාවූ සියලුදෙනාම ආපසු පන්සල බලා ගියහ. එදා සිට පඤ්ඤාසාර නාහිමියන් බාලසූරිය මහතා හඳුන්වන්නේ "මැරිච්ච මිනිස්සු හිනස්සන බාලසූරිය යනුවෙනි.

බාලසූරිය මහතා මලියදේවයෙහි සිටි කාලේ කවටකම් පමණක් නොවේ. ඔහු ගෙන් විද්‍යාලයට සිදුවී ඇත්තේ අපිරිමිත සේවයකි.

දෙවෙනි ලෝක සංග්‍රාමය කාලයේදී ශිෂ්‍ය නිවාසය භාරව කටයුතු කළේ බාලසූරිය මහතාය. හාල් හිඟ ඒ කාලයේ වුවද, නේවාසිකයින්, එක් වේලක්වත් බඩගින්නේ නොතැබූ ඒ මහතා, එකල තිබූ තදබල නීති පවා නොතකා "හාල් හොර කමේ" ගියේය. එකල සිටි පොලිස් පරීක්‍ෂක මහතා "කුඩු කෑ විත්තියක්" බාලසූරිය මහතා දූනසිටි හෙයින්, පරීක්‍ෂක මහතා බාලසූරිය මහතාගේ කටයුතු වලට ඇඟිලි ගැසීමට බියවිය.

මලියදේවයේ ඕනෑම කටයුත්තක දී නැතිවම බැරි "කෝකටත් තෛලය" බාලසූරිය මහතා විය. විද්‍යාලයේ ගොඩනැගිලි සෑදීම සඳහා ආධාර එකතු කිරීමට ගියේ ඒ මහතාය. තෑගි බෙදා දීමේ උත්සව, වාර්ෂික ක්‍රීඩා උත්සව ආදිය සඳහාද, මුදල් එකතු කිරීමට ගියේ බාලසූරිය මහතාය. බාලසූරිය මහතා මුළු ප්‍රදේශය තුළම ජනප්‍රිය වී සිටි හෙයින් ඒ කටයුතුවලට කවුරුත් ආධාර කළහ

එපමණක් නොව ගොඩනැගිලි සෑදීමේදීද බාලසූරිය මහතා මහත්සේ උදව් විය. ඒ මහතා අත නොගැසූ ගඩොලක් අද මලියදේවයේ නැතැයි කීම අතිශයෝක්තියක් නොවේ.

මලියදේවයේ නාට්‍ය සංගමය ඇරඹීමේදී මූලිකව ක්‍රියා කළ බාලසූරිය මහතා 196? දී අස්වී යන තුරුම නාට්‍ය කටයුතු වලදී තම නොවක් සහය දුන්නේය.

75 වෙනි ජයන්තිය පවත්වන මෙම වම්යේදී මලියදේවයෙහි සිටිය යුතුම ගුරුවරයෙක්වූ බාලසූරිය මහතා උඩබද්දලව මහා විද්‍යාලයේ විදුහල්පති ලෙස පත්ව යාම විද්‍යාලයට දූරිය නොහැකි පාඩුවකි.

# විද්‍යාලයට ඉමහත් සේවයක් කළ



දිවංගත
ඩී. බී. ඉලංකෝන් මහතා.



ර්. එස්. බාලසූරිය මහතා.

# MR. D. B. ILLANGAKOON

## AN APPRECIATION

At the end of the year 1956 we saw the close of a Vital Chapter of history with the retirement of the late Mr. D. B. Illankoon who had been closely associated with Maliya deva for well over 40 years.

It is a pitry that ill health compelled him to retire a few months prior to his due time of retirement.

Mr. Illankoon joined Maliyadeva in 1915 as a student and was absorbed into the Tutorial Staff in 1921. Considering his long period in school we can safely put it on record, that he was a great authority of the recent past, to whom we could look for the pages of history of the institution. Born and bred in the vicinity of the school and having had all his interests vested in her, he had been inseporable from her till he passed away in 1959.

Thousands of his students who now reap the fruits of his teaching in the different walks of life bear testimony to his genial nature as a teacher. He was a teacher both by example and precept, and left his impress on both the pupils and teachers. He was a wit and a satirist in his own right and a master of subtle Language. His words instilled us with fear but very rarely hurt us. His usual threat "I will give you Buriyani', though amusing had its desired effect in getting the work done in double quick time. His Stern looks reminded us of the village school master but his occasional smiles proved to us the softness of his heart. All these invariably helped to mould us into wiser and better men.

During his stewardship as Head Master he spared no pains in inspiring his assistants with a spirit of sacrifice and devotion to service. He annoyed nobody. His calm and steady walk itself was indicative of the solemn responsibility of his work. The dignity of labour is stamped on his face.

He had been a teacher for well over 30 years and had been at Maliyadeva during her period of infancy. Both as a student and as a teacher his associations with the college had been close and intimate. He had nurtured the institution from almost her infancy and helped to guide its destinies under all circumstances; and to part company after so long and so close an association must have been very painful to him indeed. His departure from Maliyadeva has created avoid that can hardly be filled.

Mr. Illankoon belongs to an older generation of teachers that is fast disappearing, inspired by lofty ideals, instrued with the highest sense of duty and responsibility and ever conscions of scared trust that is placed in their hands. Such men are rare and such men remain singular by unhonoured; for perhaps their virtues are never advertised; yet they live long in the hearts of generations of grateful students whose character they have helped to mould.

Mr. Illankoon will remain fresh in the annals of Maliyadeva and hope that the yeoman service he has rendered will ever remain a shinning example to those in the profession to-day. May he attain Nilbana.

**T. B. JAYASEKERA.**

# භාෂා පෙරළිය.

## අපේ ගුරුවරයෙකු විසිනි.

මා ගුරුවරයෙකු වශයෙන් මළියදේව විද්‍යාලයට පැමිණියේ මෙයින් පසළොස් වසරකට පෙරය. එදා මා පන්ති කාමරයට පිවිසෙන විට මගේ ශිෂ්‍යයෝ නැගිට දෙඅත් එක්කොට වැඳ "ගුඩ් මෝනිං සර්"යි කීහ. සවස් වරුවේ කීවේ "ගුඩ් ඊව්නිං සර්" කියාය. මේ වකවානුවේද ප්‍රාථමික පන්ති වල අද්ධ්‍යාපන මාද්ධ්‍යය සිංහල වී තිබිණි. එහෙත් එම පන්තිවල ශිෂ්‍යයන් පවා ආචාර සමාචාර කෙළේ ඉංග්‍රීසි ක්‍රමයටය. හදිසියේ පාරේ තොටේදී හමුවුවහොත් රෑ හෝ වේවා සවස හෝ වේවා මේ කුඩා දරුවන් කීයේ "ගුඩ් මෝනිං" කියාමය. එවැනි අවසථාවලදී වේලාව ගැන සලකා "ගුඩ් ඊව්නිං හෝ ගුඩ් නයිට්" යනුවෙන් ප්‍රති ශුභ පැතීම අපේ සිරිත විය.

පැමිණීමේ ලේඛණවල ශිෂ්‍යයන්ගේ නම් ඉංග්‍රීසියෙන් ලිවීම එදා අනිවාර්ය විය. ලේඛණ ලකුණු කරන විට ශිෂ්‍යයන් පිළිතුරු දුන්නේ "ප්‍රසන්ට් සර්" යනුවෙනි. ගුරු මණ්ඩලයේ දැනගැනීම පිණිස විද්‍යාලයාධිපතිතුමා එව් සෑම දැන්වීමක්ම ලියන ලද්දේ තනිකර ඉංග්‍රීසියෙනි. භෝජන සංග්‍රහ, ශුභ පැතීමේ උත්සව, ගුරු මණ්ඩලයේ රැස්වීම් යනාදී අවසථාවල කවුරුනුත් කථාබස්කළේ ඉංග්‍රීසියෙන්මය. මෙවැනි බොහෝ අවසථා වලදී සිංහල කවි කීමට මට සිදුවිය. වර්ෂ කීපයක් ගත වීමෙන් පසු පැවැත්වුණු උත්සවයක වැඩද සිරිත් පරිදි ඉංසිග්‍රියෙන් කෙරිණි. උත්සවය අවසන "කවියක්, කවියක්" කියමින් හිතවත් කීප දෙනෙක් මා දෙස බැලූහ. සෑම දෙනාම ඉංග්‍රිසියෙන් කථා බස් කරන රැස්වීම්වලදී සිංහල කවිකීම අනවශ්‍ය වැඩකැයි මේ වනවිට මගේ කල්පනාව විය. එහෙයින් මම නිහඬව සිටියෙමි. නැවතත් "කවියක්, කවියක්" කියමින් කීප දෙනෙක් මා පෙළඹවූහ. ඉන් පසු මම මේ කවිය කීවෙමි.

මෙතරම් උසස් ඉංග්‍රිසි විදුහලක ඉඳ<br>
සිංහල කවක් කීමෙන් වැඩ තියෙන වද?<br>
කැවුම් කොකිස් අලුවා පොදියකට බැඳ<br>
ලන්ඩන් නගරයට කුමකට යවන වද?

තවත් දිනක් ආදි ශිෂ්‍ය සමිතියේ වාර්ෂික රැස්වීම පැවැත්විණි. ලේකම් මහතා විසින් වාර්තාව ඉංග්‍රිසියෙන් කියවන ලදී. මම වහාම නැගිට "ලේකම් මහතා කියවූ වාර්තාව පිළිගැනීමට මා යෝජනා කරනවා" යයි සිංහලෙන් කීවෙමි. බලාපොරොත්තු රහිත මේ සිදුවීම නිසා කවුරුත් ටික වේලාවක් ගල් ගැසී බලා සිටියහ. වෙනත් දිනක ලේකම් මහතා කියවූ වාර්තාව පිළිගත යුතු යයි කෙනෙකු ඉංග්‍රීසියෙන් කළ යෝජනාව මම සිංහලෙන් සපිර කෙළෙමි. මෙවැනි වැඩ-වලදී මට විශ්ව විද්‍යාලයීය උපාධිධාරි ගුරු මහතුන් කීප දෙනෙකුගේ පවා අනුබලය ලැබුණු බවද සඳහන් කළ යුතුව තිබේ.

විද්‍යාලයේදී භාෂාව පිළිබඳව මෙවැනි සුලු සුලු "කලකොළොප්පන්" කළත් පටනදී කළාක් මෙන් ලොකු "සටනක්" ඒ වෙනුවෙන් මෙහිදී කිරීමට මම කිසි විටෙකත් කල්පනා නොකෙළෙමි. ඇත්ත වශයෙන් කියනවා නම් විද්‍යාලයේ වැඩ ඉංග්‍රීසියෙන්ම කිරිම ඉතා අකැමැත්තෙන් වුවද මමද අනුමත කෙළෙමි. එසේ කෙළේ වෙනත් උසස් විද්‍යාලවල ඉංග්‍රීසියෙන් වැඩ කරද්දී අප විද්‍යාලයේ වැඩ පමණක් සිංහලෙන් කරන්ට යෑමෙන් ශිෂ්‍යයන්ට පාඩුවකුත් විද්‍යාලයට මදිකමකුත් වීමට ඉඩ තිබුණු නිසාය.

මේ අතරතුර 1956 යේදී තිබුණු ආණ්ඩුව පෙරළී නව ආණ්ඩුවක් ඇතිවිය.

එම ආඥාව සිංහලය රාජ්‍ය භාෂාව කෙළේය ඒ නිසා රටේ තොටේ කොතැනත් සිංහලයට වැඩි සැලකිල්ලක් දක්වන්නට විය. ඒ අනුව මලියදේවයේ බොහෝ වැඩද ටිකෙන් ටික සිංහලෙන් කෙරෙන්නට වූයේය.

එහෙත් ආදි ශිෂ්‍ය සංගමයේ සියළුම වැඩ කෙරුණේ ඉංග්‍රීසියෙන්මය. ඒ නිසා ආදි ශිෂ්‍ය සමිතියේ වැඩද සිංහලෙන් කළ යුතුය යන යෝජනාව මම මෙයින් සිව් වසරකට පෙර ඉදිරිපත් කෙළෙමි. ඒ ගැන තුන් අවුරුද්දකට පසු සලකා බැලිය යුතුය යනුවෙන් ආදි ශිෂ්‍යයකු විසින් අතුරු යෝජනාවක් ඉදිරිපත් කරන ලදී. වැඩි ඡන්දයෙන් අතුරු යෝජනාව සම්මත වූ නිසා මගේ යෝජනාව නිෂ්ප්‍රභා විය. එහෙත් තුන් අවුරුද්ද ගතවීමෙන් අනතුරුව පසුගිය වර්ෂයේදී මගේ යෝජනාව යළිත් මම ඉදිරිපත් කෙළෙමි. මේ අවස්ථාවේදී එම යෝජනාව ඒකමතිකව සභා සම්මත වූ බව ප්‍රීතියෙන් සඳහන් කළ යුතුය.

අද මා පන්ති කාමරයට පිවිසෙන විට මගේ ශිෂ්‍යයෝ පෙරමෙන් "ගුඩ් මෝනිං" නොකියා ඒවෙනුවට "ආයුබෝවන්" කියති. පැමිණීමේ ලේඛණ තවත් කීප දෙනෙකු මෙන් මාද ලියන්නේ සිංහලෙනි. ලේඛණ ලකුණු කරන විට පැමිණ සිටින ශිෂ්‍යයන් පිළිතුරු දෙන්නේ "ඉන්නවා" යනුවෙන් සිංහලෙනි.

විද්‍යාලයාධිපතිතුමා ගුරු මණ්ඩලයේ දැනගැනීම පිණිස එවන දැන්වීම් ලියන්නේද සිංහලෙනි. සිංහල නොදන්නා අයගේ ප්‍රයෝජනය සඳහා එහි ඉංග්‍රීසි අනුවාදයක් ඊට යටින් ලියනු ලැබේ. ගුරු මණ්ඩලයේ සහ ගුරු සංගමයේ රැස්වීම් වලදීත් වෙනත් උත්සව වලදීත් කවුරුනුත් කථා බස් කරන්නේද සිංහලෙනි. ගුරු භවතුන් පැමිණි වේලාව සටහන් කරන ලේඛණයෙහි උපාධිධාරීන් කීප දෙනෙකු පමණ ඔවුන්ගේ නම් ලියන්නේ සිංහලෙන්මය.



# විද්‍යාලයාධිපතිතුමාගෙන්.

—·o—

අප විද්‍යාලයට 75 අවුරුද්දක් සම්පූර්ණවීම අපේ බලවත් සන්තෝෂයට කාරණයෙකි.

දැනට වයඹ දිසාවෙහි ශ්‍රෙෂ්ඨතම විද්‍යායතනය හැටියට පිළිගැනෙන මලියදේවය මේ තත්වයට ගෙන ඒම සඳහා කාලය ධනය හා ශ්‍රමය කැපකොට මහත් සේවයක් කළ සියළුම දෙනාට අපගේ කෘතඥතාවය හිමිවිය යුතුය.

අප ලබා ඇති දියුණුව ආරක්ෂා කර ගනිමින්ම, අනාගතය ඊටත් වඩා දීප්තිමත් කරගැණීමට කටයුතු සම්පාදනය කිරීම අපගේ අධිෂ්ඨානයයි. මේ කෘත්‍යයෙහිදී ගුරු දෙගුරුන්ගේත්, ආදි ශිෂ්‍යසින්ගේත්, මහජනතාව-ගේත් සහයෝගය අපේක්ෂා කරමු.

ඩී. බී. දිසානායක.

29 – ඔක්තෝබර් – 1963.



වර්තමාන විද්‍යාලයාධිපති

**ඩී. බී. දිසානායක මහතා.**

# RECOLLECTIONS

**By - JEEVANANDA De ZYLVA.**

It gives me great pleasure as one of the few old boys of Maliyadeva, who have studied at the old school on Kandy Road, and the new one on Negombo Road, to make this small contribution to the school's 75th Anniversary Magazine.

When I first joined Maliyadeva English School in 1932 the only building it possessed was the one opposite Ethkanda Vihare on Kandy Road. This building now a row of houses, had seven class rooms from the second standard to the English School leaving Certificate. The hostel was in the building which is now occupied by the Department of Agrarian Services. The number on roll must have been about 200. The school building itself was different to what it is now. The walls were not so high and the classes were not partitioned. As a result each teacher had to shout at the top of his voice to drown the noice of the adjoining class, and very often it was similar to Babel. The school compound was small and the only outdoor activities we had were Volley - Ball, and SCouting.

Gradually the numbers on roll started increasing. By 1935 The Late Hon. G. E. Madawela had presented to the Y. M. B. A. his town residence and garden adjoining it to put up a Buddhist School. The Y.M.B.A. Collected funds and in that year made preparations for laying the foundation of our new building. The ceremony was conducted amidst a large gathering. Among them notable personalities like the Late Hon. Sir D. B. Jayatilake. The Late Hon. Sir T. B. Panabokke, The Late Mr. Rajah-Hewawitarane, The Late Madahapola Ratemahatmaya, and if I remember right the Late Madawela Kumarihamy, were some of those who laid the foundation stones for the new building. This building was named Madawela Memorial Hall after the Donor of the land. It was opened in 1936 and a small scale Fanzy Bazaar was organised to mark the opening. In that year itself the foundation stone for another building was laid by the then. Government Agent the Late Mr. M. Prasad on the day of the Silver Jubilee celebration of His Majesty the Late King George V. This building was known as the Jubilee Memorial Hall.

In 1936 we shifted to the new buildings and then for the first time we had seperate class rooms. It was at this time that we had our first lady teacher Miss Pearl Gunaratne. With the numbers increasing daily we were finding it difficult to accomodate them all. So in 1936 The Hon. Sir J. L. Kotalawala promised at a meeting that he will donate an upstair building to our college. In 1938 the work on this building too was over and it was ceremoniously opened by the then Governer of Ceylon Sir Andrew Coldecot. This was also the year we had the first ever carnival in aid of the College.

Now as our numbers started increasing our boys were hard pressed without a ground of our own for outdoor activities. Despite this disadvantage undaunted and full of hopes we selected our first crecket eleven. For lack of a play ground we had to hold our cricket practices at the Kurunegala Esplande Our fixtures were limited, the card consisted of only three matches, we were to play against two local schools and one school from Kandy. It is during this time that we played our first match with St. Anne's College. In this field of activity the names of A. B. Balalle who captained the team,

Lawrence Wijesekera the main stay of the side, Sadikeen the allrounder and Duncan Kulatunge stand out in my memory.

In athletics though we had our share of good runners like Balalle and Katupitiya brothers we were not in such an emiable position, for other schools carried away most of the prizes including the relay Prize. But the not so very athletic events like Cycle race, Sack race and the three legged race were lift to our bags. I wish to mention one incident in one of our sports meets that were held on the Kings Birthday. In the Cycle Race our David Perera was the hot favourite and it was known every where hat it was easy going for him. But as he started there were two others entered specialy to block our man and he fell. As a result when he got up with his bike the others had finished one round and they were on their second round. He had to get up straighten his handle and start off. Badly handicapped though, he was he did the full mile and beat his nearest reval at the tape.

Gradually we started other games like football but during our days we never had a ground of our own, as the present boys have. By now we had started our senior forms and a notable thing then was that we had only nine students in the senior form, and no class had more than 30 students. By 1940 and 1941 we had about three graduates on our staff and gradually the staff too had to be increased. We had about three lady teachers on the staff by then. In January 1942 when the war in the eastern front was taking a turn for the worse and Ceylon was heavily guarded and the Militia walked in to our premises and gave us fourtyeight hours quit notice. Our Principal Mr. Wanninayaka and the religious instructer Rev. Anand called us, the senior students and said that we have to quit the premises and asked us what we should do. We promised that we would help in clearing the building and by 2 p. m. we were back in the old building on Kandy Road. Some classes were in the temple premises. After we shifted to Kandy Road I stayed only for one term and I left College to join Dharmraja College, Kandy from where I joined law College as a proctor student. Many years have flown since I left Maliyadeva, and when I take a ride down memory's lane I fondly remember Maliyadeva its building, devolopment and it is with great pride and affection that I now view Maliyadeva, a fully mature and well knit Educational Institution, a united staff and a responsive student population.





1931 දී ගත් ශිෂ්‍ය නිවාසයේ ඡායාරූපයක්



1940 ගුරු මණ්ඩලය

# අමතක නොවන සිද්ධි.

හරිස්චන්ද්‍ර වීරසිංහ විසිනි.

1963 වර්ෂයට මලියදේව විද්‍යාලයට 75 වසරක් පිරෙයි. පසුගිය 75 වසර තුළ මලියදේව විද්‍යාලය ලබා ඇති දියුණුව ඉතා විශාලය. මේ ගතවූ කාලය නිකම්ම ගෙවුනා නොවේ. ඉතා වැදගත් හා රසවත් සිද්ධීන් ගෙන් මේ කාල පරිච්ඡේදය පිරී ඇත.

මෙවැනි සිදුවීම් දැනගැනීමේ බලවත් ආශාවකින් පෙළුණු මට මුලින් ම මුණ ගැසුනේ නැකැත්තේ ආනන්ද හිමියන්ය. මේ හිමියන් මලියදේව විද්‍යාලයේ උගැන්වූ කාලය තුළදී සිදුවූ වැදගත් සිදුවීමක් ගැන යමක් පවසන මෙන් මම ඉල්ලීමි.

“එකක් නොවේ කීපයක්ම තිබෙනවා. නමුත් මට මලියදේවය මතක්වන හැම වෙලාවකම සිහියට නැගෙන එක සිදුවීමක් තිබෙනවා. මම ඒක මුලින්ම කියන්නම්” යැයි උන් වහන්සේ කීහ.

“දෙවෙනි ලෝක යුධකාලයේදී ලංකාවේ තිබූ පාසැල් ගොඩනැගිලි වලින් බොහොම යක්ම යුධ හමුදාවට ගත්තා. කුරුණෑගල මලියදේවයේ ගොඩනැගිලිත් යුධ හමුදාවට ගැනීමට තීරණය කළා. පැය 48 ක් ඇතුලතදී ගොඩනැගිලි යුධ හමුදාවට බාර කරණ ලෙස නියෝගයක් ලැබුනා. මේ නිසා විද්‍යාලය වසා දමන තැනට කටයුතු යෙදුනා. සමහරෙක් විද්‍යාලය තාවකාලිකව මාසයකටත් තවත් අයෙක් සතියකටත් වසා දැමීමට යෝජනා කළා. නමුත් මා ඊට විරුද්ධ උනා. ඇත්කඳ විහාරයේ නායක හාමුදුරුවන් හමුවී ඒ විහාර භූමිය හා ධර්ම ශාලාවේත් පාසැල පවත්වාගෙන යෑමට අවසර ගත්තා. මෙසේ අපි එක දවසක්වත් පාසැල නොවසාම පවත්වා ගෙන ගියා.”

“මලියදේවය හැරෙන්නට වෙනත් පාඨශාලා කුරුණෑගල තිබුනේ නැද්ද?” මම ඇසුවෙමි.

“තිබුනා නමුත් බෞද්ධ ඉස්කෝලෙකට තිබුනේ මලියදේවය පමණයි. එදා පාඨශාලාව තාවකාලිකව වසා දැමුවා නම් අද මලියදේව යන නමත් නෑ. ඔවුන්ට ඕනෑ කලේත් ඒ ටිකයි. යුද්ධ හමුදාවට ගොඩනැගිලි දීමට සිදුවූ පාඨශාලාවලින් දැනට ඉතිරිව ඇත්තේ කොළඹ නාලන්දා විද්‍යාල යත් කුරුණෑගල මලියදේවයත් පමණයි. නාලන්දාවත් රැකුනේ පාසැල නොවසා පවත්වාගෙන යෑම නිසයි.

හමුදාවට ගොඩනැගිලි බාරදෙන විට ශිෂ්‍යයන් කී දෙනෙක් සිටියේ දැයි මම ප්‍රශ්න කලෙමි.

“හයසීයක් විතර හිටියා.”

“නැවත විද්‍යාලයීය ගොඩනැගිලි බාර ගන්නාවිට ළමයි කොපමණ සිටියාද?”

“නවසීයක් පමන”

ඒ පිළිතුරෙන් මම පුදුමයට පත්වීමි. ඒ අන්ධකාර යුගයේදීත් මලියදේවය නොනැසී පැවතීම නිසා ඒ අවස්ථාව කිසි දිනක කාගේවත් සිතින් නොමැකෙන්නක් වේයැයි මට සිතේ.

එකල සිටි ශිෂ්‍යයන් ගැන යමක් කියන ලෙස මම ඇරයුම් කළෙමි.

“පොදුවේ ඔක්කම ශිෂ්‍යයන් කීකරු අයයි ඒ වගේම දෙන අවවාදත් හොඳින් පිළි පැද්දා. එදා සිටි ළමයින් අතර එක ළමයෙක් ගැන මෙහිදී විශේෂයෙන් කිව හැකියි. ඔහු අන් කවරෙක් වත් නොව

ජයන්ත කැලේගම මහතායි. ඔහු ශිෂ්‍ය යෙකු වශයෙන් සිටියදී දිනක් විද්‍යාලයීය නේවාසිකාගාරයෙන් ගෙදර පැනගියා. විද්‍යාලයේ ගුරුවරුන් දෙදෙනෙක්ම ඔහු ආපසු කැඳවාගෙන ඒමට ගිය නමුත් එය නිෂ්ඵල වුනා. අවසානයේදී ඔහු එක්කගෙන ඒමට මමම ගියා. මා දුටු විට ඉතා කීකරුව ඔහු ආවා.''

ඒ හිමියන් පැවසූ තවත් සිද්ධියක් මෙසේය. යුධ කාලයේදී කිසිම ආහාර ද්‍රව්‍යයක් එහා මෙහා ගෙනයෑම තහනම්කර තිබුනි. මේ නිසා විද්‍යාලයීය නේවාසිකාගාරයේ ආහාර හිඟයක් ඇතිවුනි. මෙය විසඳීමට කළේ නගරවාසීන්ගෙන් ආහාර එකතුකිරීමය. මේ කටයුත්ත කළේ බොහෝ විට රාත්‍රි කාලයේදීය. ලැන්තෑරුමක් අතින් ගෙන, ස්වාමීන් වහන්සේ ගමන් කරන අතර තවත් කීපදෙනෙක් උන්වහන්සේ පසු පසින් පැමිනෙත්. භික්ෂුවක් නිසා පොලීසියෙනුත්, යුධ හමුදාවෙනුත් අවහිරයක් සිදු නොවීය. මේ සිද්ධිය මා සිහියට නැගුවේ ලෝක සාත්තු සේවිකා ව්‍යාපාරය ආරම්භ කළ ෆ්ලොරන්ස් නයිටිංගේල් ගේ ගමන් බිමන්ය.

මීලඟට මට මුණ ගැසුනේ මලියදේව විද්‍යාලයේ ආදි ශිෂ්‍යයෙකු වූද දැනට කුරුණෑගල අංගංගල මහා විද්‍යාලයේ විද්‍යාලයාධිපති පියදාස විජේසිංහ මහතාය. පාසැල් අවධිය ගැන යමක් පවසන ලෙස ඉල්ලීමි.

''මම මලියදේවයට ඇතුළු වුනේ දෙවෙනි පන්තියටයි. මම මලියදේවයට ආවේ තුන්වැනි පංතියත් සමත්වෙලා. නමුත් මාව දැම්මේ දෙවැනි පංතියටයි. ඒක ඒ දවස්වල මලියදේවයේ තිබුන සම්ප්‍රදායක් ලෙසටයි මට හැගෙන්නේ. වෙන ඉස්කෝලයකින් ආවොත්, කොයි පංතිය සමත් වෙලා ආවත්, දමන්නේ දෙවැනි පංතියටයි.''

''හොඳයි ඒ කාලයේ හිටි ළමයින්ගේ ඇඳුම් පැළඳුම් සිරිත් විරිත් ගැන විශේෂ දෙයක් කියන්නට පුළුවන්ද?''

''පුළුවන්. අද නම් ඒවාට හිනායනවා. ඉස්සර මලියදේවයට වැඩිය ආවේ රෙදි අඳින ළමයි. හොඳ කලිසන්කාර ලොකු ලොක්කන්ගේ ළමයි මලියදේවෙ පැත්තවත් බලන්නේ නැහැ. මේ නිසා මිනිස්සු මලියදේවයට නමක් තියලා තිබුනා ''රෙදි ඉස්කෝලේ කියලා.'' විද්‍යාලයාධිපති තුමා මේ ක්‍රමය වෙනස් කරන්න හුඟක් මහන්සි ගත්තා. කලිසම් අඳින ළමයෙක් ඉස්කෝලෙට අළුතෙන් ආවොත් විහිළු කරනවා ''රිකෂෝකාරයා'' කියලා. විද්‍යාලයාධිපති තුමා නිවේදනයක් නිකුත් කළා පළමුවෙන්ම කලිසම් අඳින ළමයාට ශිෂ්‍යත්වයක් දෙනවා කියලා. එහෙම කරලා තමයි මේ තත්වය වෙනස් කළේ. අද තත්වය මීට ඉදුරාම වෙනස්ය. කාලය හා සමාජය අනුවම මලියදේවයද ඉදිරියට ගොස් ඇත.

''පාසැල් අවධියේදී කළ දඟකාරකමක් එහෙම කියන්න පුළුවන්ද?''

''දඟකාරකම් නම් දැන් මතක නැහැ, නමුත් මට අමතක නොවන එක සිද්ධියක් මත් කියන්නම්. ඒක වුනේ මෙහෙමයි. අපට දෙවන පංතියට උගැන්වූ ගුරුතුමා බොහොම සැරයි. දවසක්වත් පාසැලට නාවොත් ගහනවා. මොන හේතුවක් නිසාවත් පාසැලට නාවොත් දඬුවම් කරනවා. දවසක් මම නෑයකුගේ මඟුල් ගෙදරකට ගියා. ඊට පසුදා මම පාසැලට එනවිට රස කැවිලි පාර්සලයක් අරගෙන ආවා. ඒ ගුරුතුමා දහවල් ආහාරය ගන්නා කඩේට ගොස් පාර්සලය ඒ ගුරුතුමාට බාර දෙන ලෙසට මුදලාලිට කීවා. ඊට පසු මා විදුහලට යනවිට මට ඒ ගුරුතුමා හමුවුවා. ''සර්ට, මම කෑමපාර්සලයක් ගෙනල්ලා කඩේට දුන්නා''යි කීවා. ගුරුතුමා හිස සැලුවා. පාසැල පටන් ගත්තා. ටික වේලාවකට පසු නාම ලේඛණය ලකුණු කරන්නට පටන් ගත්තා. මගේ නමත් කියවුනා. මම බයෙන් බයෙන් නැගිට්ටා. නමුත් මට වාඩිවෙන්නට කීවා. ඊට පෙරදා පාසැලට ආවේ නැති ළමයින්ට තැලුවා. නමුත් මට දඬුවම් කළේනෑ. එදා

සිට මා යමකිසි දවසක පාසැලට නොපැ-මිනිය හොත් කරන්නේ ඊළඟ දවසෙ රස කැවිලි පාර්සලයක් ගෙනවිත් තැබීමයි'' කියමින් විජේසිංහ මහතා කථාව හමාර කළේ තමා කුඩාකල කළ අහිංසක, කපටි ක්‍රියාවක් සිහිපත් කරමිනි.

විජේසිංහ මහතා, එකල ඉගැන්වූ ගුරු වරුන්ගෙන් අමතක නොවන ගුරුවරුන් කිහිප දෙනෙකු ගැන සඳහන් කරමින් ක්‍රිකට් ක්‍රීඩාව බාරව සිටි ටී. බී. හේරත් මහතා ගැන ඉතා ප්‍රශංසා මුඛයෙන් සඳහන් කලේ ය. ඒ මහතා පන්තියට පැමිණිවිට බොහෝ අවස්ථාවලදී මහා ක්‍රිකට් තරඟ (Test Matches) ගැන විස්තර කියා දුන්බවත් කීය.

මලියදේව විද්‍යාලයේ බාලදක්ෂ කටයුතු මුලින්ම ආරම්භවේ සී. පී. වීරසිංහ මහතායි. මේ මහතාත් තමාට කිසි දිනක අමතක නොවන්නේයයි විජේසිංහ මහතා කීය.

එසේ වීමට හේතුවක් තිබිය යුතුයයි සැකකළ මම ඒ ගැන විස්තර විමසීමි. එවිට විජේසිංහ මහතා මෙසේ කීය.

වීරසිංහ මහතා මලියදේවයේ නතරවී සිටියේ නේවාසිකාගාරයේය. මොහු සවස 6 ට නාන්නට ගොස් රෑ 7 ට කෑම සඳහා එයි. රෑ 7 පසුවී එන අයට බොහෝ විට රාත්‍රී කෑම වරදී. නැතිනම් මදිවෙයි.

වීරසිංහ මහතා ගැන අමනාපයෙන් සිටියෙක්ද විය. ඒ මෙහි සේවය කළ ජිනදාස නම් තැනැත්තාය. වීරසිංහ මහතා නෑමට ගියපසු ජිනදාස කරන්නේ වීරසිංහ මහතා-ගේ බර්ලෝසුව ආපසු කැරකවීමයි. මේ නිසා දින කිහිපයක්ම කෑම නැතිවිය. එසේම දින කිහිපයක්ම කෑම මදිවිය. දිනක් වීරසිංහ මහතා පුරුදු පරිදි සවස 6 ට දිය නෑමට පිටත්ව ගියේය. ජිනදාසද වටපිට බලා අවිශ්වාසකටයුතු කිසිවක් නැත්තෙන් වීරසිංහ මහතාගේ කාමරයට ඇතුලු විය. බර්ලෝසුව මේසය මත වෙනදා මෙන් තිබේ. ජිනදාස එය ගෙන වේලාව ආපසු කැරකවීය. හදිසියෙන්ම කාමරයට කඩාවැදුනු කිසිවකු වේගයෙන් ජිනදාසට පහරක් ගැසීය. පහර පිට පහර වැදෙන්නට විය. වීරසිංහ මහතා තමාට පහරදෙන බව ජිනදාසට සිතාගැනීමට ටික වේලාවක් ගතවීය. පහරදීම නතර නොවීනු දුටු අනික් ගුරුවරු වහා පැන ඒ නවතා දැමූහ.

''විදුහල්පතිතුමා ගැන යමක් කියන්න පුළුවන්ද?''

''ඒ කාලේ සිටි විදුහල්පතිතුමා ගැන කියන්න තියෙන්නේ විදුහල්පතිතුමාගේ කාර්‍යාලයත් පංති කාමරයත් දෙකම එක බවයි. ළමයෙකු අලුතෙන් ඇතුළු වුනහම ඒ ළමයා විදුහල්පතිගේ කාමරයේදීම බාර ගෙන ඒ පංතියටම ඇතුලු කරනවා. පංති-යේ උගන්වන අතරම ළමයින් බාර ගන්නවා. නාමලේඛන පරීක්ෂාකර බලනවා. එදා පංතිය පැවැත්වූ අයුරු හාස්‍ය ජනකය. පංති තිබූ තැන්වලින් නිතර වෙනස් කරනවා. අද එක තැනක. හෙට තවත් තැනක උදේ තිබූතැන නොවේ දවාලට.

තමන් හා එකට ඉගෙනීම ලැබූ ශිෂ්‍යයෙකු පිලිබඳව විජේසිංහ මහතා කීදෙයක් මෙසේය. ''සේනානායක නැමැති මේ ශිෂ්‍යයා ක්‍රීඩා වලට ඉතා දක්ෂයි. පාසැලෙන් පසු ක්‍රීඩා පිටියට ගියාම ඔහුව පැරදවීමට කිසිවකු සිටියේ නැහැ. පන්දු, පා පන්දු හා මලල ක්‍රීඩා යන සෑම අංශයකටම ඔහු එකවගේ දක්ෂයි. ක්‍රීඩා පිටියේදී ඔහුව සැලකුවේ වීරයෙකු ලෙසයි. නමුත් උදේ පාසැල පටන්ගත් වේලාවේ සිට පාසැල අවසන් වනතුරු මේ ශිෂ්‍යයා පංතියේ සිටියේ සිට ගෙනය. පංතියේ වැඩ වලින් මොහු අන්තිමයාය.

මෙහිදී මගේ සිහියට නැගුනේ ''දක්ෂ ක්‍රීඩකයා අදක්ෂ ශිෂ්‍යයෙකුය'' යන කියමනයි.

දිනක් විජේසිංහ මහතා තම පංතියේ අතිකුත් ශිෂ්‍යයන් සමග බයිසිකල් වලින් "වැම්පානට" විනෝද ගමනක් ගියේය. මේ ගමනේදී විජේසිංහ මහතා ඇතුළු පිරිසක් පසුවී ගමන් කලහ. ඉදිරියෙන් ගිය අයගෙන් කිහිපදෙනෙකු නැවත ආපසු එනු දැක එසේ ආපසු එන්නේ ඇයි දැයි ප්‍රශ්න කල විට "රත්ගල්ල" නමැති ශිෂ්‍යයා වැටුනු බව පවසන ලදී.

පසුව සියලුදෙනාම ගොස් බලනවිට රත්ගල්ල මැරී සිටිනු දක්නා ලදී. මේ සිද්ධිය තමාගේ පාසැල් ජීවිතයේදී සිදුවූ ඉතා කණගාටුදායක සිද්ධිය ලෙස සලකන බවද ඒ සිද්ධිය නිසා වර්ෂ ගණනාවක්ම විනෝද ගමන් යාම නතරවූ බවද ඔහු කීවේ ඉතා දුක්මුසු සවරයකිනි.

තවත් එවැනි දුක්මුසු සිද්ධියක් විජේ-සිංහ මහතාගෙන් මට දැනගැනීමට හැකි විය.

ලස්සමා නැමැති ශිෂ්‍යයා රෝගාතුරවී සිට මළා. ඔහු බැලීමට ගිය සිසුන් අතර සිටි පුංචිබණ්ඩාට පසුවදා පිස්සු හැදුනා. ඔහු අද වනතුරුත් ජීවත්වන අතර තවමත් පිස්-සුව ඇති බවත් මට දැනගන්ට ලැබුනා.. ඒ "පුංචිබණ්ඩා" මීට මාස කීපයකට පෙර පවත්වනලද මලියදේවියේ වාර්ෂික අන්තර් නිවාස ක්‍රීඩා උත්සවය බැලීමට ආ බවත් විජේසිංහ මහතා පැවසුවේ ඒ දුක් සවභාවය මා හිතටද රිංගවමිණි.

මීළඟට මට මුණගැසුනේ මලියදේව විද්‍යාලයේම ඉගෙන දීඝ කලක් එහි ප්‍රාථමික කොටසේ ප්‍රධානාචාර්‍යවරයා ලෙස සේවය කර දැනට කුරුණෑගල උඩබද්දලව මහා විද්‍යාලයේ විදුහල්පතිවරයාව සිටින ජ්. ඇස්. බාලසූරිය මහතාය.

ඉතා ඈත අතීතයේ පටන් විද්‍යාලය සම්බන්ධ ඉතා වැදගත් රසවත් තොරතුරු රැසක්ම මට ඒ මහතාගෙන් දැනගන්නට ලැබුනි. මලියදේවය සිහිවන සෑම විටකම සිහිවන සිද්ධියක් ලෙසට මුලින්ම මට දැන ගන්නට ලැබුණේ මෙයයි.

මලියදේව විද්‍යාලයේ ශිෂ්‍ය සංඛ්‍යාව සියයක්වූ දින මලියදේවයට නිවාඩු දින යක් විය. ඒ මහතා කියන හැටියට එදා සියයක් පිරීම නිසා දවසක් නිවාඩු දුන්නා-නම් අද සිසුන් දෙදහක් පමණ සිටින මලිය දේවය මසකට වසා තැබුවද වරදක් නොවේ.

"එකළ සිටි ගුරුවරුන් සහ ළමයින් ගැන යමක් කීමට පුළුවන්ද?"

"පුළුවන්, පොදුවේ දෙගොල්ලම ගැන සලකා බලන කොට, බොහෝවිට ළමයින් ගුරුවරුන්ට වඩා වැඩිමල්" යැයි කීවේ කටකොනකින් සිනාසෙමිනි.

ආචාර්‍ය මණ්ඩලය ගැන මා විමසූ විට ඒ මහතා කිවේ එකල මලියදේවයේ විශාල ගුරු හිඟයක් තිබූ බවත් එය නැති කිරීමට වන්නිනායක මහතා බොහෝසේ ආධාර වූ බවත්ය. අදමෙන් එකල උපාධිධාරී ගුරු වරුන් තබා ජ්‍යෙෂ්ඨය සමත් අයෙකුවත් ගුරුවරයෙකු ලෙස සොයා ගැනීම ඉතා අසීරු විය.

වන්නිනායක මහතා කළේ විද්‍යාලය ඉදිරිපිට ගොඩනැගිල්ලට වී පාරේ යන එන අයදෙස විමසුම් සහිතව බලා සිටීමය. මලිය-දේවයේ උගත් ජ්‍යෙෂ්ඨය පාස්කළ අයෙකු පාරේ ගියහොත් ඔහුට අඬගසා ඔහු කරන රැකියාව ගැන විමසා - පිළිතුර "නැත" යන්න වුවහොත් ඒ වේලාවේම ඔහුට පංතියක් භාර කරනවා. මේ අන්දමට ගුරු පත්වීම් ලත් ගුරුවරුන්ගෙන් කිහිප දෙනෙක් අදත් ගුරුමණ්ඩලයේ ඉන්නවා. දැන් ඒ අයගෙන් වැඩිදෙනෙක් උපාධි-ධාරීන්."

"දැන් එහෙම ඇත්නම් මීගමු පාරේ වැලනොකැඩී මලියදේවයේ ළමයින් යන්න එන්න පටන් ගනීවියයි" මම කීවෙමි.

"අදනම් එහෙම හිටීවි. ඉස්සර මේ හින්දම කිසිම ළමයෙක් විභාගයක් සමත් වූවාට පසු මලියදේවය ඉදිරියෙන් යන්නේ නැතැයි" කීවේ නැවත වරක් මාව සිනහ සයුරේ ගිල්වමිනි.

පී. බී. ජයසේකර මහතා මලියදේවයේ ඉගෙන දැනට එහිම ආචාර්ය මණ්ඩලයේ සේවය කරයි. මා ඒ මහතා හමුවීමට අදහස් කළේ අද දක්වාත් විදුහල සමග දැඩි සම්බන්ධකමක් තිබෙන නිසා වැදගත් තොරතුරු රැසක් දැනගැනීමට හැකිවේය යන අදහසින්ය.

වන්නිනායක මහතාගේ ගෝලයෙක්වූ නිසා වන්නිනායක මහතා ගැන මම ඔහුගෙන් ප්‍රශ්න කෙළෙමි. එදා ශිෂ්‍යයෙකු වශයෙන් වන්නිනායක මහතා කෙරෙහි ඔහුතුළ පැවති බිය අද පවා ගුරුවරයෙකු වූ පසුද ඇතැයි කීවේය.

වන්නිනායක මහතා වන්නි පළාතේම කෙනෙකි. මේ කාලය වනවිට වන්නි ප්‍රදේශවල උගත් තරුණයින් හිටියේ අතලොස්සකි. මේ නිසාමදෝ වන්නිනායක මහතා නිතරම උත්සාහ කළේ වන්නි ප්‍රදේශවලින් ආ ශිෂ්‍යයින් උගතුන් කිරීමටය. පාඩමක් උගැන්වීමේදී වන්නි පළාතක ළමයෙකු සුළු වරදක් කළවිට පවා අන් ළමයින්ට වඩා තැලීය. එසේ කළේ හොඳ චේතනාවෙන් බව කවුරුත් දනිති.

දිනක් වන්නිනායක මහතා ශිෂ්‍යයෙකුට තැලූ විට ඒ ශිෂ්‍යයා බියවී ඉදිරි ගොඩනැගිල්ලෙන් පහලට පැන දිවූ බව ජයසේකර මහතා කීවේ සිනා සෙමිනි. අද ඒ ශිෂ්‍යයා පාර්ලිමේන්තු මන්ත්‍රීවරයෙකි.

තවත් දිනක් එක් ගුරුමහතෙක් ශිෂ්‍යයෙකුට ඉතා තදින් තැලුවේය. මෙයින් ඒ ශිෂ්‍යයාගේ කම්මුල ඉදිමුනි. ඊට පසුද ඒ ශිෂ්‍යයාගේ පියා පැමිණියේ මේ සම්බන්ධව නීත්‍යානුකූලව ක්‍රියා කිරීමටය. වන්නිනායක මහතා කළේ මෙවැනි දෙයට ඉක්මන් වීම යුතුනොවේ යයිද, ගුරුවරුන් ළමයින්ට දඬුවම් කරනුයේ හොඳ ළමයින් ලෙසට හැඩ ගැසීමට යයිද කියා ඔහුගේ කෝපය සංසිඳුවා ආපසු යැවීමය. ඒ තැනැත්තා විද්‍යාලයීය දොරටුව පසුකිරීමටත් ප්‍රථම වන්නිනායක මහතා ශිෂ්‍යයාට තැලූ ගුරුවරයා කැඳවීය. ඒමහතා ඉතා ළඟදී ජ්‍යෙෂ්ඨය සම්බන්ධව ගුරුවෘත්තියට ඇතුලත්වූ කෙනෙකු වූ අතර වන්නිනායක මහතාගේම ගෝලයෙකු විය.

ඒ ගුරුවරයා ඇමතූ වන්නිනායක මහතා "ළමයින්ට නොතලා ඔවුන් හැදීම අමාරුයි, නුමුත් මෙසේ දඬුවම් නොදිය යුතුය"යි පවසනවාත් සමගම කණ හරහා පහරක් ගැසීය. මෙයින් බිය වැදුන ගුරුවරයා ඒ මහතාගේ කාර්යාලයෙන් එළියට දිව්වේය. වන්නිනායක මහතාට ඔහු ආචාර්යවරයෙකු බව වැටහෙන්ට ඇත්තේ පසුවය. තමාගේ ගෝලයෙකු වීම නිසා ඒ ගුරු මහතාට මෙසේ පහර දී ඇත. වරද දුටුතැන කා හටත් එකසේ සැලකූ බව මෙයින් පෙනේ.

මලියදේවයේ උගැන්වූ පීටර්සන් මහතා හමුවීමට මා ගියේ ඒ මහතා කල මලියදේව විද්‍යාලයේ සිදුවූ වැදගත් සිදුවීම් ගැන අසා දැනගැනීමටය.

ඒ මහතා එකල මලියදේවයේ ඉංග්‍රීසි හා ලතින් භාෂාව උගැන්වීය. ඉංග්‍රීසි සාහිත්‍ය සංගම්වල කටයුතු කෙරුණු අයුරු පිළිබඳව මා ඔහුගෙන් විමසීය.

මලියදේව ඉංග්‍රීසි සාහිත්‍ය සංගමය ගැන පවසමින් ඒ මහතා සමිතියේ වැඩ කටයුතුවලට ශිෂ්‍යයින් තුළ විශාල උනන්දුවක් තිබූ බවත් එය සංගමයේ කටයුතු සාර්ථකවීමට ආධාරවූ බවත් පැවසුවේ ඉමහත් ප්‍රීතියකිනි.

ඉංග්‍රීසි සාහිත්‍ය සංගමයේ වැඩ කටයුතුවලදී නිතර නිතර සහභාගි වූවන් අතර නිතරඑවාගේ සහභාගිවූ සිසුන් දෙදෙනෙකු වීය. ඔවුන් දෙදෙනාගෙන් කෙනෙක් දැනට නීතිඥයකු වන අතර අනෙක් තැනත්තා ලංකා විශ්ව විද්‍යාලයේ කථිකාචාර්යවරයෙකු වේ. ඒ පිළිවෙලින් නන්දිසේන මහතා හා අබේසිංහ මහතාත්ය

තම ජීවිතයේ ඉතා ප්‍රීතිමත් හා අමරණීය කාලපරිච්ඡේදයක් වූවහොත් ඒ මලියදේවයේ ඉගැන්වූ කාලය බව ඒ මහතා පැවසුවේ ඉමහත් ප්‍රීතියෙනි.

මලියදේවයේ ඉගෙන දැනට ආරගොඩ රජයේ පාඨශාලාවේ ඉගැන්වීම් කරන වී.ජී. දෙන් කරුණාරත්න මහතා මට මුනගැසුනේ මලියදේවයේ තවත් ආදි ශිෂ්‍යයෙකු හමුවීමට බලාපොරොත්තුවෙන් සිටිය දීය.

මලියදේවයේ ඉගැන්වූ ගුරුවරුන් ගෙන් තමාට අමතක නොවන කෙනෙකු ලෙසට ඒ මහතා මූලින්ම සඳහන් කලේ පීටර්සන් මහතා ගැනය. අන් ගුරුවරුන් තමාට අමතක නොවූවත් තම හිතේ ඉතා තදින් ඇඳී ඇත්තේ ඒ මහතා බව ඔහු කීවේය.

"පීටර්සන් මහතාව මුලින්ම මතක් වන්නට හේතුව කුමක් ද"සි මම ඔහුගෙන් ප්‍රශ්න කෙළෙමි.

"හැමදම උදේ අපේ පන්තියට ඉංග්‍රීසි පාඩමට ආවාම අපි වරදක් කළවිට ඒ මහතා අපට බනින්නේ "You Booby" කියාසි. පීටර්සන් මහතා අමතක වුවත් එය කිසි දිනෙක තමන්ගේ හිතෙන් ඉවත් නොවේ යයි ඒ මහතා කීවේ සිනහ සෙමිනි.

මලියදේවයේ ගුරුවරුන් අතරින් ළමයින්ගේ නම් වලින් කොටස් කියා ඇමතීම කළේ පීටර්සන් මහතා බව ඔහු කීය. "සමරසිංහ" වෙනුවට "සෑම්" යන්නද "කරුණාරත්න" වෙනුවට "කරු" යන්නද ඒ මහතා ළමයින්ට එසේ ඇමතු නම් වලට උදාහරණයෝ යි.

පීටර්සන් මහතා හා සම්බන්ධව සිදුවූ එක් රසවත් සිදුවීමක් මෙසේය. දිනක් ඒ මහතා පංතියට ඇතුල්වන විට ජී. අබේරත්න නැමැති ශිෂ්‍යයා ලනින් භාෂාවෙන් "ආයුබෝවන්" යයි කීය.

එසේ කලේ ගුරු තුමාට විහිලු කිරීමටය. පීටර්සන් මහතාට කේන්ති ගියේය. ඔහු "You Young Roman" කියා අබේරත්න අල්වා පහරක් ගැසීය. ඔහුට හැරෙන්ට කිසි දිනක පීටර්සන් මහතා ළමයින්ට තැලූ බවක් තමාට මතක නැතැයි කීවේ කරුණාවන්ත ගුරුවරයෙක් ලැබීමට ශිෂ්‍යයෙක් වාසනාවන්ත විය යුතු බවද සඳහන් කරමිනි.

සමහර අවස්ථාවලදී පීටර්සන් මහතා තම පංතියේදී ෂේක්ස්පියර්ගේ ග්‍රන්ථයන් ඉගැන්වීමේදී එහි සමහර කොටස් රඟ දක්වන්නට ඉදිරිපත්වූ බවත් එම කොටස් තවමත් තමාට මතක ඇති බවත් ඔහු කීය. පීටර්සන් මහතා හා ළමයින් අතර ඉතා කිට්ටු සම්බන්ධතාවයක් තිබූ බවත් ළමයින් ඔහුටඇමතුවේ "Peterson Papa යනුවෙන් බවත් ඔහු කීවේ කොතරම් ආදරය කලත් ළමයින් වශයෙන් නම් පටබැඳීමට පසුබට නොවන බවටත් පිළිතුරු දෙමින්ය.





ඩබ්ලිව්. ජී. ද සිල්වා මහතා.
(වැඩබැලූ ප්‍රධානාචාර්ය. 1905)



ඒ. බී. අරූර් (B. A.) මහතා.
(විදුහල්පති 1925 - 27)

# නමෝ මලියදේව



අමිත ප්‍රභා හෙළදීප ප්‍රියංකර වීරවික්‍රම් පෑ නර විරුවන්
සේවිත ධාරිත රක්ෂිත නන්දිත මේ පොළවේ එඩි මේය කියූ
සතර දිගන්තර තෙදකින් පතුරා ඥානාලෝකය කරන උදා
සිරස සදා ප්‍රණමාමි නිරන්තර ජයතු ජයතු ජයභූමි නමෝ.

උරන මධුර මධුලෝල සුසජ්ජිත සිප්පවසැති සිසු පරපුරකින්
කුලග මකුට මණි නයන රසාංජන සරසවි රැඳි පද්මා සනවන්
සකල කලාවිදු මහරු නභෝතල උදුතරුව වන් වයඹ දෙසේ
අනගි නාමතෙදවත් ගුණසාගර භක්ති සදා ජයභූමි නමෝ.

සාර නැණින් අගපත් පඬුවන් ලද කීර්ති යසස් ලෝ සතර දිසා
වූහ ඔබේ දරුවෝ ඔපකරගත් බුද්ධි සමාධික චිත්ත ප්‍රභා
දීප ජෝතිමත් සකල කලාධර සූරවීර ප්‍රභූ නි වා ස වූ
සාමදන ගුණ බ්‍රහ්මවිහාරිත යුක්ති ශක්ති ජයභූමි නමෝ.

කේළිනගා ජයභූමි කරාගිය විරිදු රුපුන් සැම එඩි බිඳදා
භේද කිසිත් නොතකා ධන කුල තිල දැක්වූ නිතර සම ආත්මතා
ශෞර වීර්‍ය ගුණ දෙශ භක්ති යුතු සත්‍ය ගරුක පරපුරක සදා
වාස භූමිවූ මලියදේව ශ්‍රී නාම නිරන්තර ජයතු නමෝ.

දේස ජාති ආගම් වෙනුවෙන් සලසා අති උත්තම සේවාවන්
ජීවරුධිරවන් සිංහල භාෂා හුරුකරමින් සාහිත්‍ය කලා
සදාචාරවත් පුරවැසියන් බි හි ක ර නු ව දැ දෙ ස් මා ම ක වූ
කරමු සදා අ භි වා ද න ශ්‍රී න ම ම ලි ය දේ ව වි ඥූ ල න මෝ.

ආර්. බී. තෙන්නකෝන්.

# MUSIC & DRAMA OF THE BYGONE YEARS.

By - H. W. GUNASEKARE,
(Secretary of the Municipal Council Kurunegala)

On the occasion of the 75th Anniver-sary of this College, let us take a look back to about the middle of this period for a reminiscent view of what our College had done in the way of Music and Drama at that time.

In that period of over 3 decades ago, Music was not considered an extra curricular subject in Schools, and did not receive the encouragement from the authorities as it now does, but there was a band of music lovers and enthusiasts among the then old boys of the School who exploited the little music they knew towards entertaining the public and finding money for the College, particularly to equip its first ever boarding that had been opened in a house on Kandy Road. The Principal of the School, at this time was one Mr. A. B. Aroor, a Bacholor of Arts from Bombay. I still remember how proud we were to refer to this degree qualification of our Principal, as we were the only educational institution at that time in this town, that enjoyed the distinction of having a Principal with this title. This Principal was himself a musician and he requisitioned the services of a few of us of whom I could remember Mr. S. D. H. Indriyapala a promising playwright and composer, Mr. D. H. Dhanapala - a keen Table player and singer and assisted by me at the Serapina, to train the students for a variety entertainment. Musical instruments were very scarce at that time and the then Manager of the School, the Late Mr. A. M. Abeygooneratne advanced part of the money to buy a Serapina as an encouragement to our work. The attachment and aptitude for music had not caught on the students at that time as it now is and the task of training was very orduous. The Principal who was once witnessing our difficulties remarked that the women in his Country - India-sang with comparative ease, much more difficult Ragas, than what we were teaching the students, for putting their babies to sleep.

When the full impact of this utterance was explained to our students, they also took to their hearts not to be out done by the Indian women, and thereafter, they made rapid strides towards progress, as a result of which, a very successful Entertain-ment was held and the money so earned was utilised for buying the most pressing articles of furniture for the boarding which enable it to move into a larger building on Circular Road South.

Thereafter, the interest grew rapidly and one Mr. Wijeyawardena, a Teacher, evinced lot of interest in the dramatic activi-ties. In fact one of our plays was staged at Kuliyapitiya too.

Mr. Wijeyawardena was always keen to play the Key role, although he had a disability in being a stammerer Once in

the role of a King, he featured in a hunting scena, where his song began with the words "දඩයම් කරම් මේ වනේ" Imagine the amusement he provided the audience, when he got stuck right at the commencement of his passage and started struggling with only a part of the word "දඩ! දඩ! දඩ!" with his face distorted by his painful efforts delivery. When he ultimately cleared the hurdle in his voice, it was lost in the din of booing and laughter this act provoked. When Mr. Wijewardane left the College, Mr. E. S. Balasuriya from the staff kept the dramatic activities going from strength to strength.

In passing I have to mention that there was considerable talent among the students of the old era and the high standard in the music and dramatic attainments of the present students of the College, is a source of pride and admiration to those of us who are able to appraise these achievements, comparatively against the background of the past.

It is only fit that on an occasion like this we should place on record the assistance given to the College for the conduct of its dramatic activities by Mr. J. N. S. Warnakulasuriya, and the late Mr. D. W. Gunasekera - who was one of the best Serapina players and Violinists - the College produced



# ක්‍රීඩා පිටියේ රසතැන්.

ඩී. ජේ. චන්ද්‍රසීල විසිනි.

ක්‍රිකට් ක්‍රීඩාව අතින් අද උසස් තැනක් උසුලන මලියදේවයේ; ක්‍රිකට් පිළිබඳව රසවත් තොරතුරු දැනගනු රිසිවූ මම ක්‍රීඩා පිටියේ සේවක මහතා වන එච්. අමාරිස් සොයා ගියෙමි. දැනට අවුරුදු දහයකට වඩා කාලයක් මලියදේවයේ ක්‍රීඩා පිටිය භාර සේවක තැන ලෙස ක්‍රියා කර ඇති අමාරිස්ගෙන්ද, විද්‍යාලයේ ක්‍රීඩා අංශයට සිදුවී ඇත්තේ ඉමහත් සේවයෙකි.

මගේ ඉල්ලීම ඉටුකිරීමට මැළි නොවූ අමාරිස් තමාට මතක රසවත් සිද්ධීන් විස්තර කිරීමට පටන් ගත්තේය.

"එක දවසක් අපේ ක්‍රිකට් කණ්ඩායමේ මහත්තුරු දෙන්නෙක් හොරෙන් පින් කිරි පින් දෙකක්ම කාලා බඩේ අමාරුවක් හැදිලා නිතර නිතර වැසිකිළියට යන්ඩ පටන් ගත්තා. ඊළඟ දවසේ නාලන්දෙ එක්කල මැච්එක. එදා රුවෙන්නත් ආවා. ඒත් බඩේ අමාරුව නැවතුනේ නැහැ. කෝපි හදල දුන්නට නවතින්නෙත් නැහැ. පස්සෙ වෙද මහත්තයෙක් ළඟට ගිහිල්ල බේත් අරන් දුන්නා. ඒත් මහත්තුරුන්ට කෝච්චියෙ යන්න වුනෙත් සරොම ඇඳගෙන. වාසනාවකට වගේ මැච් එක වෙලාවෙදි කරදරයක් වුනේ නැහැ.'

මේ ක්‍රීඩකයින් දෙදෙනාගෙන් කෙනෙකු පසු කලක කණ්ඩායම මෙහෙයවූ අතර අනෙකා – ඒ අවුරුද්දේම උප නායකයා වූ බව අමාරිස් මා සමග කීවේය.

ඊළඟට අමාරිස් විස්තර කළේ, විද්‍යාලය සමග පවත්වන ලද තරඟයකදී වූ සිද්ධියකි.

"ඒ විද්‍යාලයේ පිච්චිය ශුභක් කුඩයි. පිච්චිය අයිනෙම වෙල. අපේ මහත්තයෙක් ගහපු බෝලය වෙලට ගියා. එදා වැස්ස දවසක්. වෙලේ හොඳටම වතුර පිරිල. ඒක නිසා බෝලය ගන්නත් අමාරුයි. ඒ බෝලය වෙනුවට ඒ අය දුන්නෙ හමගිය කබල් බෝලයක්. මේකට අකැමැති වුන අපේ පැත්තෙ අය කිව්වා, ඉතින් බෝලයක් ගෙන දිලිසෙන ගතිය යනතුරු අතුල්ලා, එය ප්‍රයෝජනයට ගනිමු කියලා. ඒකට ඒ පැත්තෙ මහත්තුරුන් කැමති වුනත්, එම විද්‍යාලයේ ක්‍රීඩා අංශය භාර මහත්තය කැමැති වුනේ නැහැ. මේ ගැන දෙපැත්තෙ අයම වාද කළා. විනාඩි හතලිස් පහකට පස්සෙ තරඟය ආරම්භ කළේ වෙන බෝලයක් අරගෙන. ඒ බෝලය තුන් වරක් යවන්න වුනේ නැහැ පරණ බෝලය ආයිත් ලැබුන."

මා එයින් සෑහීමකට පත් නොවූ බැව් ඔහුට පෙනුන හෙයින්දෝ – ඔහු තවත් සිද්ධියක් මතක් කළේය.

"මහත්තයා මගේ මේ නලලේ තුවාලය සිදු වුනෙත්, ක්‍රිකට් මැච් එකකදියි." ඔහු නලලෙහි වූ තුවාලයක් පෙන්වමින් පැවසීය.

"අපි එදා යාපනේ මැච් එකකට ගියා. පළමුවෙනි, දවසෙ රෑ අපි කාමරයේ සිටිද්දී, අපේ මහත්තුරු එක් එක් කෙනාට විහිළු කළා. කීපදෙනෙකු නිදාගත්තට පස්සෙ අනෙක් අය නිදාඉන්න අයගෙ කකුල්වල පෑඩ්ස් බැන්දා. ඒ අතර මුනින් අතට හැරිල නිදියන කෙනෙකුගෙ තට්ටම උඩ බෝලයක් තිබ්බා. එක පාරට ඇහැරුනු ඒ මහත්තයා බෝලෙ අරන් ජනේලෙන් එළියට විසිකළා. නමුත් ඒක විසිවුනේ, ජනේලයෙන් එළියට නොවෙයි. මගේ ඔළුවට"යි කියමින් අමාරිස් සිනාසෙන්නට පටන් ගත්තේය.




අපේ විවාදක කණ්ඩායම




අපේ වොලිබෝල් කණ්ඩායම

විදුලයේ ක්‍රීඩා අංශය උසස් තැනකට ගෙන ඒමට මහත් ආයාසයක් ගත් ආර්. බී. දසනායක මහතා අමාරිස්ට අමතක කළ නොහැකිය.

"මැච් එකක් ඉවරවේගෙන යන කොට මම ඒ මහත්තය ළඟට යනවා. ඒ වෙන මොකටවත් නොවෙයි, ඒ මහත්තයගෙ මූන වෙනස් වෙන හැටි බලන්න. අපි මැච් එක පැරදුනොත් ඒ මහත්තයාගේ ඇස් දෙක කුකුල් කරමලයක් වගේ රතු වෙනව. දිනනකොට නම් කට කොනිත් පොඩි හිනාවක් දාල, අමාරිස් හොඳයි නේද කියල අහනව.

"දිනුවත් දසනායක මහත්තයගෙන් ක්‍රිකට් කණ්ඩායමේ අයට බේරුමක් නැහැ. දවසක් එක මැච් එකක් විකට් දහයකින් දිනලත් දසනායක මහත්තය කීවේ, මේ අයට ක්‍රිකට් ගහන්න ඉගැන්නුවට වැඩිය හොඳයි, හරක් බැලුවනම් කියල."

ඔහු තම කථාව නතර කර කල්පනා කරන්නට විය. මා සිතුවේ ඔහුගේ රසවත් සිද්ධීන්හි අවසානය එළඹ ඇත කියාය. නමුත් එය එසේ නොවීය.

"මට නම් මහත්තය මේ ඔක්කොටම වැඩිය මතක තියෙන්නේ, සෙන්ට් ඇන්ස් මැච් එකයි. මේ මැච් එකේදි හැමදාම ගෝරි. සමහරවිට මේ ගෝරි අවුස්සන්නෙ පිට අය. ටවුමෙ පොඩි මිනිස්සු ටික හැමදාම අපේ පැත්තෙ, වතාවක් බිග් මැච් එක තියන්න ඉස්සර දවසෙ රෑ අපේ හට්එකට කවුදෝ ගිනි තියල තිබුන. ටවුමෙ මිනිස්සු ඔක්කොම දුවගෙන ආවා. ඇවිදින් ගින්දර නිමල, ගිනි තියපු මිනිසුන්ට බනින්න පටන් ගත්තා. සෙන්ට් ඇන්ස් හට් එකත් කඩන්න යන්න ලෑස්ති වුනා. පස්සෙ අපි කියල යන්තම් බේර ගත්ත.

1960 දී ගහපු මැච්එක තමයි හරි මරු. මුල් දවසෙ අපි හිතුවෙ අපි පරදියි කියල. ඒත් දෙවෙනි දවසෙ අපේ සතුරුසිංහ මහත්තය යවපු බෝල වලට සෙන්ට් ඇන්ස් විකට් කුඩේ කුඩු. අපි ඒ මැච් එක විකට් හයකින් දිනුවා.

ඒක විතරක් නොවෙයි සැන්ට් ඇන්ස් එක්ක සමග ගහපු කොයි මැච් එකත් හරීම විනෝදයි. හැබැයි වැඩි හරියක් දිනුවෙ අපි තමයි."

- නිමි. -



# විද්‍යා අංශයට පණ දුන් වැලිකල

රටක් පරාධීනව අන්ත දුගී තත්වයක සිටින විට එම රට, එම තත්වයෙන් මුදා ගැනීමට ජාති හිතෛෂී වීරයින් පහළවීම සිරිතකි. පෙර, අසරණ කිසිවෙකු දුකට පත්කළ ඔහුට සරණ වීමට දෙවිවරු නොයෙක් වෙස්ගෙන පැමිණි බැව් ජාතක කතාවල සඳහන් වෙයි. එදා අසරණ තත්වයක තිබූ, මලියදේවයේ විද්‍යා අංශයට ජීවය කැවීමට, වැලිකල මහතා පැමිණී-යේ ඉහත කී න්‍යාය දෙකින් කුමකට අනුවදැයි මට කිව නොහැක.

ආනන්දයේ විද්‍යා අංශයට කරුණා-නන්ද මහතාගෙන් වූ සේවය ම, වැලිකල මහතාගෙන් මලියදේවයට සිදුවිය. පැමිණි දා පටන්ම විද්‍යා අංශය නැංවීමේ පරමාධ්‍යා-ශයෙන් කටයුතු කළ ඒ මහතා අතගැසූ සියල්ලම රන් විය. ඉගැන්වූ ශිෂ්‍යයිනට ගණදෙවි නුවණ පහළ විය. කොටින්ම විද්‍යා අංශයට කිරි උතුරන්න පටන් ගත්තේ ඔහු පැමිණි දා පටන්ය.

මලියදෙවයේ ආදි ශිෂ්‍යයෙකු වූ එතුමා විද්‍යාලයට සේවය කළේ එහි උන්නතිය සැළසීමේ බලවත් අභිප්‍රායයක් ඇතිවය. විද්‍යාලයේ කෙරුන හැම කටයුත්තකටම එතුමාගේ බලවත් සහයෝගය ලැබුනි. විද්‍යා සංගමය පණ ගැසුනේත්, චිත්‍රපටි සංගමය බැබලුනේත්, විද්‍යා පුස්තකාලය සරු වුනේත් එතුමාගේ සහයෝගය නිසා නොවේ නම් එතුමාගේ වාසනාව නිසා විය යුතුය.

එතුමා එනවිට දුප්පත්ව තිබූ විද්‍යා පුස්තකාලය සරු කිරීම සඳහා තමා සතු පොත් පවා පරිත්‍යාග කිරීමට තරම් එතුමා ත්‍යාගශීලී විය.

වැලිකල මහතා දක්ෂ පාලකයෙකු මෙන්ම දක්ෂ ගුරුවරයෙක් ද විය. ඔහුගේ දැනුමේ ගැඹුර ඔප්පු වන්නේ ඔහු හා කතාවට එළඹි අවස්ථාවලදීය. ඕනෑම විෂයයක, ඕනෑම කොටසක් ගැන, ඕනෑම තරඟයකට නොබියව ඉදිරිපත් කළහැකි වැලිකල මහතා විශ්ව කෝෂයක් මෙන් විය.

විද්‍යා අංශයේ, වැලිකල මහතාට ලිහීමට නොහැකි කිසිම ගැටළුවක් නොවීය. ආචාර්ය මණ්ඩලයේ සමහර අයත්, ශිෂ්‍ය සිතුන් ගැටළු මතුවන විට, මවක් කරා යන දරු කැලක් මෙන්, ඒවා නිරාකරණය කර ගැනීම සඳහා ඔහුකරා ගියහ. ජීවිතය ගැටළුවක් බවත්, ජීවත් වෙනවාය කියන්නේ එම ගැටළුව ලිහීම බවත් කිසිවෙකු කියා ඇති බැව් මට මතකය. එසේ නම් දැනට ජීවත්වන්නේ වැලිකල මහතා පමණක් යයි තීරණය කළ යුතුව ඇත.

විද්‍යාලයට හැත්තෑපස් වසරක් පිරීමට ඔන්න මෙන්න කියා තිබියදීම, වැලිකල මහතා ගාල්ලේ රිච්මන්ඩ් විද්‍යාලයාධිපති ධුරයට පත්වී යාමේත්, මලියදේවයට වූයේ ඉමහත් පාඩුවකි.

– නීනන්ද –





ක්‍රීඩා අංශයේ දියුණුවට වැඩ කළ
**ටී. බී. හේරත් මහතා.**



විද්‍යා අංශය දියුණු කළ
**ඩී. ජී. වැලිකල මහතා.**



විද්‍යාලයේ ආචාර්‍යවරයෙකුව සිටි
**සාගර පලන්සූරිය මහතා.**

# 75 වෙනි සාංවත්සරය.

අවුරුදු සැත්තෑ පහකට පෙර, ඉතා සුළුවෙන් ආරම්භ කරන ලද මලියදේවය, අද දිවයිනේ ප්‍රධාන විද්‍යාලයන් අතර සම තැනක් ලබා සිටී.

මලියදේවයේ අවුරුදු 75 ක කතාව, වයඹ පළාතේ බෞද්ධ පුනර්ජීවනයේ කතාවම වන්නේය. දුෂ්කර ප්‍රදේශයක පිහිටීමත්, මැලේරියාව සීඝ්‍රයෙන් පැතිරෙන ප්‍රදේශයක් වීමත් නිසා, මලියදේවයේ දියුණුව ඇති වූයේ හෙමින් හෙමිනි. මලියදේවයේ සීඝ්‍රාකාර දියුණුවක් දක්නට ලැබෙන්නේ 1930 පටන්ය. එයට පදනම දැමුවේ වත්තියේ උපන් - වත්තිනායක මහතාය.

හැත්තෑ පස්වසක් පිරෙන මේ අවසථාවේදී මැලේරියාව සීඝ්‍රයෙන් පැතිරෙද්දී පවා ඒ ගැන නොතකා විද්‍යාලයේ චිරසථිතිය සඳහා අපරිමිත සේවයක් සිදු කළ විදුහල්පතිවරුන්, ආචාර්යවරුන්, කළමනාකාරවරුන් සහ හිතවතුන් සියල්ල ආදරයෙන් හා ගෞරවයෙන් සිහිපත් කරමු.

මලියදේවයේ සැත්තෑපස් වෙනි සාංවත්සරය නිමිත්තෙන් 1963 වර්ෂයේදී උත්සව හා පිංකම් කීපයක්ම පවත්වන ලදී. 1963 වර්ෂයේ විද්‍යාලයේ තෑගි බෙදීම මාර්තු මසදී ද, ක්‍රීඩා උත්සවය ජූලි මාසයේදී ද, සංවත්සරය නිමිතිකොට මහ ඉහලින් පැවැත්විණි.

තවද විද්‍යාලයීය බෞඩ සංගමය මගින් පහන් 3000 ක පිංකමක් ජූනි මාසයේදීද. ශීල ව්‍යාපාරයක් ජූලි මාසයේදීද පවත්වන ලදී.

මේ උත්සව මාලාවේ අවසාන උත්සවය ඔක්තෝම්බර් 26, 27 යන දිනයන්හි පැවැත්විණ. 26 වෙනි දින සර්ව රාත්‍රික පිරිත් දේශනයක් පැවැත්වුන අතර, 27 වෙනි දින සංඝයා වහන්සේලා 75 නමකට සාංඝික මහා දානයක් පිරිනමන ලදී.

මේ කටයුතු වලදී සහාය දුන් ආදි ශිෂ්‍යයින්, දෙමව්පියන් හා හිතවතුන් ඇතුළු හැමට විද්‍යාලයාධිපති තුමා ඇතුළු ආචාර්ය මණ්ඩලයේ කෘතඥතාව මෙසින් පිරිනැමේ.



# මලියදේවය ගැන මගේ මතකය.

## (මුහන්දිරම් ආර්. ඩබ්ලිව්. පතිරණ විසිනි.)

1934 රේ, ඔක්තෝම්බර් 31 වෙනි දින දෙස්තර එච්. කේ. ඊ. ද සිල්වා මහතාගෙන් පහත සඳහන් ලිපිය මා වෙත ලැබුණි.

තිසරණ සරණ වේවා!

කුරුණෑගල බෞද්ධයින්ට පැමිනෙන්ට යන බලවත් විපතක් ගැන සාකච්ඡා කර ගැනීම පිණිස අද මා සමුවීමට එන්ට පිළිවන් නම් කොයි වෙලාවටද යන බව මේ සමඟ එන අය අත දන්වා එවන්ට ඕනෑ. හැකි පමණ ඉක්මනින් එන්ට පිළිවන් නම් ඉතා හොඳයි.

මීට - හිතවත්,
අත්සන/එච්. කේ. ඊ. ද සිල්වා.

දේශපාලන මතභේද නිසා එකල අප දෙදෙනා පසුවූයේ තරමක් අමනාපයෙනි· කෙසේ වුවද මම ඉක්මනින්ම එතුමා හමුවීමට ගියෙමි.

මියගිය මඩවල මන්ත්‍රීතුමා, තම අන්තිම කැමැති පත්‍රයෙන් උසස් විද්‍යාස්ථානයක් සඳහා වෙන්කළ ඉඩම, කතෝලික ආයතනයක් මගින් ගන්නට යන බවත් කෙසේ හෝ ඊට පෙර, මඩවල කුමාරිහාමිට එයින් අයිති කොටස අදම අප විසින් මිලදී ගතයුතු බවත්, සිල්වා දෙස්තර මහතා මා සමග පැවසීය.

ඒ සඳහා සාකච්ඡා කරගැනීම සඳහා රැස්වීමක් කැඳවිය යුතු බවත් සිල්වා දෙස්තර මහතා කීය.

එකලද කුරුණෑගල වෙළඳ සංගමයේ සභාපති ධූරය දැරූ මම නගරයේ කඩයක් කඩයක් ගානේ ගොස් තත්වය පහදා දී එම රැස්වීමට එන ලෙස සියලුම වෙළඳ මහතුන්ගෙන් ඉල්ලා සිටීමි. සිල්වා දෙස්තර මහතාත්, නීතිඥ කොලින් ද සොයිසා මහතාත්, අනෙකුත් අයත් රැස්වීමට කැඳවීමට බාර ගත්හ.

කෙසේ වුවද, අපි එදිනම රාත්‍රී හතට පමණ නුවර පාරේ "පර්ලි හවුස්"හිදී රැස්වීම පැවැත්වීමු. මෙහිදී අපට මුහුන පාන්නට වූ බලවත්ම දෙය මුදල් ප්‍රශ්නයයි. එකල කුරුණෑගල තරුණ බෞඩ සමිතිය පැවැතුනේ ඉතා අකර්මණ්‍ය තත්වයකය. තරුණ බෞඩ සමිතියේ නිලධාරිහු දෙපිලකට බෙදී සිටියහ. තරුණ බෞඩ සංගමයට අයිති මුදල් රුපියල් 5000 ක් බැංකුවේ තිබුණද, සංගමය නැවත සංවිධානය කරන තුරු එම මුදල ලබාගත නොහැකි විය. එදින එම රැස්වීම පැවැත්වීමේ මූලික පරමාර්ථය වූයේ තරුණ බෞඩ සංගමය නැවත පිහිටුවීමයි.

එදිනම එම ඉඩම මිලදීගැනීමට සංගමය තීරණය කළාය. බැංකුවේ තිබුන මුදල් ඒ අවස්ථාවේදී ලබාගත නොහැකි වුන හෙයින්, සිල්වා මහත්මියගේ මුදලින් එය මිලට ගැනීමටත්, එම ඉඩම සිල්වා නෝනා මහත්මියගේ නමට ලිවීමටත් තීරණය විය. එදින රාත්‍රී නවයට පමණ ඔප්පු ලිවීමේ කටයුත්තු අරඹනු ලදී.




**1936 අපේ පාපන්දු කණ්ඩායම.**
(මැද පෙළේ වමේ සිට දෙවැන්නා විද්‍යාලයාධිපති යූ. බී. වත්තිනායක මහතා, තුන්වැන්නා ක්‍රීඩා භාරකාර ඒ. ජී. ජී. පෙරේරා මහතා)



**1941 ප්‍රාදේශීය ක්‍රිකට් ශූරතාවය දිනාගත් අපේ ක්‍රිකට් කණ්ඩායම.**

ඒ ඉඩම මිලට ගැනීමෙන් පසුව, ඉතිරි කොටස ලබා ගැනීම සඳහා - දෙස්තර සිල්වා, කොලින්ද සොයිසා ඇතුළු පිරිසට මහත් සටනක් කිරීමට සිදුවිය. මෙම සටනේදී "Daily News." "දිනමිණ" වැනි ජාතික පුවත්පත් වලින්ද සහයෝගය ලැබුන බව කෘතඥතා පූර්වකව සිහිකළ යුතුය.

මලියදේවයෙන්ම - උපත ලද මලිය දේව බාලිකා විද්‍යාලය ආරම්භ වූ සැටි ඊළඟට මගේ මතකයට එයි. දැනට බාලිකා විද්‍යාලය පිහිටා ඇති ඉඩම අරනෝලිස් - අප්පුහාමි, ලසිරිස් අප්පුහාමි (සිටි මුදලාලි) සහ මා විසින් රුපියල් 45,000 කට, වෙන් - දේසියකින් මිලදී ගන්නා ලදී. අප විසින් ඒ අවස්ථාවේදී ගෙවන ලද්දේ මුළු මුදලෙන් 10% ක් පමණි.

එකල අප තිදෙනා වැව රවුමේදී හමු - වීම සිරිතක් කොට ගෙන තිබුණි. දිනක් මෙසේ හමුවන අවස්ථාවකදී, දැනට කුරුණෑගල නගරයේ බාලිකාවන්ට වෙනම බෞද්ධ විද්‍යාලයක් නැති බැවින් අපගත් ඉඩමෙහි එය පිහිටුවීම නරකදැයි සිටි මුදලාලි මහතා ඇසීය. අපිද එයට කැමති වුනෙමු.

අපි ඊළඟ දිනයේදී කඳවල වලව්වට ගොස් සර් ජෝන් කොතලාවල මහතා මුනගැසී, අප විසින් මෙසේ රු: 45,000 කට ඉඩමක් ගන්නා ලද බවත්, ඒ සඳහා තවත් 90% ක් ගෙවීමට ඇති බවත් පවසා එතුමා නමට ඉඩම ලියාගෙන මුදල් දෙන ලෙසත්, එම මුදල හය මාසයක් තුළදී මහජනයාගෙන් එකතු කර දෙන බවත් කීමු. එයට කැමැති වූ ඒ මහතා, ඊළඟ සෙනසුරාදා තරුණ බෞද්ධ සමිතියේ රැස් වීමක් කැඳවන ලෙස ඉල්ලා සිටියේය. සෙනසුරාදා පවත්වන ලද එම රැස්වීමේදීම බොහෝ දෙනෙක් මුදල් පරිත්‍යාග කළහ. රුපියල් 250 කට අඩුව කිසිම කෙනකු එදින මුදල් පරිත්‍යාග කළේ නැත. එසේම හය මාසයක් තුළදීම - රුපියල් 40,000 ක මුදලක් එකතුකර සර් ජෝන් කොතලාවල මහතාට බාර දීමට අප සමිතියට හැකිවිය. ඉන්පසු ඉඩම කුරුණෑගල තරුණ බෞද්ධ සමිතියේ නමට පවරන ලදී.

මෙසේ උපත ලද බාලිකා විද්‍යාලය 1945 දී ආරම්භ කරන ලදී. පසුව නිදහස් අධ්‍යාපන පණත නීතිගත වූ පසු බාලිකා විද්‍යාලය රජයට පැවරීමට තරුණ බෞද්ධ සංගමය තීරණය කළාය.



# මලියදේවයෙන් රකුණ බෞද්ධත්වය.

(පූජ්‍ය දික්වෙල පියනන්ද හිමි විසිනි.)

මීට අවුරුදු 75 කට පෙර සිංහල බෞද්ධ දරුවාට බෞද්ධ සිරිත් විරිත් හෝ බෞද්ධ ආගමික දැනීමට එකම මඟ වූයේ පන්සලය. ක්‍රිස්තියානි පාසැලකට යන බෞද්ධ ළමයාට මේ නිසා බුද්ධාගම ගැන දැනගන්ටවත් ලැබුණේ, පාසැල් නිවාඩු කාල තුන තුළ මව්පියන් සමග පන්සල් ගිය දිනකදී පමණකි. සිංහල බෞද්ධ දරුවාගෙන් බුද්ධාගම මෙසේ ඈත්වීම තේරුම් ගත්, කර්නල් ඕල්කට් තුමා බෞද්ධ පාසැල් ඇති කිරීම සඳහා රටේ උනන්දුවක් ඇති කෙළේය. එසේ ඇතිවූ පාසැල් වලින් එකකි, කුරුණෑගල මලියදේවය.

ආගම ඉගැන්වීම පුරාණ කාලයේ පාසැල්වල පාඨශාලා නීතියට ඇතුළත් වූවක් නොවීය. එහෙත් ක්‍රිස්තියානි ආගම ඇදහීම හා ඉගැන්වීම අධ්‍යාපන වැඩ මාලාවේ ප්‍රධාන කාර්යය විය. නීතියෙන් බල නොකරන ලද්දක් නිසාත්, විභාග වලට අවශ්‍ය විෂයයන් නොවූ නිසාත්, අධ්‍යාපන කාර්යයට අළුතෙන් පා තැබූ කොටස් නිසාත්, ක්‍රිස්තියානි නොවූ අන්‍ය ආගමිකයින් තම පාසැල්වල ආගම ඉගැන්වීමට දුන්නේ ඉතා සුළු තැනකි. ආණ්ඩුවෙන් ආධාර ලබන ක්‍රිස්තියානි නොවන පාසැල්වල ආගම ඉගැන්වීම සම්බන්ධයෙන් තිබු මන්දෝත්සාහය නිසා ඕල්කොට් තුමා ඉරිදා දහම් පාසැල් ක්‍රමයට බෞද්ධ දෙමව්පියන්ද, භික්ෂූන් වහන්සේලාද පෙළඹවූවා පමණක් නොව Buddhist Catechism, බෞද්ධ ශිශු බොධය නමින් ප්‍රශ්නෝත්තර මගින් ආගම ඉගැන්වීමට ඉංග්‍රීසියෙන් හා සිංහලයෙන් කුඩා දහම් පොත් දෙකක්ද, පළකර බෙදා දුන්නේය.

මෙසේ හෙමින් හෙමින් ඇතිවූ ආගමික ප්‍රබෝධය ලක්දිව උසස් බෞද්ධ පාඨශාලා මගින් නොකඩවා ආරක්ෂා කළා පමණක් නොව, බෞද්ධ පාසැල් ආගමික සේවයේ පුරෝගාමිත්වය ද ගෙන ක්‍රියා කරගෙන යන ලදී. 1905 පමණ කාලයේදී එනම් මීට අවුරුදු 60 කට පමණ පෙර, දැනට බොරැල්ලේ මන්ත්‍රීවරයාගේ පියාවූ ඩබ්ලියු. ඩී. ද සිල්වා මහතා මලියදේවයේ උගන්වන කාලයේ අවුරුදු පතා පොසොන් පසළොස්වකදා, මිහිඳු පෙරහැර මලියදේව විද්‍යාලයේ මූලිකත්වයෙන් නොකඩවා උත්කර්ෂවත් ලෙස පවත්වන ලද්දේ එදා බෞද්ධ උසස් පාසල්වල පැවති ඒ පුරෝගාමිත්වය නිසාය. ඒ ඈත කාලයේද මලියදේවයේ ආචාර්යවරුන් ද, ශිෂ්‍යයින්ද, දෙමව්පියන්ද කුරුණෑගල නගරයේ බෞද්ධ වෙළඳ මහතුන්ද එකතු වී කළ ශීල ව්‍යාපාරද, මල් පහන් පූජාද වන්දනා ගමන්ද, අඩුවක් නැත. භික්ෂූන් වහන්සේලා වඩමවා පවත්වන ලද රාත්‍රි පරිත්‍රාණ දේශනාද, ප්‍රසිද්ධ ධර්මදේශනාද සුළු නොවීය. සිල්වා මහතා වැනි මහලු මහතුන් එකල මලියදේවයේ බෞද්ධ ප්‍රබෝධය ගැන අදත් කතා කරන්නේ මහත් ප්‍රීතියෙනි,

බෞද්ධ උසස් පාසැල්වල දරුවන්ගේ බෞද්ධ හැඟීම් දියුණු කිරීමට නම් භික්ෂූන් වහන්සේලාගේ සේවය වඩා ආසන්න වශයෙන් ලබාගත යුතුමයයි පළමුවරට සිතූ, බෞද්ධ සිංහල අධ්‍යාපන විශාරදයා නම් කොළඹ ආනන්ද මහා විද්‍යාලයාධිපතිව සිටි ශාස්ත්‍රාචාර්ය පී. ද ඇස්. කුලරත්න මහතාය. මේ අනුව පළමුවරට කොළඹ ආනන්ද විද්‍යාලයයේ දරුවන්ට දිනපතා බුද්ධ ධර්මය ඉගැන්වීමට ඉදිරිපත් වූ භික්ෂූන් වහන්සේලා නම් අපවත් වී වදාළ පොල්වත්තේ බුද්ධදත්ත නාහිමි, මෙකල විද්‍යෝදය විශ්ව විද්‍යාලයේ න්‍යාය මහාචාර්ය, බලන්ගොඩ ආනන්ද මෛත්‍රෙය නාහිමි ආදී කිහිප නමකි. මේ සේවය ඇරඹුණේ නවසිය විසිගණන්වලදීය. බුද්ධ ධර්මය ඉගැන්වීම අතින් ආනන්දය ගත්




අපේ ශිෂ්‍ය නායකයෝ

මේ පියවර අතීත් මහා බෞද්ධ විදුහල් වලින්ද, ටික කලකින්ම අරඹන ලදී. වජිරාරාමයේ නාරද හිමි, තල්පාවිල ශීලවංශ නාහිමි, හීනටියන ධම්මාලෝක නාහිමි, දෙඹන්දූවේ කල්‍යාණවංස නාහිමි, වැන්නන් නාලන්දා විද්‍යාලයේ ආචාර්ය මණ්ඩලයට බෞද්ධ ආගමික සේවය සඳහා ඇතුල් වූයේ ඉහතකී පරිදි ආනන්දය අනුගමනය කරමිනි.

කොළඹ බෞද්ධ මහා විද්‍යාල දෙක එම විද්‍යාලවලට භික්ෂුන් ධර්මාචාර්ය වරුන් වශයෙන් ගෙන වැඩි කලක් යන්ට පෙර එනම් 1933 දී ඉබ්බාගල රජමහා විහාරයේ නැකැත්තේ ආනන්ද (දැන් නායක) හිමි, කලල්ඇල්ලේ ආනන්දසාගර (පසුව සාගර පලන්සූරිය) හිමි දෙනම කුරුණෑගල මලියදේවයටද ධර්මාචාර්ය වරුන් වශයෙන් ඇතුලත් කරගන්නා ලදහ. මෙසේ බෞද්ධ භික්ෂුන්ගෙන්ද නිත්‍ය සේවය ලැබූ ලක්දිව බෞද්ධ විද්‍යාලයයෝ බෞද්ධ කටයුතු සම්බන්ධයෙන් වඩාත් උද්‍යෝගයෙන් ක්‍රියා කළහ. මෙසේ පාසැල්වල ආගම ඉගැන්වීම ගැන මහජන මතය දිනෙන් දිනම දියුණුවීම කොතරම් වේගයකින් කෙරුණාද කිවහොත් බුද්ධාගම බෞද්ධ ශිෂ්‍යයාට ආවශ්‍යක විෂයයක් වූවා පමණක් නොව ප්‍රසිද්ධ විභාග විෂයයක්ද වූයේය.

මීට අවුරුදු 30 කට පමණ පෙරදී පවා, ජනතාවට ධර්ම දානය දීම අරඹා තිබුණි. එකල නැකැත්තේ ආනන්ද හිමියන්ගේ උපදේශකත්වයෙන් පිහිටුවා තිබුණු බෞද්ධ කපිකෝද්‍ය සමිතිය ගමක් ගමක් ගානේ ගොස් රැස්වීම් පවත්වමින් ධර්ම දේශනා, ධර්ම සාකච්ඡා පවත්වමින් නුගත් ගම්වැසියන්ගේ ධර්ම ඥානය දියුණු කිරීම සඳහා කටයුතු කළේය.

තවද, අවුරුද්දකට වරක් යාචක දානයක් දීමද මලියදේවයෙන් සිදුවිය. යාචකයින් 500 ක් පමණ දෙනා ගෙන්වා නහවා, කවා පොවා, හොඳ රෙදිපිළි අඳවා මුදලුත්දී පිටත් කිරීම, වන්නිනායක මහතා විදුහල්පති ධුරය දරන කාලයේදී සිදු-කෙරුණක් විය.

මලියදේව විද්‍යාලයේ අද දකින්නට ඇති දර්ශනීය මන්දිරය ඒ කාලයේ නැකැත්තේ ආනන්ද හිමියන්ගේ උත්සාහයෙන් මහජන ආධාරයෙන් ගොඩ නංවන ලද සංඝාරාමයකි. ලක්දිව කිසිම විදුහලක දක්-නට නැති තරම් දර්ශනීයවූද, සම්පූර්ණවූද, විහාර මන්දිරයේ ගන්ධාර කලාව අනුව නිමවූ අද්විතීය කලාමය සුන්දරත්වයක් හා සම්පූර්-ණත්වයක් ඇති බුද්ධ ප්‍රතිමා වහන්සේට මලිය දේව ආචාර්යවරුද, ශිෂ්‍යයෝද, බොහෝ දෙමව්පියෝද දිනපතා නොකඩවා පූජෝ-පහාරයෙන් වන්දනා කරති.

බෞද්ධ වීරයින් සිහිකිරීමද මලියදේවය කිසිවිටක අමතක නොකළාය. ඕල්කට්තුමා සිහිකිරීම මලියදේවය, සෑම වර්ෂයකම මහත් උත්සව ශ්‍රීයෙන් සිදු කරයි.

මලියදේවයේ පිහිටුවා ඇති බෞද්ධ සංගමයෙන්ද පළාතට මහත් සේවයක් සිදුවී ඇත. වයඹ පළාතේ පාඨශාලාවල පිහිටුවා ඇති සෑම බෞද්ධ සමිතියක්ම ඒකාබද්ධ කර වයඹ පළාතේ ඒකාබද්ධ බෞද්ධ ශිෂ්‍ය සම්මේලනය ඇරඹීමේදී පුරෝගාමීව කටයුතු කළේ අප බෞද්ධ සංගමයයි.

මලියදේව විද්‍යාලය ඇරඹීමෙත් එම විදුහල ඇරඹූ බණ කියවීම්, පිරිත් කියවීම්. වන්දනා ගමන්, බෞද්ධ උත්සව, ශීලව්‍යාපාර ධර්ම සාකච්ඡා සභා, බෞද්ධ උත්සව, බෞද්ධ ධර්මවාද, වැනි බොහෝ දේ අදත් එනම් හැත්තෑ පස් වසකට පසුත් එක හැටියටම නොනැවතී කෙරීගෙන යති. මලියදේව විද්‍යාලයේ බෞද්ධත්වය කවදත් කිසිදු බෞද්ධ විද්‍යාලයකට දෙවෙනි වූවක් නොවන බවත් මෙහිදී පවසන්නේ ඉමහත් ප්‍රසාදයෙනි.

# A TRIBUTE

By - P. WIJESINGHE
(Principal, Angangala Maha Vidyalaya).

I consider it a rare privilege to have been called upon to send a contribution to the Diamond Jubilee Souvenir of Maliyadeva College. I shall endeavour here to assess in some degree the services that this great institution has rendered in the course of several decades, and to evaluate the position she holds today in the hearts of the people particularly in this part of our country.

It is indeed a very happy occasion for all of us, old boys, parents or well-wishers to see her reaching the maturity of seventy-five years and it is nothing but right that we celebrate the occasion in some fitting manner. It is not always that due publicity is given to the achievements and attainments of a provincial school like Maliyadeva. However, Maliyadeva has now reached a position where she can hold her own. She has achieved enough to deserve much greater recognition than is given to an institution of this sort.

Maliyadeva College had her origin in the wake of the Buddhist revival precipitated by the activities of the revred Col: H. S. Olcott and his band of supporters towards the close of the Nineteenth Century. The institution had apparently the support of only the middle class, rural and urban interests in the area who, admist various obstacles supported it in her early days. It may be mentioned that at this time a good number of well-to-do families in the area belonged to various denominations of the Christian faith while the well-to do Buddhists themselves looked upon an education imparted in a Buddhist Institution as not worth hanging much weight on and sent their children to well - known institutions in Colombo and Kandy. At the time it was considered that an Education in such an institution was not only necessary to give one recognition in "high-class society" but it came to be an open door to secure posts in government service. As a matter of fact a good number of the young people in the well-to-do families in the area secured places in the Kachcheri, it is said by merely producing a letter from the head of a well-known institution in Kandy. It may also be mentioned that some who started their education at Maliyadeva or as a matter of fact at any of her sister institutions in the town saw to it that they rounded up their education in some institution elsewhere. In those days education in the main, however, was nothing but finishing somewhere close to the E. S. L. C. (8th Standard) strange enough that was enough to secure employment!

In such a background a small institution like Maliyadeva could not have forged far ahead. However the very fact that it continued to exist in some form or other speaks highly of the devotion of those few and persevering Buddhist who saw to it that the institution did not die out. This small institution which had been at first established in some small building in the heart of the town was later shifted to the buildings at Kandy Road. Here Maliyadeva languished in some form or other for a number of years. The fact remained however, that Maliyadeva had to expand by leaps and bounds and see to it, that she was in a position to instil enough confidence among the

Buddhist public in the area so that they may send their children here not only for their early education, but education up to the University Entrance level.

The need for such an institution at the time in the area need not be too much emphasized. This need could only be met by Maliyadeva as far as the Buddhists in the area were concerned. I feel that the College owes its later development to a number of factors which came her way. Firstly the appointment of young Mr. Wanninayake at the time as her Principal. No one can deny that it was Mr. Wanninayake that put the College on the map. In this respect I may also mention that Mr. Wanninayake deserves a place not much less than that reserved for those early pioneers in Buddhist Education like Baron Jayatilleke, W. A. de Silva, Billimoria, Woodward, Kularatne, Malalasekera and Mettananda. Secondly the shifting of the College to the Negombo Road premises belonging to the late Mr. G. E. Madawela M. S. C. and another great benefactor of the College. Thirdly it must be said to the credit of the Kurunegala Y. M. B. A. that this association unlike many other associations of its time gave enough hope and encouragement for the smooth development of the College. Fourthly the institution fitted into the atmosphere of the national regeneration movement. That saw its wake in the last two or three decades or so and which is seeing its culmination today. It may also be mentioned that it was this factor that even with the coming of the recent changes in the set up of the schools that prevented any serious upheaval in the even tenor of the school.

The combined face of these factors came to be felt most from about 1935 onwards when the College was shiffed to the new premises. It was here that the College began to make rapid progress and made its influence felt. Under a new atmosphere and better environment, better buildings and facilities soon reinforced by the donation of the grand building by Sir John Kotalawela, the institution began to attract the better type of children and in larger numbers. The Staff itself began to count a number of graduates the first of its kind being the irrepressible Mr. A. G. G. Perera and other qualified teachers. Classes upto the Senior School Certificate were being conducted and by 1934 the first student had got through this examination.

However, upto this time the role that Maliyadeva played was somewhat limited. Most of those who started their early education at Maliyadeva and who wanted to study little further had invaribly to go to Kandy or Colombo - in most cases Dharmaraja College at Kandy or Ananda College in Colombo. Only a few took the opportunity to study upto the Senior. The others left school to get into some small profession, business or trade. The first significant contribution of Maliyadeva came to be the fact that she was able to halt the flow of students for their further education to schools in Colombo or Kandy. Also it gave an opportunity for those who due to lack of inclina-tion or a limited purse could not go so far as Colombo or Kandy to pursue their education at this institution itself.

I may not be far wrong if I put down 1945 as the year after which this change becomes perceptible. This was a great advantage to the Buddhist public of this area who upto this time spent much money and energy on sending their children out. This came to be such a drain on the purses of some parents that only one or two children in a family of five or six could have the advantage of such an education: also instances were not rare when some of those children sent out ran through the whole of their pare

-nt's property and came back home to use their knowledge thus gained to look after cattle or do a little poultry farming. Thus the new eminance that Maliyadeva had reached was taken advantage of by the more broad-minded parents except, however, for some who even now wish their children to go up to Kandy or Colombo for their education to send their children to Maliyadeva for their full education. As a matter of fact the partents who would not have - far from relying for a higher education - even sent up the children for their preliminary education now began to think otherwise. Also instances came to be not too infrequent when some of the "child prodigies" now turned incorrigible who had been getting their education elsewhere been imported back to Maliyadeva to create a nuisance for the teachers and a bad example for the students.

It was not long after that Maliyadeva was in a position to prepare students for the University Entrance and H. S. C. Exminations and also start on its Science Section with very commendable results. In the field of sports and games, Scouting and Cadeting she achieved enough to give hope and confidence to any student to pursue his full school education there. Thus it has come to be a great relief and a consolation to the parents of the area to see that their children who attend Maliyadeva with very little cost getting an all-round education.

Maliyadeva has come to be a boon to the rural lad specially those of the Wanni area.. After all it was now 'Wanni's, school and the Wanni child felt himself quite at home at Maliyadeva. Hoards of them came at the beginning of each year, middle of the year or end of the year. Which-ever way they came, with the 'conde' in sarong and banian or trousers they found ready welcome at Maliyadeva. Mr. Wanninayake saw to it that they underwent a swift metamorphosis at the barber's and at tailor's and in no time they shone at various fields. It was literally so in many cases and you may today walk through the length and breadth of the Wanni Hatpattu; it will indeed be very few of those educated in an urban school, you would meet who could not have obtained their education at Maliyadeva College. The Wanni people are for ever grateful to this institution and its architect the one time lad from the Wanni.

The Education imparted at Maliyadeva began to bear great fruit in the course of years. She has been responsible for a new generation of young and talented men who have cast their rays through the length and breadth of the Sath-Korale. Here lies the greatest service this institution has rendered to the area. Those who joined various walks of life after having received their education at Maliyadeva College are doing extremely well. What greater achivement can a school boast of than the appointment of one of her old boys as her Principal, and to have nearly 75% of her staff from amongst her old boys. Talking of the teaching profession alone it may be said there could not be more than a handful of schools in the area in which you will not find a few of her old boys on their Staffs. There are many who have graduated and have joined various professions. Several of them have joined government service as Labour officers and Inspectors of schools. Many of them are Principals of Madya Maha and Maha Vidyalayas and few schools can boast of having produced so many of them. It is indeed with much satisfaction that I may mention that one of the leading institutions in the south, Richmond College is headed by one of our old boys.

You may walk into any office or institution in Kurunegala and may knock against a dozen of the tribe. They are not all just quill drivers; some of them are adorning the chairs of Staff officers. The D. R. O's service counts a few of our old boys. A few of them are much respected members of the bar-a very recent addition being an Advocate A few are Doctors and Veterinery Surgeons and several are Apothecaries who in their own way serve the public whether in the city or out side.

It is with feelings of much satisfaction that I mention the name of Dr. A. Wijesinghe M. B. B. S. (Ceylon) F. R. C. S. (England), the only plastic Surgeon in Ceylon who has just returned from abroad, and is now attached to the Colombo group of hospitals. He is one of the greatest products of Maliyadeva

We count a few of our old boys holding very important posts. We have Engineers, University Lecturers, Commissioners, Superintendents of Examinations and so on and so forth: It will indeed be a fitting tribute to another of our brilliant old boys to mention here the name of Dr. J. B. Kelegama who has already won much fame at home and abroad. We also count several politicians of various colours. Amongst our old boys apart from a large number of village committee, urban and municipal council members, we also count a number of members of Parliment among whom was the much lamented late Mr. A. Adikari, Deputy Chairman of Committees.

We have many others in various walks of life either in public service or outside. It is not uncommon to meet several of them in places spread so wide apart as Colombo and Anuradhapura or Galle or in institutions like Lake House or the Times of Ceylon building or the Army barracks. All of them in their own small way are engaged in national service. They have been greatly success-ful and are a credit to their alma mater. It may also be mentioned that as any other institution of its kind. We also count a few who are not sucessful but have taken to a more adventurous way of life like drivers, carters, peons and salesmen. But it is just in the nature of things and none need be alarmed. Everyone whether high or low carries with him the distinctive marks of his old school, humility, respect for law and order, long tradition and above all honesty.

In all these the impressive fact to keep in mind is that through these great hoard of people some old, some young, Maliyadeva has played her part well by the society and contributed her mite to the area in particular and the country at large. What more could an institution of this sort do?

I think it would not be out of place to mention here another fact of importance. A great need in the area some years back was a Buddhist girls' institution. This need was partly filled by the dicision of the Y. M. B. A. at the time to admit girls to Maliyadeva College some where about 1941. These girls formed the nucleus of the new Maliyadeva Girls' College which is today such a boon to the Buddhist public of the area. This indirectly is another contribution by Maliyadeva.

The old boys of Maliyadeva are in the vanguard of many political, cultural religious and social movements of the area. They have it may be said, been responsible for bringing about a great regeneration in the area. It is also indeed sheer magnanimity on the part of these great Mass of old boys together in such large numbers every year at the premises of their Alma-Mater for the Annual Dinner. It is love for their old institution

which prompts them to repair from the four corners of the country to just watch and send a cheer for "our team" on the day of the "great match".

All these will show that the services that this great institution has rendered to the people of this area are many and varied-All those who have been associated with this institution are overjoyed to see the culmination of an epoch. I shall be failing in my duty if I do not in this tribute of mine to Maliyadeva mention amongst many hundreds known and unknown, living and dead the names of the great benefactors of the institution as far as I know them and not for whose services the College would not be what it is today:- Mr. Abeygoonaratne, Mr. G. E Madawela, Mr. A.B.C. de Soyza, Mr. U. B. Wanninayake, Dr. and Mrs. H.K. T. de Zylva, Sir John Kotalawela, Mr. D.B. Illangakoon, Mr. E. A. Perusinghe and Mr. E S. Balasooriya. Let their memories ever remain fresh and sacred in our hearts.

We are indeed very happy to see youthful Mr. D. B. Dissanayake manfully going ahead with the tasks, of building up Maliya deva to the newer heights. I shall be only voicing the sentiments of thousands of old boys spread far and wide in the four corners of the country when I conclude by saying "You are the best school of all! go ahead, we are behind you".





ජයන්ති වර්ෂයේදී කුරුණෑගල දිස්ත්‍රික්කයේ අන්තර් පාඨශාලීය පාපන්දු ශූරයින්වූ අපේ ජ්‍යෙෂ්ඨ කණ්ඩායම.



අපේ කණිෂ්ඨ පාපන්දු කණ්ඩායම.

# මලියදේවයේ විදු කිරණ පැතිරෙයි.

## ඒ. පී. කේ. තිලකරත්න විසිනි.

මෙයට පන් සැත්තෑ වසරකට පමණ පෙර මුල් පියවර තැබූ මලියදේවය පිය-වරෙන් පියවර දියුණුව කරා පා නඟා සකලාංග සම්පූර්ණ විද්‍යායතනයක් බවට පත්වූයේ මෑතදී යයි කීම නිබොරුය. වයඹදිග ලංකාතලයේ කිරීටය මෙන් බැබ ලෙන මලියදේවය අවට ප්‍රදේශයන්හි බොදු සිසු කැලන් මන පොබයූ එකම උසස් ශ්‍රේණියේ විද්‍යාපීඨය වුවද පශ්චාත් ප්‍රාථමික උගැන්මෙන් පසු, උසස් අධ්‍යා-පනයේ දෙරටු කරා ලඟාවීමට පෙර අප සිසුනට වෙනත් විද්‍යාපීඨයක පිහිට සෙවීමට සිදුවී තිබිණ.

නවීන විද්‍යාලෝකයෙන් ඒකාලෝකවන ලෝකයක අඳුරෙහි නිමග්නව හුන් අපට නවීන විද්‍යා අධ්‍යාපනයේ අරුණෝදයක පෙර නිමිති උදාවන්නට වූයේ දෙවන ලෝක සංග්‍රාමයෙන්ද පසුවය.

මලිදෙව් පියුම පොබයූ දිවාකරයාණන් ලෙස ගිණිය හැකි යූ. බී. වන්නිනායක මහතාගේ විද්‍යාලයාධිපති වශයෙන් ලත් අන්තිම ජයග්‍රහණය වූයේ අප සිසුනටත් විද්‍යා අධ්‍යාපනයේ ආභාසය ලබාදෙන පරිද්-දෙන් විද්‍යාංශයක් ඇරඹුමයි. එතුමාගේ ඉමහත් උද්‍යෝගය නිසා එවකට විද්‍යාලයේ පාලනය දැරූ කුරුණෑගල තරුණ බෞද්ධ සඞ්ගමය විසින් මහත් ධනස්කන්ධයක් වැය කොට රසායනාගාරයක් ඉදිකරණ ලදී. මේ කාර්‍යයෙහිලා ගුරුපදේශ දුන්නෝ එවකට විදුදුරුකම් දැරූ වණිගසේකර මහතාණෝය.

සංවිධානාත්මක විද්‍යා අධ්‍යාපනයක ආරම්භය වර්ෂ 1949 යේදී මෙසේ ඇරඹුනද, ග්‍රාමීය විද්‍යාව, උද්භිද විද්‍යාව ආදි විද්‍යා විෂය යන් දිගු කලක සිටම විද්‍යාලයීය පාඨමාලා වට ඇතුලත්ව තිබූ බව මෙහිලා අමතක නොකළ යුත්තකි. විද්‍යාගාර ඈ උපකරණ නොමැතිවද බීජ රෝපණ මඤ්ජූසාවකුත්, පරීක්ෂණ නල දෙක තුනකුත් උපයෝගී කරගෙන අවුරුදු ගණනාවක් තිස්සේ විශිෂ්ඨ ප්‍රතිඵල ගෙනදෙමින්ද කෘතහස්ත ගුරුදේවයාන කෙනෙකු වූ ටී. බී. හේරත් මහතා උද්භිද විද්‍යාව උගැන්වූ අසුරු එම සිසුන් හදවත්තුළ නොමැකෙන ප්‍රතිබිම්බ-යන් වශයෙන් තැන්පත් වී ඇත.

මෑත භාගයේදී ඇතිවූ ක්‍රමවත් පෘථුල විද්‍යා අධ්‍යාපනයක ආරම්භයේ පුරෝගාමිත්-වය පැවරුනේ වණිගසේකර මහතාටය. මුහුණ පුරා වැඩුණ සුදු රැවුලකින් හා උපැස් යුවලකින් රැකුණු තියුණු නෙත් සහල කින්ද හෙබි ඒ මහතා ක්‍රියාවෙන් පමණක් නොව පෙණුමෙන්ද මධ්‍යකාලීන විද්‍යා විශා-රදයෙකුගේ සංකේතයක් බඳු විය.

මෙලෙසින් මුල් ගැන්වූ විද්‍යාංශය වැඩි දියුණු කොට එහි මල් එලගැන්වූවෝ විද්‍යාවේදී ඩී. ජී. වැලිකල මහතාණෝය. මනා අත්දැකීමකින් හා පලපුරුද්දකින් යුහුව වර්ෂ 1952 දී විද්‍යාංශයේ අධිපති ධූරය භාරගත් ඒ මහතා විද්‍යාංශය නව සංවිධාන යකට භාජන කිරීමෙන් නොමැකෙන සේවයක් ඉටුකළේය. ඉතා කුඩා කුටියකට සීමාවී තිබුණ විද්‍යාගාරය විවිධ අංශයන් සඳහා වෙන්වූ නවීනතම මහා විද්‍යාගාරයකට පරිවර්තනය විය. විද්‍යාංශය ගොඩ නැඟීම සඳහා ඇගේ කුළුඳුල් බිළිඳුන් කිහිප දෙනෙ-කුට ඔවුනගේ අනාගත දීප්තිය කැපකිරී-මට සිදුවීම අභාග්‍යයක් වුවද එය ඔවුනගේ ප්‍රෞඪත්වයට මිස සංවේගයට කරුණක් නම් නොවේ.

වැලිකල මහතා විද්‍යාගාර ගොඩනැඟී මෙන් හා විද්‍යාඅධ්‍යාපන දීමෙන් පමණක්

සෑහීමකට පත්නොවීය. අඞ්ග සම්පූර්ණ විද්‍යා අධ්‍යාපනයක් සිසුනට ලබාදීම සඳහා බාහිර අවශ්‍යතාද සංවිධානය කළේය. මලියදේව විද්‍යාලයීය විද්‍යා සංගමයේ ආරම්භයද එහි ප්‍රතිඵලයකි. විද්‍යාලයේ ප්‍රබලතම අධ්‍යාපනික සඞ්ගමයක් වූ මෙය මගින් ඉතා අගනා සේවයක් ඉටුවෙයි, "විද්‍යාඥයා" ('Scientist') නමින් පළකෙරෙණ විදු පුවත් පුවරුවද, චිත්‍රපට හා රේඩියෝ සමාජද මෙම සංගමයේ ප්‍රබලතාවයට දෙස් දෙයි. තවද මෙම සංගමයේ පරිශ්‍රමය නිසාම චිත්‍රපට දර්ශකයක්ද විද්‍යාලයට හිමිවිය. විද්‍යා සංගමය මගින් වාර්ෂිකව කෙරෙන අධ්‍යාපනික චාරිකාවක සංවිධානයද සම්ප්‍රදායයක් වශයෙන් පැවතෙයි. මේ සියල්ලක් සඳහා විදුහල්පතිවරුනගෙන් හා එදා මෙදා විදු ගුරු මඬුල්ලෙනුත් සිදුවූ සේවය අගය කිරීම උගහටය. මෙතක් විද්‍යාංශය පණ ගැන්වූ වැලිකල මහතා අපට ඉමහත් ගෞරවයක් ගෙන දෙමින් 1963 වර්ෂයේදී රිච්මන්ඩ් විද්‍යාලයාධිපති වශයෙන් පත්ව ගියේ ඒ මහතාගේ භාග්‍යයට වුවද අපගේ අභාග්‍යයටම්ය. නමුත් එක් සැනසීමකි. එනම් විද්‍යාංශය භාරව තවදුරටත් කටයුතු කිරීම සඳහා දීඝී පලපුරුද්දකින් අත්දැකීම් ලත් මහතෙකු පත්වීමෙන් විද්‍යාංශයේ දීප්තිය නොඅඩුව පැවතීමයි.

මලිදෙව් සිසුනටත් කිරි මවුත් නොසොයා වෛද්‍ය, ඉංජිනේරු ඈ කාර්මිකයින් වීමේ භාග්‍යය උදාකරවමිනුත්, අප විදුහල අඞ්ග සම්පූර්ණ විද්‍යා පීඨයක් වීමට තිබූ අඩු පාඩුව මගහරිමිනුත් බිහිවූ විද්‍යා අධ්‍යාපන අංශය, එතෙක් මෙතෙක් විද්‍යාලයාධිපතිවරුන් විසිනුත්, විද්‍යාගුරු මඬුල්ල විසිනුත් "අළුත ගෙනා මනමාලියක්" මෙන් සළකා ඇගේ අභිවෘද්ධිය සලසමින් ඈ දරු කැළගේ මන පොබයූ බව සඳහන් කළ යුත්තකි. මෙසේ මලියදේවයේ පැතුරුණු විදු කිරණින් බැබළුණු සිසු කැළ දැනටමත් තම රට දැසමය සමෘද්ධිමත් කිරීමෙහිලා නිරතව සිටින බව ඇසීම කාගේත් සංතුෂ්ටියට හේතුවක් වනු නොඅනුමානය.





1962 වර්ෂයේ මධ්‍ය පළාතේ පාඨශාලාන්තර මලල ක්‍රීඩා තරඟයේදී - පළමුවන තැන දිනාගත් - අපේ මලල ක්‍රීඩා කණ්ඩායම.




1962 වර්ෂයේදී සමස්ත ලංකා ප්‍රසිද්ධ පාඨශාලා මලල ක්‍රීඩා තරඟයේදී, 4x440 කඩින් කඩ දිවීමේදී පළමුවන ස්ථානය දිනාගත් - අපේ කණ්ඩායම.

# IN THE YEAR OF THE 75th ANNIVERSARY.

INDRANI HERAT

A School Magazine is not an unusual thing. Nor is a "Devan Magazine" a new feature. For Year in and Year out a large number of copies of our Magazine have been circulated near and far. But "a Diamond Jubilee" is a rare thing, whether it relates to Educational institutions or institutionalized human beings. And as such what could be more fitting to commemerate the 75th Anniversary of our school than the issue of a Jubilee souvenir.

Many would expect a full and detailed account of the school's history, its birth, growth, and devolopment. If that is expected I wish at the outset to state that I do not endeavour to give such an account to satisfy historical minds. That duty of giving the details of the school's history has been admirably acquitted at the hands of a host of men who have had and still have a very close and deep connection with Maliyadeva since its beginnings in 1888. If I were to attempt to give its history I will find myself in great trouble and of course would leave the histori-cal minds in a hystorical mess. So to those who look for history I would simply ask them to turn the leaves, here and now.

I prefer to view Maliyadeva as it is to-day. Regarding the buildings itself none could find any fault. The class rooms are spacious, there is little or no congestion and inside these rooms that have a strictly austire academic look with only Geographical and historical maps to adorn the walls. Work goes on. However the desks at which the students sit and rack their brains and break their pens are not without a history of their own. For it is on these wooden surfaces that the students got down their rhymes in moments of inspiration. As a new comer to the school last year I gazed at some of these efforts while walking between rows, sometimes in admiration and sometimes in amusement. A lover writes "Love me or get out." The speculator says "G S + ?" The Ultra-Nationalist waxes poetic and says

ඉංග්‍රීසි වලින් වැඩක් නෑ . .
අපට සිංහලමයි ඕනෑ.
ඕනෑ ඕනෑ ඕනෑ

and then brain box refuses to tick, and lazy bones carves the words -

Ice - Ice - Ice. Ice.
අපි අද අයිස් ගහමු.

deep into the wood.

and so it goes on, significant and insignificant dates find their way there but most of these things, go un-noticed. This legacy is left to generations unborn or who knows perhaps to a bit of broken glass. a rusty blade, or an unusualy coarse sandpaper.

Speaking of the Staff and my experience for the past 1½ years is that there is a great amount of unity and understanding. We have amongst us a cosmopolition, crowd Sinhalese, Tamils, Buddhists, Catholics Anglicans, and Hindus. But the great thing about us is that we work for a common purpose. The welfare of the students and the preservation of the name of Maliyadeva unprofaned - and in view of this common purpose all petty social and religious differences are forgotten and as such I could say there is a great unity amidst a diversity of interests and this, I think is Maliydevas' greatest asset, and the main reason for its success as an Educational Institution.

Regarding the students - again its a varied crowd that we house. No distinction is made. Every body is free and equal. We have our quota of bright-sparks as well as the stragglers. On the whole - generally speaking ofcourse- they are responsive and obedient. This does not mean that the average "Devan" is always a very serious minded individual burying his head in his books. Far from it there are instances when their wit sometimes rattles the best of us for a while. Its a good sign. There's hope for them.

There is a great deal of Unity among the students too. They stand to-gether as a body both in and out of school and the fact that they all hail from Maliyadeva keeps them to-gether the old school tie I supposes Discipline among the students is very good-I should say. They try as far as possible to keep to the tenets of good discipline drummed in to their heads at the Monday Morning Assembly. We have our fair share of incorrigible ones too. Every effort is made to bring them round, but if we fail they are shown the gate.

There are school societies literary religious and scientific, some of them have died a natural death, the few of them that survive have given to the students a good training in individual enterprise. Hand in-hand with these goes the sport activities of the school It needs no mention that Maliyadeva has reached a high standard in this field too. The Kurunegala sports reporter. whoever it may be sees that the local sports are well. advertised and the achievements of Maliyadeva locally and otherwise find a way to the sports page of the Ceylon Daily News. Greater details on these aspects will be found in other pages.

Finally I like to say that each year a batch of students go out of Maliyadeva. Some to the Universities and some to other fields of activity. But wherever they are they have a stamp that is peculiar to us alone. The institution is old no doubt, but it does get a new look once in a way with a few strokes of a brush dipped in a bucket of snowcem. Some of the old hands remain for the continuation of traditions and customs and new ones come in to infuse fresh blood, and there is a perfect blending of the two streams, directed by a wirery Gentleman at the helm of affairs. Maliyadeva can now hold its own in any sphere and there can be no doubt, that it could'nt have achieved this much had the foundations been weak. As to the foundations themselves I refer you to other articles, and now I like to wish our school a very long innings indeed.





ජයන්ති වර්ෂයේ තෑගි බෙදාදීමේ උත්සවයේදී.



ජයන්ති වර්ෂයේ තෑගි බෙදාදීමේ උත්සවයේදී

ප්‍රධාන අමුත්තාට ගුරු මණ්ඩලය හඳුන්වාදීම.



ජයන්ති වර්ෂයේ මලල ක්‍රීඩා තරඟ උත්සවයේදී.



ජයන්ති වර්ෂයේ
ආදිශිෂ්‍ය සංගමයේ රාත්‍රී භෝජන සංග්‍රහය.

# මලියදේව විද්‍යාලයීය ආදි ශිෂ්‍ය සංගමය.



දැනට හතලිස් වසරකට පමණ පෙර ආරම්භ කරන ලද ආදි ශිෂ්‍ය සංගමය 1930 දී යූ. බී. වන්නිනායක මහතා විද්‍යාලයාධිපති තනතුර භාර ගන්නාතෙක් නමට පමණක් සීමා වූවාක් මිස ක්‍රියාවෙන් එතරම් වැදගත් තැනක් ගත්බවක් සඳහන් කල නොහැකිය. වන්නිනායක මහතා විද්‍යාලයේ පාලනය භාර ගන්නාවිට මුළු ශිෂ්‍ය සංඛ්‍යාව 90 ක් පමණවූ බැවින් එතෙක් පිටවී සිටි ආදි ශිෂ්‍යයින්ගේ ගණන එතරම් විශාලයයි පිළිගත නොහැකිය. එහෙත් වන්නිනායක මහතාගේ මාර්ගෝපදේශකත්වය හා පුරෝගාමිත්වය අනුව සංගමය විද්‍යාලීය කටයුතු පිළිබඳ විටින් විට ආදිශිෂ්‍යයින්ගේ සහයෝගය හා ආධාරය ලබා ගත්තේය. මේ අවදියෙහි සංගමයේ ගරු ලේකම් වශයෙන් බොහෝ කාලයක් ක්‍රියා කළේ දැනට කුරුණෑගල නගර සභා ලේකම් එච්. ඩබ්: ගුණසේකර මහතාය. එසේම සංගමයේ ළදරු අවදියෙහි එයට පණ ගැන්වූවන් අතර ඊ. එස්. බාලසූරිය එන්. ජේ. ද තාබ්‍රෑ, ඩී. බී. ඉලංකෝන්, ජෝර්ජ් ජයසිංහ, ඒ. ජී. පියදාස, ඩබ්ලිව්. එල්. විල්සන් ජයසිංහ විවියන් සොයිසා, එච්. එම්. රණසිංහ, ටී. බී. හේරත්, ඩබ්ලිව්. ඒ. ඊ. ඩයස් වැනි මහතුන් ගැන විශෙෂයෙන් සඳහන් කල යුතුය.

ඩී. බී. තෙවරප්පෙරුම මහතා විද්‍යාලයාධිපතිව සිටි අවුරුදු කිහිපය තුළදී ආදි ශිෂ්‍යයෝ වඩ වඩාත් විද්‍යාලයීය කටයුතු කෙරෙහි ලැදියාවක් දැක්වූහ.

ආදිශිෂ්‍ය සංගමයකින් බලාපොරොත්තු වියහැකි සේවාවන් නිසිආකාර ඉටුවූයේ 1955 දී කපිතාන් ඊ. ඒ. පේරුසිංහ (දැන් මේජර්) මහතා විද්‍යාලයාධිපති ධුරයේ වැඩ භාරගත් පසුවය. මේ වන විට අපේ ආදි ශිෂ්‍යයින් විශාල පිරිසක් දිවයින පුරා සිටි නිසාත් පේරුසිංහ මහතාගේ විචක්ෂණ බුද්ධිය නිසාත් සංගමය අද තිබෙන කාර්‍යශීලී තත්වයට නගාලීමට හැකිවිය. විද්‍යාලයේ වෙනත් අංශ මෙන්ම ආදිශිෂ්‍ය සංගමයද ක්‍රමවත් ලෙස සකස්වූයේ මේ අවදියේදීය. බොහෝදුරට සම්පූර්ණවූ ආදි ශිෂ්‍ය නාම ලේඛනයක් සකස්විය. විද්‍යාලයේ වාර්ෂික ක්‍රීඩා උත්සවය ආදි ශිෂ්‍ය සංගමය මගින් පවත්වන්ට විය. ආදි ශිෂ්‍යයින්ගේ රාත්‍රී භෝජන සංග්‍රහය හා එක් රැස්වීමේ උළෙල වාර්ෂික අංගයක් බවට පත්විය.

හැත්තෑ පස්වැනි වර්ෂයට පිවිසෙත්ම සංගමයේ වැදගත් පරිවර්තනයක් විය. මෙයට සිව්වසරකට පෙර ගෙනෙන ලද යෝජනාවකට අනුව ගිය වර්ෂයේ පටන් සංගමයේ කටයුතු සියල්ලක්ම සිංහල භාෂාවෙන්ම කෙරේ. ඒ අනුව ප්‍රථම වරට අපේ පසුගිය වාර්ෂික භොජන සංග්‍රහයේදී එක් කථාවක් හැර අනික් කථා සියල්ලක්ම සිංහලෙන් පැවැත්වීම මෑතදීවූ වැදගත්ම පරිවර්තනය විය.

සංගමයේ ව්‍යවස්ථා මාලාව වරින්වර සංශොධනය කරන ලදී. දැනට අප සතුව තිබෙන ව්‍යවස්ථා මාලාව 1960 ජූලි මස 31 වැනි දින පවත්වනලද සංවත්සර මහා සභාවේදී අනුමත කරගන්නා ලද්දකි.

සංගමයේ ක්‍රීඩා සමාජය කුරුණෑගල දිස්ත්‍රික්කයේ අන්තර් ක්‍රීඩා සමාජයීය තරඟ බොහෝ ගණනකට වර්ෂයක් පාසාම සහභාගි විය. එම තරඟයන්හිදී ක්‍රිකට්, පාපන්දු, අත්පන්දු ආදී සෑම ක්‍රීඩාවකින්ම අපේ ආදි ශිෂ්‍යයෝ තම දක්ෂකම් ප්‍රදර්ශණය කළහ.

ගුරු මණ්ඩලයේ හා විද්‍යාලයීය ශිෂ්‍යයින්ගේද ආධාර ඇතිව ප්‍රසිද්ධ නාට්‍ය ගෙන්වා ගොඩනැගිලි අරමුදල තරකිරීම සඳහා සංගමය කටයුතු කර ඇත. මෑතදී ගෙන්වන ලද ආචාර්‍ය සරච්චන්ද්‍ර මහතාගේ රත්රන්

කඳුවලළු නාට්‍යයෙන් පමණක් රු: 3753.70 -ක පිරිසිදු ලාභයක් ලැබිණ. මේ අනුව සලකන විට විද්‍යාලයේ වර්තමාන තත්වය ඇතිකරලීම සඳහා බොහෝ දුරට ආදි ශිෂ්‍ය සින්ද ආධාර වී ඇතිබව නොපැකිලවම සඳහන් කළ යුතුය. ආදි ශිෂ්‍යයකු වන නව විද්‍යාලයාධිපති ඩී. බී. දිසානායක මහතා එම ධූරයට පත්වී සිටීමම විද්‍යාලයට උසස් සේවයක් ආදි ශිෂ්‍යසින්ගෙන් සිදුවන බවට දෙස් දෙන්නකි.

1963 ජූලි මස 28 වැනි දින පවත්වන ලද වාර්ෂික මහා සභා රැස්වීමේදී ශාඛා සංගමයක් අගනුවර පිහිටුවීමට තීරණය කර ගන්නා ලදී. ඒ පිළිබඳව සංවිධානාත්මක කටයුතු කිරීම සඳහා නීතිඥ ජේ. ලංකා-තිලක මහතා පත්කර ගැණිනි. ලඟදීම ලැබූ වාර්තා අනුව ඒ ගැන දැනටමත් මූලික කටයුතු අවසන්කර ඇති බව සඳහන් කරන්නේ ඉමහත් ප්‍රීතියෙනි.

අද නොයෙක් තරාතිරමකටම අයත් අපේ සාමාජිකයෝ ලක්දිව පුරා පැතිර සිටිති. පාර්ලිමේන්තු මන්ත්‍රීවරු පරිපාලන නිලධාරිහු, වෛද්‍යවරු, ඉංජිනේරුවරු, නීතිඥවරු, විශ්වවිද්‍යාල හා අභ්‍යාස විද්‍යාල කථිකාචාර්යවරු, ගුරුවරු ලිපිකරුවෝ, වෙළඳ මහත්වරු හා වෙනත් නොයෙක් තනතුරු දරන අය සිටිති. මේ හැමටම අපේ නොවක් ආශීර්වාදය හිමිවන අතර මෙවැනි අය සියදහස් ගණනින් අපේ විද්‍යාලයට අනාගතයේදී බිහිකරන්ට හැකිවේවායි අපි අවංකව ප්‍රාර්ථනා කරමු.

එන්. බී. එන්. බලල්ල
පී. බී. ජයසේකර
ගරු සම ලේකම්වරු.



